# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා  ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති  අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ  අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ  අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

**ආනන්ද සමරකෝන්**



"අලුත් වෙමින්, වෙනස් වෙමින්, නිවැරදි දැනුමෙන්
රටට වගෙ ම මුළු ලොවට ම වෙන්න නැණ පහන්"

## ගරු අධ්‍යාපන අමාත්‍යතුමාගේ පණිවුඩය

ගෙවී ගිය දශක දෙකකට ආසන්න කාලය ලෝක ඉතිහාසය තුළ සුවිශේෂී වූ තාක්ෂණික වෙනස්කම් රැසක් සිදුවූ කාලයකි. තොරතුරු තාක්ෂණය, සන්නිවේදනය ප්‍රමුඛ කරගත් සෙසු ක්ෂේත්‍රවල ශීඝ්‍ර දියුණුවත් සමඟ වත්මන් සිසු දරු දැරියන් හමුවේ නව අභියෝග රැසක් නිර්මාණය වී තිබේ. අද සමාජයේ පවතින රැකියාවල ස්වභාවය නුදුරු අනාගතයේ දී සුවිශේෂී වෙනස්කම් රැසකට ලක් වනු ඇත. එවන් වටපිටාවක් තුළ නව තාක්ෂණික දැනුම සහ බුද්ධිය කේන්ද්‍ර කරගත් සමාජයක වෙනස් ආකාරයේ රැකියා අවස්ථා ද ලක්ෂ ගණනින් නිර්මාණය වනු ඇත. ඒ අනාගත අභියෝග ජයගැනීම වෙනුවෙන්, ඔබ සවිබල ගැන්වීම අධ්‍යාපන අමාත්‍යවරයා ලෙස මගේත්, අප රජයේත් ප්‍රමුඛ අරමුණයි.

නිදහස් අධ්‍යාපනයේ මාහැඟි ප්‍රතිලාභයක් ලෙස නොමිලේ ඔබ අතට පත් වන මෙම පොත මනාව පරිශීලනය කිරීමත්, ඉන් අවශ්‍ය දැනුම උකහා ගැනීමත් ඔබේ ඒකායන අරමුණ විය යුතු ය. එමෙන් ම ඔබේ මවුපියන් ඇතුළු වැඩිහිටියන්ගේ ශ්‍රමයේ සහ කැපකිරීමේ ප්‍රතිඵලයක් ලෙස රජය විසින් නොමිලේ පාසල් පෙළපොත් ඔබ අතට පත් කරනු ලබන බව ද ඔබ වටහා ගත යුතු ය.

ලෝකය වේගයෙන් වෙනස් වන වටපිටාවක, නව ප්‍රවණතාවලට ගැළපෙන අයුරින් නව විෂය මාලා සකස් කිරීමටත්, අධ්‍යාපන පද්ධතිය තුළ තීරණාත්මක වෙනස්කම් සිදු කිරීම සඳහාත් රජයක් ලෙස අප කටයුතු කරන්නේ රටක අනාගතය අධ්‍යාපනය මතින් සිදු වන බව අප හොඳින් ම අවබෝධ කරගෙන සිටින බැවිනි. නිදහස් අධ්‍යාපනයේ උපරිම ප්‍රතිඵල භුක්ති විඳිමින්, රටට පමණක් නොව ලොවට ම වැඩදායී ශ්‍රී ලාංකික පුරවැසියකු ලෙස නැඟී සිටින්නට ඔබ ද අදිටන් කරගත යුතු වන්නේ එබැවිනි. ඒ සඳහා මේ පොත පරිශීලනය කිරීමෙන් ඔබ ලබන දැනුම ද ඉවහල් වනු ඇති බව මගේ විශ්වාසයයි.

රජය ඔබේ අධ්‍යාපනය වෙනුවෙන් වියදම් කරන අතිවිශාල ධනස්කන්ධයට වටිනාකමක් එක් කිරීම ද ඔබේ යුතුකමක් වන අතර, පාසල් අධ්‍යාපනය හරහා ඔබ ලබා ගන්නා දැනුම හා කුසලතා ඔබේ අනාගතය තීරණය කරන බව ද ඔබ හොඳින් අවබෝධ කර ගත යුතු ය. ඔබ සමාජයේ කුමන තරාතිරමක සිටිය ද සියලු බාධා බිඳ දමමින් සමාජයේ ඉහළ ම ස්තරයකට ගමන් කිරීමේ හැකියාව අධ්‍යාපනය හරහා ඔබට හිමි වන බව ද ඔබ හොඳින් අවධාරණය කර ගත යුතු ය.

එබැවින් නිදහස් අධ්‍යාපනයේ උපරිම ප්‍රතිඵල ලබා, ගෞරවනීය පුරවැසියකු ලෙස හෙට ලොව දිනන්නටත් දේශ දේශාන්තරවල පවා ශ්‍රී ලාංකේය නාමය බබළවන්නටත් ඔබට හැකි වේවා! යි අධ්‍යාපන අමාත්‍යවරයා ලෙස මම ශුභ ප්‍රාර්ථනය කරමි.



**අකිල විරාජ් කාරියවසම්**

අධ්‍යාපන අමාත්‍ය

# පෙරවදන

ලෝකයේ ආර්ථික, සමාජීය, සංස්කෘතික හා තාක්ෂණික සංවර්ධනයත් සමඟ අධ්‍යාපන අරමුණු වඩා සංකීර්ණ ස්වරූපයක් ගනී. මිනිස් අත්දැකීම්, තාක්ෂණික වෙනස්වීම්, පර්යේෂණ සහ නව දර්ශක ඇසුරෙන් ඉගෙනීමේ හා ඉගැන්වීමේ ක්‍රියාවලිය ද නවීකරණය වෙමින් පවතියි. එහිදී ශිෂ්‍ය අවශ්‍යතාවලට ගැළපෙන ලෙස ඉගෙනුම් අත්දැකීම් සංවිධානය කරමින් ඉගැන්වීම් ක්‍රියාවලිය පවත්වාගෙන යාම සඳහා විෂය නිර්දේශයේ දැක්වෙන අරමුණුවලට අනුකූලව, විෂයානුබද්ධ කරුණු ඇතුළත්ව පෙළපොත සම්පාදනය වීම අවශ්‍ය ය. පෙළපොත යනු ශිෂ්‍යයාට ඉගෙනීමේ උපකරණයක් පමණක් නොවේ. එය ඉගෙනුම් අත්දැකීම් ලබා ගැනීමටත් නැණ ගුණ වර්ධනයටත් චර්යාමය හා ආකල්පමය වර්ධනයක් සහිතව ඉහළ අධ්‍යාපනයක් ලැබීමටත් ඉවහල් වන ආශීර්වාදයකි.

නිදහස් අධ්‍යාපන සංකල්පය යථාර්ථයක් බවට පත්කරමින් 1 ශ්‍රේණියේ සිට 11 ශ්‍රේණිය දක්වා සියලු ම පෙළපොත් රජයෙන් ඔබට තිළිණ කෙරේ. එම ග්‍රන්ථවලින් උපරිම ඵල ලබන අතර ම ඒවා රැක ගැනීමේ වගකීම ද ඔබ සතු බව සිහිපත් කරමි. පූර්ණ පෞරුෂයකින් හෙබි, රටට වැඩදායී යහපත් පුරවැසියකු වීමේ පරිචය ලබා ගැනීමට මෙම පෙළපොත ඔබට උපකාරී වෙතැයි මම අපේක්ෂා කරමි.

මෙම පෙළපොත් සම්පාදනයට දායක වූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික මහත්ම මහත්මීන්ටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයටත් මාගේ ස්තුතිය පළ කර සිටිමි.

**ඩබ්ලිව්. එම්. ජයන්ත වික්‍රමනායක,**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව,
ඉසුරුපාය,
බත්තරමුල්ල.
2019.04.10

**නියාමනය හා අධීක්ෂණය**

| | |
|---|---|
| ඩබ්ලිව්. එම්. ජයන්ත වික්‍රමනායක | අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

**මෙහෙයවීම**

| | |
|---|---|
| ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලි | අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

**සම්බන්ධීකරණය**

| | |
|---|---|
| ඒ. එම්. ආර්. කේ. අධිකාරි | සහකාර කොමසාරිස්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

**සංස්කාරක මණ්ඩලය**

| | |
|---|---|
| මහාචාර්ය පත්මසිරි කන්නන්ගර | ඉතිහාස හා පුරාවිද්‍යා අධ්‍යයනාංශය<br>ශ්‍රී ජයවර්ධනපුර විශ්වවිද්‍යාලය |
| මහාචාර්ය පී. පුෂ්පරත්නම් | ඉතිහාස අධ්‍යයනාංශය<br>යාපනය විශ්වවිද්‍යාලය |
| මහාචාර්ය කේ. අරුන්තවරාජා | ඉතිහාස අධ්‍යයනාංශය<br>යාපනය විශ්වවිද්‍යාලය |
| චන්දිමා නිශානි ධර්මපාල | ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය<br>ජාතික අධ්‍යාපන ආයතනය |
| ඩබ්ලිව්. ඒ. සමන්ති ශිරෝමාලා ගුණවර්ධන | සහකාර කථිකාචාර්ය<br>ජාතික අධ්‍යාපන ආයතනය |

**ලේඛක මණ්ඩලය**

| | |
|---|---|
| ඩබ්ලිව්. ඒ. පියසීලි | ගුරු සේවය (විශ්‍රාමික)<br>රාහුල ජාතික පාසල<br>අලව්ව |
| නලීන් බණ්ඩාර | ගුරු සේවය<br>කුරුවිට මධ්‍ය මහ විද්‍යාලය<br>කුරුවිට |

ජීවන සුරංග ගමගේ

ගුරු සේවය
බප/කළු /වලල්ලාවිට ම.වි
වලල්ලාවිට

මේරි ඩොනේටා කන්‍යා සොයුරිය

විශ්‍රාමික නියෝජ්‍ය විදුහල්පතිනි

යූ. එල්. එම්. බසීර්

විශ්‍රාමික ගුරු උපදේශක

ටී. තුෂාන්තනී

ගුරු සේවය
කෑ/දෙහි/යෝගම දෙමළ විද්‍යාලය
දෙහිඕවිට

**භාෂා සංස්කාරක**

එම්. ඒ. එම්. දමයන්ති

''ළඟ ම පාසල හොඳ ම පාසල''
ව්‍යාපෘති ශාඛාව
අධ්‍යාපන අමාත්‍යාංශය

**පරිගණක අක්ෂර සංයෝජනය සහ පිටු සැකසීම**

ඩබ්ලිව්. ඉසුරි මධුෂානි

පරිගණක අංශය
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**පිටකවර නිර්මාණය**

ඩබ්ලිව්. ඉසුරි මධුෂානි

පරිගණක අංශය
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

# පටුන

# 01 ශ්‍රී ලංකාවේ මුහුදුබඩ ප්‍රදේශ ලන්දේසීන් යටතට පත්වීම



## හැඳින්වීම

ශ්‍රී ලංකාවේ මුහුදුබඩ ප්‍රදේශවල බලය පිහිටුවාගෙන සිටි පෘතුගීසීන්ගෙන් රට නිදහස් කර ගැනීමට නම් සැලකිය යුතු නාවික බලයක් අවශ්‍ය බව උඩරට රජවරු අවබෝධ කර ගත්හ. මේ නිසා දෙවන රාජසිංහ රජතුමා පෘතුගීසීන් රටෙන් නෙරපා හැරීමට ලන්දේසීන්ගේ සහාය ලබා ගත්තේ ය. එහෙත් රජු සමග ඇති කර ගත් ගිවිසුමට පටහැනිව කටයුතු කළ ලන්දේසීහු පෘතුගීසීන් යටතේ පැවති ප්‍රදේශ බොහොමයක තම බලය පිහිටුවීමට ක්‍රියා කළහ. එහි ප්‍රතිඵලයක් වශයෙන් 1658 වර්ෂය වන විට දිවයිනේ මුහුදුබඩ ප්‍රදේශවල ලන්දේසි පාලනයක් ඇති විය. එතැන් සිට 1796 වර්ෂය දක්වා ලන්දේසීහු එකී ප්‍රදේශ පාලනය කළහ. මෙම පරිච්ඡේදයෙන් ශ්‍රී ලංකාවේ මුහුදුබඩ ප්‍රදේශවල ලන්දේසි බලය පිහිටුවීම, උඩරට රාජධානිය සමග ලන්දේසීන් පැවැත්වූ සබඳතා හා ලන්දේසි පාලන කාලයේ දේශපාලන, ආර්ථික හා සංස්කෘතික ක්ෂේත්‍රවල කැපී පෙනෙන ලක්ෂණ ආදිය පිළිබඳව ඔබේ අවධානය යොමු කෙරේ.

## 1.1 ශ්‍රී ලංකාවේ මුහුදුබඩ ප්‍රදේශ ලන්දේසීන් යටතට පත් වීම

### ලන්දේසීන් ආසියාවට පැමිණීම

16 වන සියවසේ දී පෘතුගීසීන් ආසියාවෙන් ගෙන ගිය කුළුබඩු ඇතුළු වෙළෙඳ ද්‍රව්‍ය පෘතුගාලයේ ලිස්බන් වරායේ දී මිල දී ගත් ලන්දේසීහු ඒවා යුරෝපා රටවලට විකිණීමේ වෙළෙඳ ව්‍යාපාරයක් ගෙන ගියහ. ලන්දේසීන්ගේ මව්රට වූ ඕලන්දය එකල ස්පාඤ්ඤයට යටත් රටක් වශයෙන් පැවතුණි. ස්පාඤ්ඤවරුන් රෝමානු කතෝලිකයන් වූ අතර ලන්දේසීහු රෙපරමාදු භක්තිකයෝ වූහ. ආගමික වශයෙන් ද මේ දෙපිරිස අතර මත ගැටුම් පැවති හෙයින් ලන්දේසීන් ස්පාඤ්ඤයට එරෙහිව නිදහස් සටනක් ආරම්භ කර තිබුණි. මේ අතර ස්පාඤ්ඤයේ රජු වූ දෙවන පිලිප් රාජ්‍ය උරුමයක් අනුව පෘතුගාලයේත් රජු බවට පත් වූ හෙයින් ලන්දේසීන්ට එරෙහිව කටයුතු කිරීමට ඔහුට අවස්ථාව ලැබුණි. එහි ප්‍රතිඵලයක් වශයෙන් ලන්දේසීන් ලිස්බන් වරායට පැමිණීම දෙවන පිලිප් රජු විසින් තහනම් කරන ලදි. මෙසේ ලන්දේසි නැව්වලට ලිස්බන් වරායට පැමිණීමට නොහැකි වීම හේතුවෙන් ඔවුන්ගේ වෙළෙඳාමට අවශ්‍ය කුළුබඩු ඇතුළු වෙළෙඳ ද්‍රව්‍ය ලබා ගැනීමට නම් ඒවා නිෂ්පාදනය කෙරෙන ආසියාවට පැමිණීම හැර වෙනත් මගක් ලන්දේසීන්ට නොතිබුණි.

පෘතුගීසීන් ආසියාවට පැමිණ ශතවර්ෂයක් ගත වන තෙක් තමන් පැමිණෙන මුහුදු මාර්ග පිළිබඳ දැනුම සෙසු යුරෝපීයන් අතට පත්වීම වැළැක්වීමට පියවර ගෙන ඇත. එම කාලයේ දී පෘතුගීසීන්ට ඉතා විශ්වාසදායක අය හැරුණු විට සැක කටයුතු ලන්දේසි, ඉංග්‍රීසි හෝ ප්‍රංශ ජාතිකයෙකුට පෘතුගීසි නැවක ආසියාවට පැමිණීමට වත් පෘතුගීසීහු ඉඩ නොදුන්හ. එහෙත් ලන්දේසීහු විවිධ ඔත්තුකරුවන් යෙදවීම හා වෙනත් මාර්ගවලින්



**1.1 රූපය - පෙරදිග ඕලන්ද වෙළෙඳ සමාගමේ (VOC) ලාංඡනය**

1595 වර්ෂය පමණ වන විට පෘතුගීසීන් ආසියාවට පැමිණෙන නැව් මාර්ග හෙළි කර ගත්හ. මේ අනුව 1602 වර්ෂයට පෙර ඕලන්දයේ වෙළෙඳ සමාගම් කිහිපයක් ආසියාවට පැමිණි නමුත් වෙළෙඳ ද්‍රව්‍ය ලබා ගැනීමේ දී ලන්දේසි සමාගම් අතර ම තරගයක් ඇති විය. එසේ ම එක ම ලන්දේසි වෙළෙඳ සමාගමකට හෝ ඕලන්දය වෙනුවෙන් ආසියාවේ කටයුතු කිරීමට අවශ්‍ය නීත්‍යානුකූල බලයක් ලැබී නොතිබුණි. මේ තත්වය සැලකිල්ලට ගත් ඕලන්ද පාලකයා 1602 වර්ෂයේ දී ලන්දේසි වෙළෙඳ සමාගම් කිහිපයක් එකතු කොට පෙරදිග ඕලන්ද වෙළෙඳ සමාගම හෙවත් 'VOC' සමාගම පිහිටුවී ය. එම සමාගම පිහිටුවීමේ රාජකීය බලපත්‍රය අනුව ඕලන්ද රජය වෙනුවෙන් ආසියාවේ වෙළෙඳාම් කිරීමට, ප්‍රදේශ යටත් කිරීමට, බලකොටු ඉදිකිරීමට, ආණ්ඩුකාරවරුන් පත් කිරීමට හා අදාළ ප්‍රදේශ පාලනය කිරීමට 'VOC' සමාගමට බලය ලැබුණි.

1602 වර්ෂයෙන් පසු පෙරදිග ඕලන්ද වෙළෙඳ සමාගම මූල්‍යමය වශයෙන් ද ශක්තිමත් වූ හෙයින් ප්‍රබල නැව් කණ්ඩායම් ආසියාවට එවීමට ලන්දේසීන්ට හැකි විය. මෙසේ 'VOC' සමාගම යටතේ පැමිණි ලන්දේසීහු ජාවා දූපතේ බෙතාවිය හෙවත් බතාවියේ තම මූලස්ථානය පිහිටුවාගෙන අග්නිදිග ආසියාතික දූපත් හා ඉන්දියානු වෙරළබඩ ප්‍රදේශයේ ස්ථාන කිහිපයක ස්වකීය බලය ගොඩනැගූහ. ඉන්දියානු සාගරයේ තම වෙළෙඳ බලය ගොඩනැගීමේ දී ලන්දේසීන්ට අනිවාර්යෙන් ම පෘතුගීසීන් සමග සටන් කිරීමට සිදු විය.

### උඩරට රජවරුන් ලන්දේසි සහාය සොයා යාම

ලන්දේසීන් ආසියාවට පැමිණ වැඩි කල් ගතවීමට පෙර 1602 වර්ෂයේ දී ජොරිස් වැන් ස්පිල්බර්ජන් නම් ලන්දේසි ජාතික අද්මිරාල්වරයා නැව් තුනක් සමග ලංකාවේ නැගෙනහිර වෙරළට පැමිණ මඩකලපුවට ගොඩ බැස්සේ ය. ඔහු කන්ද උඩරටට ගොස් 1602 ජූලි මාසයේ දී පළමුවන විමලධර්මසූරිය රජු මුණ ගැසුණි. මෙම අවධිය වන විට විමලධර්මසූරිය රජු පෘතුගීසීන්ගේ ක්‍රියාකලාපය කෙරෙහි දැඩි අප්‍රසාදයකින් පසු විය. එබැවින් පෘතුගීසීන් පළවා හැරීම සඳහා රජු ලන්දේසීන්ගේ ආධාර ලබාගැනීමට කැමත්ත පළ කළේ ය.



**1.2 රූපය - ස්පිල්බර්ජන් පළමු වන විමලධර්මසූරිය රජු මුණ ගැසීම**

ස්පිල්බර්ජන් පිටත්ව ගොස් මාස තුනකට පමණ

පසු සිබෙල් ද වර්ට් නැමැත්තා ප්‍රමුඛ තවත් ලන්දේසි දූත පිරිසක් විමලධර්මසූරිය රජු මුණ ගැසීමට පැමිණියහ. මෙම අලුත් දූතයා ද ස්පිල්බර්ජන් අයත් ජාතියට ම අයත් බව දැනගත් රජු මහත් හරසරින් මහනුවර දී ඔහු පිළිගත් අතර, පෘතුගීසීන් පළවා හැරීම සඳහා දෙපිරිස කටයුතු කළ යුතු ආකාරය පිළිබඳව සාකච්ඡා ද පැවැත්වී ය. එහෙත් පසු අවස්ථාවක රජු ඉදිරියේ දී රජුට අගෞරව වන ලෙස සිබෙල් ද වර්ට් කථා කිරීම හේතුවෙන් ඔහු හා රජුගේ පිරිස අතර ගැටුමක් ඇති විය. ගැටුමේ ප්‍රතිඵලයක් වශයෙන් සිබෙල් ද වර්ට් අවාසනාවන්ත ලෙස මරණයට පත් විය. මෙම සිදුවීම නිසා පෘතුගීසීන් පළවා හැරීමට ලන්දේසි සහාය ලබාගැනීමේ රජුගේ අපේක්ෂාව බිඳ වැටුණි.

විමලධර්මසූරිය රජුගෙන් පසු එතුමාගේ සහෝදරයෙකු වූ සෙනරත් රජු බලයට පත් විය. සෙනරත් රජුගේ කාලයේ දී ලන්දේසි දූත කණ්ඩායම් දෙකක් සමඟ සාකච්ඡා පැවති නමුත් රජු අපේක්ෂා කළ පරිදි සාර්ථක ප්‍රතිඵල නොලැබුණි.

### දෙවන රාජසිංහ රජු හා ලන්දේසීන් අතර ගිවිසුම

සෙනරත් රජුගෙන් පසු එතුමාගේ පුත් දෙවන රාජසිංහ රජකමට පත් විය. එතුමා පෘතුගීසීන් මෙරටින් පළවා හැරීමට දැඩි අධිෂ්ඨානයෙන් කටයුතු කළ අයෙකි. මේ සඳහා ප්‍රබල නාවුක බලයක් හිමි ලන්දේසීන්ගේ සහාය ලබා ගැනීමට රජතුමා ක්‍රියා කළේය. ඒ අනුව රජු ලන්දේසීන්ගේ පෙරදිග මධ්‍යස්ථානය වූ බතාවියේ නියෝජිතයන් සමග සාකච්ඡා පැවැත්වී ය. පෘතුගීසීන් පලවා හැරීමට තමාට ලබාදෙන උපකාර වෙනුවෙන් මෙරට කුරුඳු වෙළෙඳාමේ අයිතිය හා නැගෙනහිර වෙරළේ වරායක් ලන්දේසීන්ට ලබාදීමට රජු එකඟ විය. එක් යුරෝපීය ජාතියක් වෙනුවට වෙනත් යුරෝපීය ජාතියක් මෙරටට ගෙන්වා ගැනීම කිසිසේත් ම රජුගේ අරමුණ නොවී ය. ලන්දේසීන් හා රජු අතර ඇති වූ සාකච්ඡාවල ප්‍රතිඵල වශයෙන් 1638 මැයි මාසයේ දී රජුගේ හමුදාව හා ලන්දේසීන් එකතුව මඩකලපුව පෘතුගීසි බලකොටුව වටලන ලදි. ප්‍රහාර කිහිපයකින් පසු එහි සිටි පෘතුගීසීන් පන්නා දැමීමට මෙම සේනාවෝ සමත් වූහ. මෙයින් මහත් සතුටට පත් දෙවන රාජසිංහ රජතුමා 1638 වර්ෂයේ මැයි මාසයේ දී ම ලන්දේසීන් සමග ගිවිසුමක් අත්සන් කළේ ය.

### 1638 ගිවිසුමේ ප්‍රධාන කරුණු

- ❖ පෘතුගීසීන් මෙරටින් නෙරපා හැරීමට උඩරට රජුට සහාය දීමට ලන්දේසීන් එකඟ වීම.
- ❖ පෘතුගීසීන්ට එරෙහි සටන් සඳහා ලන්දේසීන්ට වැය වන මුදල්, කුරුඳු, ගම්මිරිස්, මී ඉටි ආදි වෙළෙඳ ද්‍රව්‍ය ලබාදීම මගින් පියවීමට රජු එකඟ වීම.
- ❖ ඇතුන් හැර උඩරට සෙසු වෙළෙඳ ද්‍රව්‍ය මිල දී ගැනීමේ ඒකාධිකාරි අයිතිය ලන්දේසීන්ට ලබාදීම.
- ❖ රජු අදහස් කරන්නේ නම් පෘතුගීසීන්ගෙන් අල්ලා ගන්නා බලකොටුවල ලන්දේසි හමුදාව නතර කරවීමට එකඟවීම.

## පෘතුගීසීන් නෙරපීමේ සටන් සහ මුහුදුබඩ ප්‍රදේශවල ලන්දේසි බලය පිහිටුවීම

1638 වර්ෂයේ ගිවිසුමෙන් පසුව පෘතුගීසීන් මෙරටින් නෙරපා හැරීමට තවත් වසර 20ක් ගත විය. එම කාලයේ දී පෘතුගීසීන් යටතේ පැවති ත්‍රිකුණාමලය, මීගමුව, ගාල්ල, කළුතර, කොළඹ, මන්නාරම හා යාපනය ඇතුළු සෙසු බලකොටු යටත් කිරීමට ලන්දේසීන් හා උඩරට හමුදාවෝ කටයුතු කළහ. ත්‍රිකුණාමලය හා මීගමුව බලකොටු යටත් කිරීමෙන් පසුව රජු හා ලන්දේසීන් අතර මත ගැටුම් ඇති විය. ලන්දේසීන් තමන්ට වාසිදායක ප්‍රදේශවල බලකොටු අල්ලා ගත් පසු 1638 වර්ෂයේ ගිවිසුම පරිදි රජුට භාරදීමට කටයුතු නොකිරීම එම තත්වයට හේතු විය.

ලන්දේසීන් මුල සිට ම අතිශය කපටි අන්දමින් රජු සමග කටයුතු කොට ඇත. 1638 ගිවිසුමේ එක් වගන්තියකට අනුව පෘතුගීසීන්ගෙන් අල්ලා ගනු ලබන බලකොටුවල **''ලන්දේසි හමුදා නතර කළ යුතු වන්නේ උඩරට රජු කැමති නම් පමණි''** යන අදහස පැවතියත්, ලන්දේසීහු එම වගන්තිය අමතක කොට කටයුතු කළහ. ඒ අනුව තමන් අල්ලාගත් බලකොටුවල රජුගෙන් නොවිමසා ලන්දේසීහු තම භටයන් නතර කළහ. මීගමුව හා ගාල්ල කුරුඳු බහුලව වැවෙන ප්‍රදේශ වූ හෙයින් ඒවා රජුට භාර නොදී තමන් සතුව තබා ගැනීමට ලන්දේසීහු කටයුතු කළහ. මෙම මතභේදය නිසා බලකොටුවල සිටින සේවකයන්ට වැටුප් ගෙවීම රජුගේ වගකීමක් නොවන බව රජතුමා කියා සිටියේ ය. ඒ අතර ඉල්ලා සිටි යුධ වියදම් ගෙවන තුරු බලකොටු රජුට පවරා දිය නොහැකි බව ලන්දේසීහු ද කියා සිටියහ. මෙසේ දෙපක්ෂය අතර මතභේදය ක්‍රමයෙන් උග්‍ර විය. එහෙත් කොළඹ ඇතුළු බලකොටුවලින් පෘතුගීසීන් පලවා හැරීමට ලන්දේසි සහාය අවශ්‍ය වූ බැවින් දෙවන රාජසිංහ රජු බොහෝ ඉවසිලිමත්ව කටයුතු කළ බව පෙනේ.



**1.3 රූපය - ගාලු කොටුව**

මේ අතර ජෙරාඩ් හල්ෆ්ට් නම් සෙනෙවියා යටතේ විශාල ලන්දේසි හමුදාවක් ලංකාවට පැමිණියහ. ඉන් ශක්තිමත් වූ ලන්දේසීහු පෘතුගීසීන්ගෙන් කොළඹ කොටුව අත්පත් කරගැනීමට උස් බිම්වල කාලතුවක්කු සවි කොට කොටුව වැටලූහ. හල්ෆ්ට් සෙනෙවියා කෙරෙහි ප්‍රසාදයට පත් රාජසිංහ රජතුමා ඔහුට මහත් සැලකිලි දක්වා විශාල හමුදාවක් ද සටනට එවී ය. මින් මහත් අසරණභාවයට පත් පෘතුගීසීහු යටත් බව ප්‍රකාශ කොට කොළඹ කොටුවේ යතුරු ලන්දේසීන්ට භාර දුන්හ.

එතෙක් ගාලු කොටුවේ සිට ක්‍රියාත්මක වූ ලන්දේසීහු එතැන් සිට කොළඹ කොටුව වඩාත් ශක්තිමත් කර එය තම මූලස්ථානය බවට පත් කර ගත්හ. මෙය ද 1638 වර්ෂයේ ගිවිසුම නැවත කඩකිරීමක් වූයේ ය. මේ නිසා රාජසිංහ රජු කෝපයට පත් විය. ලන්දේසීන් 1658 වර්ෂයේ මන්නාරම ද ඉන් පසු යාපනය හා කල්පිටිය ද අල්ලා ගැනීමත් සමග ලංකාවේ මුහුදුබඩ ප්‍රදේශවල එතෙක් පැවැති පෘතුගීසි පාලනය අවසන් විය. අල්ලාගත් බලකොටු ලන්දේසිහු තමන් අත ම තබා ගත්හ. ලන්දේසීන්ගේ අරමුණ පෘතුගීසීන් යටතේ පැවති ප්‍රදේශවල ඔවුන්ගේ බලය පිහිටුවීම බව රජු තේරුම්ගත් පසු ලන්දේසීන්ට අත්පත් කර ගත හැකි භූමිය අවම කිරීමේ උපායක් රජු ක්‍රියාත්මක කර ඇත. ඒ අනුව පෘතුගීසීන් යටතේ පැවති ලන්දේසීන් අත්පත් කර ගැනීමට ඉඩ තිබූ ප්‍රදේශ රැසක් උඩරටට ඈඳා ගැනීමට රජතුමා කටයුතු කළේ ය. රජුගේ එම උපාය නිසා ලන්දේසීන්ට අත්පත් කර ගත හැකි වූයේ පෘතුගීසීන්ට වඩා අඩු භූමි ප්‍රදේශයකි. ලන්දේසීහු කොළඹ, ගාල්ල, මාතර, මීගමුව, කල්පිටිය, මන්නාරම, යාපනය, ත්‍රිකුණාමලය, මඩකලපුව ආදී ප්‍රදේශවල බලකොටු ඉදි කළහ. එබඳු ප්‍රධාන බලකොටුවලට අමතරව අලිමංකඩ, පේදුරු තුඩුව, කයිට්ස් ආදී ස්ථානවල කුඩා බලකොටු රැසක් ද ඔවුන් විසින් ඉදි කරන ලදි. පෘතුගීසීන් වෙනුවට එවැනි ම වෙනත් යුරෝපීය ජාතියක් ගෙන්වා ගැනීම නිසා 'ඉඟුරු දී මිරිස් ගත්තා වැනි ය' යන ප්‍රස්ථාව පිරුළක් ඇති වී තිබේ.

### ලන්දේසීන් උඩරට රාජ්‍ය සමඟ පැවැත්වූ සම්බන්ධතා

මෙරට දේශපාලන බලයක් ගොඩනගාගෙන සිටි පෘතුගීසී, ලන්දේසි, ඉංග්‍රීසි යන යුරෝපා ජාතීන් අතුරින් උඩරට රාජ්‍ය සමග වැඩි කාලයක් යහපත් සබඳතාවක් පවත්වාගෙන ගිය ජාතිය ලන්දේසින් වේ. පෘතුගීසීන් උඩරට රාජධානිය සම්බන්ධයෙන් අනුගමනය කළේ ආක්‍රමණකාරී ප්‍රතිපත්තියකි. මුහුදුබඩ ප්‍රදේශවල සිය බලය පිහිටුවා දශක දෙකක් ගත වීමටත් පෙර ඉංග්‍රීසීහු උඩරට රාජධානිය යටත් කළහ. එහෙත් ලන්දේසීහු 1658 - 1796 කාලයේ දී උඩරට රජු සමඟ දූත සබඳතා පැවැත්වීම, ලිපි හුවමාරු කර ගැනීම, ආදියෙන් සාමකාමී සබඳතාවක් පවත්වාගෙන ගිය අතර අවස්ථාව ලැබුණු විට එම රාජධානිය ආක්‍රමණය කිරීමටත් පසුබට නොවූහ. මේ නිසා ලන්දේසීන් හා උඩරට සබඳතා අතර කිසියම් විචිත්‍රත්වයක් දැකිය හැකි ය.

### දෙවන රාජසිංහ රජු හා ලන්දේසීන් අතර පැවති සබඳතා

පෘතුගීසීන් මෙරටින් නෙරපා හැරීමට II රාජසිංහ රජු ලන්දේසීන් කැඳවාගත් නමුත් 1638 - 1658 අතර කාලයේ දී පෘතුගීසීන්ගෙන් අල්ලා ගත් ප්‍රදේශ ලන්දේසීන්

රජුට භාර නොදීම නිසා දෙපක්ෂය අතර මතභේද ඇති වූ ආකාරය මීට ඉහත දී සඳහන් කෙරිණ. 1658 - 1675 කාලයේ මෙරට ලන්දේසි ප්‍රතිපත්තිය මෙහෙයවූ නිලධාරින්ට උඩරට රාජධානියේ ශක්තිය ගැන නිසි අවබෝධයක් නොතිබුණි. මේ නිසා මුහුදු මගින් හා ගොඩබිමින් එම රාජධානිය කොටු කිරීමේ අරමුණු ඇතිව 1659 - 1668 කාලයේ දී එතෙක් උඩරට යටතේ පැවති නැගෙනහිර හා බස්නාහිර වෙරළබඩ ප්‍රදේශ කිහිපයක් ලන්දේසීන් විසින් අල්ලා ගන්නා ලදි. ලන්දේසීන්ගේ මෙම ආක්‍රමණකාරී ක්‍රියා ගැන නිශ්ශබ්දව සිටි දෙවන රාජසිංහ රජතුමා 1670 වර්ෂයේ සිට හැම පැත්තකින් ම ඔවුන්ට පහර දීමට පටන් ගත්තේ ය. රාජසිංහ රජුගේ මෙහෙයවීම පිට උඩරැටියන් එල්ල කළ ප්‍රහාර කෙතරම් ශක්තිමත් හා ක්ෂණික වී ද යත් 1658 වර්ෂයෙන් පසු ලන්දේසීන් අල්ලා ගත් සියලු ම ප්‍රදේශ පාහේ උඩරැටියන්ගේ මෙකී ප්‍රහාර නිසා ඔවුන්ට අහිමි විය. රාජසිංහ රජුගේ මෙම ප්‍රහාර මාලාව උඩරට යුද්ධ ශක්තිය පිළිබඳව නියම අවබෝධයක් ඇති කර ගැනීමට මෙන් ම උඩරට සම්බන්ධ ලන්දේසීන්ගේ ඉදිරි ප්‍රතිපත්තිය සකස් කර ගැනීමට ද උපකාරී වූ බව පෙනේ. ගොඩබිමේ දී උඩරැටියන් ලන්දේසීන් සමග කරට කර සටන් කිරීමට සමත් බවත් උඩරට ප්‍රදේශ අත්පත් කර ගැනීමට ගිය හොත් පෘතුගීසීන්ට මෙන් කෙළවරක් නැති යුද්ධයකට මුහුණදීමට තමන්ටත් සිදු වන බවත් මෙම ප්‍රහාර මාලාවත් සමග ලන්දේසීහු තේරුම් ගත්හ. එහි ප්‍රතිඵල වශයෙන් උඩරට රාජ්‍ය සම්බන්ධ කිසියම් ගෞරව සම්ප්‍රයුක්ත බියකින් යුතුව එහි රජවරුන් සමග හැකි තරම් සාමකාමීව කටයුතු කිරීමට ලන්දේසීහු කටයුතු කළහ.



**1.4 රූපය - යාපනය කොටුව**

### උඩරට ලන්දේසි දූත සබඳතා

පළමුවන විමලධර්මසූරිය රජුගේ කාලයේ සිට උඩරට රාජධානිය හා ලන්දේසීන් අතර දූත සබඳතා පැවතුණි. දෙවන රාජසිංහ රජුගේ කාලයේ දී අවම වශයෙන් ලන්දේසි දූතයන් අට දෙනෙකු වත් වරින් වර රජු මුණගැසී ඇත. දෙවන රාජසිංහ රජුගේ කාලයේ සිදු වූ ලන්දේසි දූත ගමන් අතර 1656 වර්ෂයේ දී ජෙනරල් ජෙරාඩ් හල්ෆ්ට් රජු මුණ ගැසීම ඉතා වැදගත් අවස්ථාවකි. මේ වන විට පෘතුගීසීන් මෙරටින් නෙරපා නොතිබූ අතර ලන්දේසීන් හා රජු අතරත් මතභේද පැවතුණි. රජුගේ ආරාධනයෙන් උඩරටට ගිය ලන්දේසි දූතයා රජතුමා විසින් ඉතා ගෞරවයෙන් පිළිගන්නා ලදි. උඩරැටියන් ඉතා අලංකාර පෙරහරකින් ජෙනරල්වරයා කැඳවාගෙන ගිය බව ලන්දේසි වාර්තාවල දැක්වේ. හල්ෆ්ට්ගේ ආචාරශීලීත්වය හා ගෞරවාදරය පිළිබඳව රජතුමන් ද බෙහෙවින් සතුටට පත්ව ඇත.

දෙවන රාජසිංහ රජුගෙන් පසුව දෙවන විලධර්මසූරිය, ශ්‍රී වීරපරාක්‍රම නරේන්ද්‍රසිංහ හා ශ්‍රී විජයරාජසිංහ යන රජවරුන්ගේ කාලවල දී ද මෙබඳු දූත ගමන් සිදු විය. මෙම කාලයේ දී රජු හා ලන්දේසීන් අතර මත ගැටුම් ඇති වූ විට ද කඩවත් වසා දැමීම ආදියෙන් දෙපාර්ශ්වය අතර සබඳතා පළුදු වූ විට ද දූත ගමන් සංවිධානය කෙරුණි. මෙබඳු දූත ගමන්වල දී බොහෝ විට ආණ්ඩුකාරවරුන්ගේ ලිපි රජු වෙතට ඉදිරිපත් කෙරුණි. රජුගේ දූතයෝ ද ඇතැම් අවස්ථාවල පහත රටට පැමිණ ලන්දේසීන් මුණ ගැසුණහ.



**1.5 රූපය - දෙවන රාජසිංහ රජු**

දූත ගමන්වල දී දෙපාර්ශ්වය තෑගි භෝග හුවමාරු කර ගැනීම, සුහදත්වය පළ කිරීම, දූතයන්ගේ ඉල්ලීම්වලට අනෙක් පාර්ශ්වය ඇහුම්කන් දීම හා දෙපාර්ශ්වය අතර පවතින ගැටලු සාකච්ඡා කිරීම ආදියට වැදගත් තැනක් ලැබුණි. ලන්දේසි ආණ්ඩුකාරවරයා හා රජු මුණ ගැසීම දුර්ලභ සිදුවීමක් බැවින් දෙපාර්ශ්වයේ අදහස් එක්තැන් වීමට මෙබඳු දූත ගමන් හා ලිපි හුවමාරුවීම් බෙහෙවින් එලදායි විය. දෙවන රාජසිංහ රජු ලන්දේසීන්ට ලිපි ලිවීමේ දී තමා ලංකාවේ අධිරාජයා බව සඳහන් කළේ ය. ලන්දේසීන් ද එබඳු ලිපි ගනුදෙනුවල දී රජු ත්‍රී සිංහලාධීශ්වර යැයි නාමිකව හෝ සඳහන් කර ඇත. රජු ලන්දේසීන්ට ලිපි ලියන විට '**මට සේවය කරන හිතවත් ලන්දේසි ජාතිය**' වැනි පාඨ යෙදූ අතර ලන්දේසීන් ද රජුට ලියූ ලිපි අවසන් කළේ '**ඔබ වහන්සේගේ සුවච කීකරු සේවක**' යන පාඨ යොදා ගනිමිනි. ලන්දේසි දූතයන් කිහිප දෙනෙකු උඩරට රජු හමු වීම ගැන වැදගත් තොරතුරු කිහිපයක් පහත සටහනින් දැක්වේ.

**ලන්දේසි දූතයන් උඩරට රජු හමු වූ අවස්ථා කිහිපයක්**

| **වර්ෂය** | **උඩරට රජු** | **ලන්දේසි දූතයා** | **දූත ගමනට හේතුව** |
|---|---|---|---|
| 1602 | පළමුවන විමලධර්මසූරිය රජු | ජොරිස් වැන් ස්පිල් බර්ජන් | වෙළෙඳ කටයුතු පිළිබඳව රජු සමග සාකච්ඡා කිරීම සඳහා |
| 1656 | දෙවන රාජසිංහ රජු | ජෙනරල් ජෙරාඩ් හල්ෆ්ට් | රජු බැහැදකින ලෙස ලැබුණු ආරාධනය හා එවකට පැවති ගැටලු සාකච්ඡා කර ගැනීම |
| 1688 | දෙවන විමලධර්මසූරිය රජු | කලන් අල්බස් | රජු හා ලන්දේසීන් අතර නව ගිවිසුමක් ඇති කර ගැනීම ගැන සාකච්ඡා කිරීම |
| 1721 | ශ්‍රී වීරපරාක්‍රම නරේන්ද්‍රසිංහ රජු | කොර්නේලියස් ටැකල් | රජුගේ බිසව මිය යාම ගැන ලන්දේසීන්ගේ ශෝකය ප්‍රකාශ කිරීම |

දූත ගමන්වල දී තෑගි භෝග හුවමාරු කර ගැනීම
(1656 වර්ෂයේ ජෙනරල් ජෙරාඩ් හල්ෆ්ට්ගේ දූත ගමන ඇසුරින්)

| ලන්දේසි දූතයා රජුට ලබා දුන් තෑගි | රජු ලන්දේසි දූතයාට ලබා දුන් තෑගි |
|---|---|
| පෘතුගීසීන්ගෙන් අත් කර ගත් කොඩි<br>අශ්වයන් දෙදෙනෙකු<br>පර්සියානු දුනු ඊතල කට්ටල දෙකක්<br>සඳුන් දැව<br>පර්සියන් බැටලුවන් දෙදෙනෙකු හා තවත් සතුන් කිහිප දෙනෙකු | රන් මාලයක්<br>මුද්දක්<br>රන් පා වැසුම් බඳනයක් |

**සාමකාමී ප්‍රතිපත්තිය හා ගැටුම්වලින් වැළකීම**

1687 වර්ෂයේ දී දෙවන රාජසිංහ රජු මියගිය පසු ඔහුගේ පුත් දෙවන විමලධර්මසූරිය රජු බලයට පත් විය. පිය රජුගෙන් උරුම වූ රාජ්‍යය ආරක්ෂා කර ගත් මෙතුමන් ලන්දේසීන් සමග මිත්‍රශීලීව කටයුතු කොට ඇත. දෙපාර්ශ්වය අනුගමනය කළ ක්‍රියාමාර්ග කිහිපයක් පහත දැක්වේ.

- ❖ පහළ බුරුමයෙන් උපසම්පදා භික්ෂූන් ගෙන්වා ගැනීමට ලන්දේසි නැව් ලබා දීම
- ❖ පිටිගල් කෝරලයේ කුරුඳු තැලීමට ලන්දේසීන්ට පනවා තිබූ තහනම ඉවත් කිරීම
- ❖ රජුගේ කුරුඳු, පුවක්, ඇතුන් වෙළෙඳ සමාගම මගින් මිල දී ගැනීමට එකඟ වීම

දෙවන විමලධර්මසූරිය රජුගෙන් පසු එතුමාගේ පුත් ශ්‍රී වීර පරාක්‍රම නරේන්ද්‍රසිංහ රජු බලයට පත් විය. මෙතුමා කුණ්ඩසාලේ කුමාරයා නමින් ප්‍රකටව සිටියේ ය. මෙම අවධියේ දී ලන්දේසීන් සමග පැවැති සාමකාමී සම්බන්ධතා කෙමෙන් පලුදු වන සිදුවීම් කිහිපයක් ඇති විය. මේ කාලයේ දී උඩරට රජු කල්පිටිය, පුත්තලම වැනි වරායන් හරහා පුවක්, ඇතුන් හා ඇත්දළ ඉන්දියාවට යවමින් වැඩි වශයෙන් වෙළෙඳ කටයුතුවල නියැළී ඇත. මෙය තමන්ට මහත් පාඩුවක් ලෙස සැලකූ ලන්දේසීහු සියලු වරායන් වසා දමා උඩරට වෙළෙඳාමට බාධා පැමිණවූහ. ඊට ප්‍රතිචාර වශයෙන් රජු ද සිය ප්‍රදේශය හරහා ඇතුන් ගෙනයාම තහනම් කොට කුරුඳු ඇතුළු කුළුබඩු වර්ග හා උඩරට නිපදවන ආහාර වර්ග ලන්දේසීන්ට විකිණීම සඳහා උඩරැටියන්ට තිබූ ඉඩකඩ අහුරා දැමී ය.

මේ වන විට ලන්දේසි පාලනය පැවැති ප්‍රදේශවල විසූ ජනයා ලන්දේසීන්ගේ ක්‍රියාමාර්ග ගැන කලකිරී සිටි බව පෙනේ. ඔවුන් විසින් පනවන ලද පීඩාකාරී බදුත්, බදු අය කරන්නන් විසින් ප්‍රමාණයට වඩා මුදල් අය කිරීමත්, කුරුඳු තලන්නන්ට මුහුණදීමට සිදුව තිබූ බලවත් අසහනකාරී තත්වයත් නිසා ජනතාවගේ කලකිරීම වැඩි විය. මෙම තත්වය නිසා ලන්දේසි පාලන ප්‍රදේශ කිහිපයක කැරලි කෝලාහල පැන නැගිණ. ලන්දේසීහු සිය බලය යොදා කැරලි මැඩ පැවැත්වූහ.

ශ්‍රී වීර පරාක්‍රම නරේන්ද්‍රසිංහ රජතුමා ද මුල් රජවරුන්ගේ සිරිත් අනුගමනය කරමින් දකුණු ඉන්දියාවෙන් නායක්කර් වංශික කුමරියක ගෙන්වා අගබිසව කරගත්තේ ය. මේ නිසා ම බොහෝ නායක්කර් වංශිකයන් දිවයිනට පැමිණි අතර ඔවුහු රජයේ උසස් තනතුරු ද ලබාගෙන උඩරට පදිංචිව සිටියහ. රජවාසලේ ද ඔවුන්ගේ බලය වැඩි වෙමින් පැවැතියේ ය.

1739 වර්ෂයේ දී ශ්‍රී වීර පරාක්‍රම නරේන්ද්‍රසිංහ රජු මියගිය අතර එතුමාට පුතුන් නොසිටි නිසා නායක්කර් වංශික අගබිසවගේ සහෝදරයෙකු ශ්‍රී විජය රාජසිංහ යන නමින් රාජත්වයට පත් විය. මේ අනුව පළමු විමලධර්මසූරිය රජුගෙන් ඇරඹි රජ පරම්පරාව නිමාවට පත් විය.

## ලන්දේසීන් උඩරට ආක්‍රමණය කිරීම

ශ්‍රී විජය රාජසිංහ රජුගෙන් පසු 1747 වර්ෂයේ දී එතුමාගේ නායක්කර් වංශික බිසවගේ සහෝදරයා කීර්ති ශ්‍රී රාජසිංහ නමින් සිහසුනට පත් විය. මෙතුමා එවකට පරිහානියට පත්ව තිබූ බුදුසසුන නගා සිටුවීමට කාර්යන් රාශියක් සිදු කළේ ය. වැලිවිට සරණංකර හිමියෝ මේ සඳහා රජුට අනුශාසනා ලබාදුන්හ. රජතුමා ලන්දේසීන්ගෙන් නැව් ලබාගෙන උපසම්පදාව ගෙන ඒම සඳහා සියම් දේශයට දූත කණ්ඩායමක් පිටත් කළේ ය.



**1.6 රූපය - ඕලන්ද සොල්දාදුවන් දැක්වෙන සිතුවමක්**

ඒ අනුව උපාලි හිමියන් ප්‍රමුඛ භික්ෂූන් පිරිසක් මෙහි වැඩමවා 1753 වර්ෂයේ දී ලංකාවේ උපසම්පදාව පිහිටුවී ය. එතැන් සිට වර්තමාන සියම් නිකාය ආරම්භ විය.

ක්‍රි. ව. 1762 පමණ වනවිට උඩරට රාජ්‍යය හා ලන්දේසීන් අතර නැවතත් ගැටුම් ඇති වූ බව පෙනේ. මේ නිසා ලන්දේසීන්ට විරුද්ධව වෙනත් ජාතියකගේ උදව් ලබාගැනීමට රජු උනන්දුවක් දක්වී ය. එහි ප්‍රතිඵලයක් වශයෙන් 1762 වර්ෂයේ දී ජෝන් පයිබස් නම් ඉංග්‍රීසි ජාතිකයා උඩරට රාජ්‍යයට දූතයකු ලෙස පැමිණියේ ය. මින් බියට පත් ලන්දේසීහු බැරන් වැන් එක් ආණ්ඩුකාරවරයාගේ මෙහෙයවීම මත සේනාංක හයක් මාර්ග හයකින් යවමින් උඩරට ආක්‍රමණය කළහ. මෙම සේනාංක එකකට වත් මහනුවර නගරය අසලට වත් පැමිණීමට උඩරැටියෝ ඉඩ නොදුන්හ. උඩරැටියන්ට හුරු පුරුදු සටන් ක්‍රම යොදා ගනිමින් එල්ල කළ ප්‍රහාර නිසා අසරණ වූ ලන්දේසීහු බලාපොරොත්තු සුන්ව පහත රටට පැමිණියහ. මෙම පරාජයෙන් වැඩි කලක් ගතවීමට පෙර 1765 වර්ෂයේ දී ලන්දේසීන් විසින් නැවත වරක් උඩරට ආක්‍රමණය කරන ලදි. මෙම ආක්‍රමණයේ දී දෙපක්ෂයට ම බලවත් හානි සිදු විය. 1765 වර්ෂයේ පෙබරවාරි මාසයේ දී ලන්දේසීන් මහනුවර නගරයට ඇතුළු වූ හෙයින් රජතුමා ආරක්ෂාව පතා හඟුරන්කෙතට පලා ගියේ ය. මහනුවර නගරය අල්ලා ගත් ලන්දේසීන් ඉදිරිපත් කළ කොන්දේසි පිළිගැනීමට රජතුමා එකඟ නොවී ය. වර්ෂා සමය ආරම්භ වීමත් සමග ලෙඩ රෝග හා උඩරැටියන්ගේ ප්‍රහාරවලින් හෙම්බත් වූ ලන්දේසීහු ආපසු පැමිණියහ.

වසර කිහිපයක් නොකඩවා පැවති ගැටුම් නිසා මේ වන විට නැවත සාමයක් ඇති කර ගැනීමට රජතුමා කැමැත්තෙන් සිටියේ ය.

එසේ ම නායක්කර් වංශිකයන්ගේ හැසිරීම් නිසා රදළවරුන් මෙන් ම බෞද්ධ භික්ෂූන් වහන්සේලා අතර ද කලකිරීමක් පැවතුණි. මේ බව දැනගත් රජතුමා සාමය වෙනුවෙන් ලන්දේසීන් වෙත දූතයන් යැවී ය. ඉන් ප්‍රයෝජන ගත් මෙම අවධියේ සිටි ලන්දේසි ආණ්ඩුකරු වූ විලෙම් පැලක් ලන්දේසීන්ට වාසි සහගත කොන්දේසි මාලාවක් ඉදිරිපත් කළේ ය. රජුට ඒවාට එකඟ වීමට සිදු වූ අතර ක්‍රි. ව. 1766 දී වගන්ති 25කින් යුත් ගිවිසුමක් අත්සන් කළේ ය. එම ගිවිසුමේ වගන්ති කිහිපයක් පහත පරිදි ය.

### 1766 ගිවිසුමේ වගන්ති කිහිපයක්

- ❖ යාපා පටුන, මන්නාරම, කල්පිටිය, කොළඹ දිසාව, ගාලු කෝරලය හා ත්‍රිකුණාමලය අවට ප්‍රදේශ ලන්දේසීන්ට අයත් ය.
- ❖ මුහුදුබඩ සිට රට තුළට සිංහල ගව්වක ප්‍රමාණය ලන්දේසීන්ට අයත් ය

මෙම ගිවිසුම අනුව උඩරට රාජ්‍යය දිවයිනක් තුළ පිහිටි දිවයිනක තත්වයට පත් විය. ගිවිසුමෙන් නොබෝ කලකට පසුව එහි ආදීනව රජුට අවබෝධ වන්නට විය.

මුහුදුබඩ ප්‍රදේශ නැවතත් තමන් වෙත ලබාදෙන ලෙස රජු ඉල්ලා සිටිය ද ලන්දේසීහු එයට ඇහුම්කන් නොදුන්හ. මුහුදුබඩ ප්‍රදේශවල තම පාලනය තහවුරු කළ ඔවුහු එම ප්‍රදේශවල කෘෂිකර්මාන්තය හා කුරුඳු වැවීම දියුණු කිරීමට ද පියවර ගත්හ.

1766 වර්ෂයේ ඇති කර ගන්නා ලද ගිවිසුම නිසා උඩරට රජු හා ලන්දේසින් අතර මතභේද වැඩි වෙමින් පැවතුණි. ලන්දේසීහු ගිවිසුමේ ඇතැම් කොන්දේසි කඩ කරමින් රජුට අයත් ප්‍රදේශවලට ලුණු සැපයීම තහනම් කළහ. මින් උඩරට වැසියා මහත් අසීරුතාවකට පත් විය.

කීර්ති ශ්‍රී රාජසිංහ රජුගෙන් පසුව 1782 වර්ෂයේ දී එතුමාගේ සහෝදරයා රාජාධිරාජසිංහ නමින් රජු බවට පත් විය. 1796 වර්ෂයේ දී ඉංග්‍රීසීන් ලංකාවට පැමිණි අතර ලන්දේසීන්ට පහර දී ඉංග්‍රීසීන් ඔවුන්ගෙන් ප්‍රදේශ අත් කර ගැනීමත් සමග ලංකාවේ ලන්දේසි පාලනය අවසන් විය.

## 1.2 ලන්දේසීන්ගේ පාලන, ආර්ථික, සමාජ හා සංස්කෘතික කටයුතු

### ලන්දේසීන්ගේ පාලන සංවිධානය

ලන්දේසීන් වෙළෙඳ සමාගමක් වශයෙන් සංවිධානය වී සිටි හෙයින් ඕලන්දයේ සිටි 'VOC' සමාගමේ අධ්‍යක්ෂ මණ්ඩලය ආසියාවේ ලන්දේසි පාලන ප්‍රදේශ පිළිබඳව තීරණ ගත් ඉහළ ම මණ්ඩලය විය. ඕලන්දය හා ආසියාව අතර පැවති විශාල දුර ප්‍රමාණය නිසා එතෙක් ලන්දේසීන් යටතේ පැවති ප්‍රදේශ පාලනය කිරීමට 1609 වර්ෂයේ දී වෙළෙඳ සමාගම විසින් බතාවියට ආණ්ඩුකාරවරයෙක් පත් කරන ලදි. ඊට පසු බතාවියානු ආණ්ඩුකාරවරයාගේ සහායට උපදේශක සභාවක් ද පත් කෙරුණි.

ශ්‍රී ලංකාවේ මුහුදුබඩ ප්‍රදේශවල ලන්දේසි බලය ස්ථාපිත වීමෙන් පසු මෙරට පාලන කටයුතු සඳහා වෙළෙඳ සමාගම විසින් වෙන ම ආණ්ඩුකාරවරයෙකු පත් කරන ලදි. එසේ ම ඔහුගේ සහායට ද මෙරට සිටි ලන්දේසි නිලධාරීන්ගෙන් සමන්විත විශේෂ සභාවක් පත් කෙරුණි. ලංකාවේ ලන්දේසි ආණ්ඩුකාරවරයා හා සහායක සභාව බතාවියානු නිලධාරීන් යටතේ පැවතියත් මෙරට සිටි ආණ්ඩුකාරවරයාගේ හැකියාව හා පෞරුෂය අනුව අවශ්‍ය අවස්ථාවක දී ඍජුව ම ඕලන්දයේ සිටි අධ්‍යක්ෂ මණ්ඩලයෙන් උපදෙස් ලබා ගැනීමට හැකියාව තිබුණි. එකල ශ්‍රී ලංකාව, බතාවිය හා ඕලන්දය අතර ගමනාගමනයට කල් ගත වීමත් සන්නිවේදන කටයුතුවල දුෂ්කරතා ආදියත් නිසා මෙරට සිටි ආණ්ඩුකාරවරයාට හදිසි කටයුතු ආදියෙහි දී ස්වාධීන තීරණ ගැනීමට අවස්ථාව ලැබිණ.

මෙරට සිටි ලන්දේසි ආණ්ඩුකාරවරයාට හා ඔහුගේ උපදේශක සභාවට ලංකාවේ ලන්දේසීන් යටතේ පැවති ප්‍රදේශ පාලනය කිරීමට බලතල තිබුණි. ඒ අනුව අදාළ ප්‍රදේශවල පරිපාලන කටයුතු ගෙන යාම, බදු අය කිරීම, නිලධාරීන් පත් කිරීම, ඉඩම් ප්‍රදානය ආදිය

සිදු කිරීමට හැකි විය. ආණ්ඩුකාරවරයා උපදේශක සභාවේ තීරණවලට අනුව කටයුතු කළේ ය.

දිවයිනේ ලන්දේසීන් යටතේ පැවති ප්‍රදේශ ප්‍රධාන කොටස් තුනකට බෙදා තිබුණි. ඒවා කොමාන්ඩරි යනුවෙන් ද හැඳින්වේ.

**කොළඹ කොමාන්ඩරිය**

ලන්දේසි ආණ්ඩුකාරවරයා යටතේ මෙය පාලනය විය. කොළඹ, කළුතර, මීගමුව ඇතුළත් මුහුදුබඩ ප්‍රදේශ හා හංවැල්ල, අඟුරුවාතොට මල්වාන බලකොටු පිහිටි රට ඇතුළත ප්‍රදේශ මේ යටතේ පැවතුණි.

**ගාලු කොමාන්ඩරිය**

ගාලු කොමාන්ඩරියේ කටයුතු සඳහා වෙන ම කොමදෝරුවරයෙකු පත් කර තිබුණි. බෙන්තර ගඟේ සිට මඩකලපුව දක්වා මුහුදුබඩ ප්‍රදේශ හා ඊට අයත් රට ඇතුළත පෙදෙස් මෙම කොමාන්ඩරිය යටතේ පැවතිණ.

**යාපනය කොමාන්ඩරිය**

යාපන කොමාන්ඩරිය ද වෙන ම කොමදෝරුවරයෙකු යටතේ පැවතුණි. පුත්තලමට උතුරේ සිට වෙරළබඩ තීරයේ යාපනය දක්වා යාපනයට අයත් ප්‍රදේශ හා නැගෙනහිර වෙරළේ මඩකලපුව දක්වා ලන්දේසීන් යටතේ පැවති ප්‍රදේශ යාපන කොමාන්ඩරියට අයත් විය.

ගාල්ල හා යාපනය කොමාන්ඩරිවල කොමදෝරුවරුන් දෙදෙනා කොළඹ ආණ්ඩුකාරවරයා යටතේ කටයුතු කළ යුතු යැයි පිළිගැනීමක් පැවතියත් ප්‍රායෝගික වශයෙන් සිය කටයුතුවල දී ඔවුන්ට ස්වාධීනව ක්‍රියා කිරීමට අවස්ථාව තිබුණි.

ආණ්ඩුකාරවරයා හා කොමදෝරුවරුන්ට පහළින් පැවති පරිපාලනය සිවිල් පාලනය, හමුදා පාලනය හා වෙළෙඳ අංශය වශයෙන් කොටස් තුනකට බෙදී තිබුණි. සිවිල් පාලනය සඳහා එක් එක් කොමාන්ඩරිය යටතේ ද දිසාවනියක් පැවතිණි. දිසාවනියන් කෝරලවලට බෙදා කෝරල පත්තුවලට බෙදා තිබුණි. දිසාවනියේ විවිධ සේවා භාරව මුදලිවරු හා විදානෙවරු සිටියහ. දිසාවනියේ කටයුතු හැසිරවීමේ වගකීම දිසාව භාරයේ පැවතුණි. ලන්දේසීන්ගේ හමුදා සංවිධානය හමුදා කපිතාන්වරුන් යටතේ සිදු විය. වෙළෙඳ අංශය සඳහා ඔපර් හූෆ්ට් (ජ්‍යෙෂ්ඨ වෙළෙන්දා) හා ඔහු යටතේ හූෆ්ට්මන් (ඉඩම් ආදායම් භාර තැනැත්තා) වශයෙන් තවත් නිලධාරීන් පත් කර තිබුණි. මේ අනුව ලන්දේසීන් යටතේ පාලන කටයුතු සංවිධානය වී තිබූ ආකාරය පහත සටහනින් පෙන්නුම් කෙරේ.




ලන්දේසි ආණ්ඩුකාරවරයා යටතේ කොළඹ කොමාන්ඩරිය තුළ පැවති මෙම පරිපාලන ව්‍යූහයට සමාන තත්වයක් සෙසු කොමාන්ඩරි තුළ ද කොමදෝරුවරුන් යටතේ ක්‍රියාත්මක විය. ලන්දේසීන් යටතේ සිවිල් පාලන කටයුතු සංවිධානයේ දී දිසාවෙවරයාට වැදගත් බලයක් හිමි විය. කොමාන්ඩරි තුනට දිසාවෙවරු තිදෙනෙක් වූහ. දිසාවෙ තනතුර සඳහා ලන්දේසි ජාතිකයන් පත් කෙරුණු අතර සිවිල් පාලනයේ පහළ තනතුරු සඳහා දේශීය නිලධාරින් යොදවා ගැනිණ. කෝරාළ, මුදලි, විදානේ, ගම්මුලාදෑනි වැනි තනතුරු මෙන් ම යාපන ප්‍රදේශයේ භාවිත වූ අධිකාරි, කංකානම්, උඩයාර් වැනි පැරණි නිල නාම එසේ යොදා ගත් සාම්ප්‍රදායික දේශීය නිලධාරින්ට උදාහරණ වේ.

### අධිකරණ කටයුතු

ලංකාවේ වර්තමානයේ ක්‍රියාත්මක වන නීති සංග්‍රහයේ කොටසක් වන රෝම ලන්දේසි නීතිය ලන්දේසීන්ගෙන් ලද දායාදයකි. ලන්දේසීන් විසින් ලංකාවේ පැවැති දේශීය

නීති හා සිරිත්විරිත්වලට ගැළපෙන ලෙස රෝම-ලන්දේසි නීතිය සංස්කරණය කොට ලංකාවේ ක්‍රියාත්මක කරන ලදි. ලන්දේසිහු මෙහි පැවැති නෛතික ආයතන ප්‍රයෝජනයට ගත් අතර නව උසාවි පද්ධතියක් ද හඳුන්වා දුන්හ. එම උසාවි පද්ධතිය පහත පරිදි ය.

**රාද් වැන් ජස්ටිට්/ මහාධිකරණය**

මෙය ලන්දේසි අධිකරණ පද්ධතියේ ඉහළ ම උසාවිය විය. එහි ප්‍රධානියා හුෆ්ට් අද්මිනිස්තාර් නමින් හැඳින්වී ය. අපරාධ නඩු විසඳීම මෙහි ප්‍රධාන කාර්ය විය. මෙම උසාවි, කොමාන්ඩරි තුනෙහි ම පිහිටුවා තිබුණි.

**සිවිල් රාද් / සිවිල් උසාවිය**

සිවිල් රාද් හෙවත් සිවිල් උසාවිය ලන්දේසි පාලනය ආරම්භයේ සිට ම කොළඹ, ගාල්ල, යාපනය යන කොමාන්ඩරිවල පිහිටුවා තිබුණි. රික්ස් ඩොලර් 120ට අඩු අලාභ සම්බන්ධ සිවිල් නඩු ද විවාහ සම්බන්ධ නඩු ද මෙම උසාවිවල විභාග විය.

**ලෑන් රාද්/ ඉඩම් උසාවිය**

ලෑන් රාද් හෙවත් ඉඩම් උසාවිය කොළඹ, ගාල්ල, යාපනය, ත්‍රිකුණාමලය, මඩකලපුව, මාතර යන මධ්‍යස්ථානවල පිහිටුවා තිබුණි. දිසාවේවරයා මෙම උසාවිවල සභාපතිවරයා විය. දේශීය ජනතාවට සරල එමෙන් ම වියදම් අඩු, පහසු අධිකරණ ක්‍රමයක් ලෙස මෙම උසාවි ක්‍රමය ඇතැමුන් විසින් හඳුන්වනු ලබයි.

**පිස්කල් උසාවි/ දිසාවේ උසාවි/ ගම්පති උසාවි**

ලන්දේසි අධිකරණ පද්ධතිය තුළ පහළ ම උසාවි ලෙස මෙම උසාවි ක්‍රියාත්මක විය. පරිපාලන ක්ෂේත්‍රයේ පහළ නිලධාරීන් වූ ගම්මුලාදෑනි, විදානෙ, මුදලි, කෝරාල වැනි දේශීය නිලධාරින්ට ද තම තනතුරුවලට අදාළ සුළු අධිකරණ බලතල තිබුණි. යාපන ප්‍රදේශයේ ද ජනතාව අතර පැවති සාම්ප්‍රදායික නීති රීති, නීති වශයෙන් සකස් කොට භාවිතයට ගැනිණ.

## ලන්දේසීන්ගේ ආර්ථික කටයුතු

ශ්‍රී ලංකාවේ තමන් යටතේ පැවති ප්‍රදේශවලින් උපරිම ආර්ථික වාසි ලබා ගත හැකි පරිදි ලන්දේසිහු සිය ආර්ථික ප්‍රතිපත්ති ක්‍රියාත්මක කළහ. ලන්දේසීන් යටතේ පැවති සෙසු ආසියාතික ප්‍රදේශවලින් ලැබෙනවාට වඩා ඉස්තරම් කුරුඳු මෙරට නිෂ්පාදනය වන බව ඔවුහු දැන සිටියහ. එබැවින් කුරුඳු වගාව, කුරුඳු සැකසීම හා වෙළෙඳාම සම්බන්ධයෙන් ලන්දේසීහු විශේෂයෙන් උනන්දු වූහ. මුල් කාලයේ ස්වාභාවිකව වනයේ වැවෙන කුරුඳු ස්වදේශිකයන් ලවා තලවා ගැනීමට යොමු වූ ලන්දේසීහු පසුව කොළඹ, කළුතර, අලුත්ගම හා මාතර වැනි ප්‍රදේශවල කුරුඳු වගා කළහ. පෘතුගීසීන්ගේ කාලයේ සිට කුරුඳු එක්

රැස් කිරීම හා වෙළෙඳාම සඳහා පැවති මහබද්දේ දෙපාර්තමේන්තුව ලන්දේසීන් විසින් වෙන ම කපිතාන්වරයෙකු යටතට පත් කොට වඩා කාර්යක්ෂම කරන ලදි. කුරුඳු තැලීම හා එක්රැස් කිරීමට සාම්ප්‍රදායික රාජකාරී ශ්‍රම ක්‍රමය යොදා ගැනිණි. කුරුඳු තලන්නන්ගේ නම් ලේඛන ගත කොට ඔවුන්ගෙන් උපරිම සේවය ලබා ගැනීමට ලන්දේසීහු ක්‍රියා කළහ. වැඩිහිටි කුරුඳු තලන්නෙකු නිශ්චිත කුරුඳු ප්‍රමාණයක් සමාගමට වාර්ෂිකව නොමිලේ තලා දිය යුතු විය. මෙසේ කුරුඳු වෙළෙඳාමෙන් ලන්දේසීහු අතිවිශාල ලාභයක් ලැබූහ.

කුරුඳු හැරුණු විට පුවක්, මුතු, ඇත්දළ, ගම්මිරිස්, සාදික්කා, එනසාල්, මී ඉටි වැනි ද්‍රව්‍ය හා ඇතුන් වෙළෙඳාම මගින් ද ලන්දේසීහු ආදායම් ඉපයූහ. මීට අමතරව ඉඩම්වලින් අය කළ බදු ද මොවුහු වැදගත් කොට සැලකූහ. ඉඩම්වල අයිතිය හා අය කළ යුතු බදු ආදී විස්තර ඇතුළත් තෝම්බු නමින් හැඳින්වෙන ලේඛන විශේෂයක් පෘතුගීසීන් සකස් කොට තිබුණි. ලන්දේසීහු එය තවත් විධිමත් කරමින් පවුල්, ඉඩම් හා පාසල් වශයෙන් තෝම්බු (Thombo) වර්ග තුනක් පිළියෙල කළහ. පවුල් තෝම්බුවක ගමක වාසය කරන පවුල්වල විස්තර දැක්විණි. ඉඩම් තෝම්බුවක ගමේ පවුල්වලට අයත් ඉඩම්වල විස්තර, වැවිලි වර්ග හා සමාගමට අය විය යුතු බදු මුදල ආදිය දැක්විණි. පාසල් තෝම්බුවක ගමේ දෙමාපියන්ගේ නම්, දරුවන්ගේ උපන් දින, පාසල් හැරගිය දින හා වෙනත් ගමක පදිංචියට ගියේ නම් ඒ දින ආදිය සඳහන් කෙරිණි.

**ලන්දේසීන්ගේ ඉඩම් තෝම්බුවක සඳහන් වූ කරුණු**

- **රත්මලානේ ගම, දොන් බස්තියන් අප්පුහාමිට අයිති දොඹගහවත්ත ඉඩම, පොල් ගස් ගණන 195 යි. අය විය යුතු බද්ද රික්ස් ඩොලර් 1 ස්ටයිවර් 24 යි.**

තෝම්බු සැකසීම මගින් ගමක වැසියන් ගණන, ඉඩම් හා වගාවන් පිළිබඳ විස්තර ආදිය ලබා ගැනීමෙන් සමාගමට අය කර ගත හැකි බදු හා ලබා ගත හැකි සේවය පිළිබඳ තොරතුරු ලබා ගැනීමට ලන්දේසීන්ට හැකි විය.

සහල් හා රෙදිපිළි ආදිය විදේශවලින් ආනයනය කිරීමෙන් වෙළෙඳ සමාගමට වැය වන මුදල් අඩු කර ගැනීම සඳහා මෙන් ම මෙරට පරිභරණයට හෝ වෙළෙඳාමට යොදා ගත හැකි දේ නිපදවීමෙන් අමතර ආදායම් ලබා ගැනීම පිණිස ද ලන්දේසීහු කටයුතු කළහ. ඊට උදාහරණ කිහිපයක් පහත දැක්වේ.

- මුතුරාජවෙල අස්වැද්දීමට කටයුතු කිරීම
- යෝධ වැව හා කන්තලේ වැව ආදී වැව් ප්‍රතිසංස්කරණය කිරීම මගින් වී නිෂ්පාදනය වැඩි කිරීමට උත්සාහ කිරීම
- උක්, ගම්මිරිස්, එනසාල්, කෝපි, මල්බෙරි, ඉන්ඩිගෝ ආදි වගාවන් දියුණු කිරීම



**1.7 රූපය - හැමිල්ටන් ඇළ**

- ❖ රෙදි විවීම, රෙදි සායම් කිරීම, උළු ගඩොල් වැනි කර්මාන්ත දියුණු කිරීම
- ❖ හැමිල්ටන් ඇළ වැනි ඇළ මාර්ග ඉදි කොට ඒවා භාණ්ඩ ප්‍රවාහනයට යොදා ගැනීම
- ❖ යාපන ප්‍රදේශයේ දුම්කොළ වගා කරවීම හා තල් ගස් කඳන් වශයෙන් අපනයනය කිරීම

**සමාජ හා සංස්කෘතික කටයුතු**

**ආගමික ප්‍රතිපත්තිය**

රෙපරමාදු ආගම ලන්දේසීන්ගේ ආගම විය. මුහුදුබඩ ප්‍රදේශ අත්පත් කරගත් පසු සිය ආගම එම ප්‍රදේශවල පතුරුවා හැරීම සඳහා ඔවුහු ක්‍රියාමාර්ග රැසක් අනුගමනය කළහ; ජනතාව රෙපරමාදු ආගමට හරවා ගැනීම පිණිස ඕලන්දයෙන් දේවගැතිවරුන් ගෙන්වා ගත්හ. ලන්දේසීන් යටතේ පැවති කොළඹ, ගාල්ල වැනි ප්‍රදේශවල මෙන් ම යාපනයේ අච්චුවේලි හා මානම්කාඩු වැනි ප්‍රදේශ රැසක ලන්දේසීන් ඉදි කළ දේවස්ථාන හෝ ඒවායේ නටබුන් වර්තමානයේ දී පවා දක්නට ලැබේ.

## අධ්‍යාපන කටයුතු

ආගම් ප්‍රචාරය කිරීම සඳහා **ඉස්කෝල** නම් ආයතන විශේෂයක් ලන්දේසීහු ආරම්භ කළහ. ගම් කිහිපයක් සඳහා එක පාසලක් ආරම්භ කොට ඒ ප්‍රදේශයේ දරුවන් එම පාසලට පැමිණීම අනිවාර්ය කෙරිණි. දරුවන්ගේ මව් බසින් අධ්‍යාපනය ලබා දුන්නේ ය. රෙපරමාදු ආගමේ යාච්ඤාවලට පාසල් විෂය මාලාවේ ප්‍රධාන තැනක් ලැබී තිබිණි. මීට අමතරව ස්වභාෂාව, සංගීතය, දේවධර්මය ආදී විෂයන් ඉගැන්වූ අතර විධිමත් විභාග ක්‍රමයක් ද අරඹන ලදි. පාසල් පරීක්ෂා කිරීමට ඔවුහු නිලධාරි කණ්ඩායමක් පත් කළහ. යුරෝපීයන්ගේ දරුවන් සඳහා වෙන ම පාසල් ආරම්භ කෙරිණ. කොළඹ පිහිටි සෙමනේරිය මගින් ලන්දේසි භාෂාවෙන් උසස් අධ්‍යාපනය ලබාදුන්නේ ය. එසේ ම යාපනය හා මන්නාරම ප්‍රදේශවල ද ලන්දේසීන් විසින් පාසල් ඉදි කරන ලදි. මෙසේ පාසල් මගින් කෙරුණු අධ්‍යාපනය මගින් ද රජයේ තනතුරු හා නම්බුනාම මගින් ද හැකිතාක් දුරට ජනතාව තම ආගමට හැරවීමට ලන්දේසීහු ක්‍රියා කළහ.

ක්‍රි. ව. 1739 දී මුද්‍රණ යන්ත්‍රයක් ලන්දේසීන් මුලින් ම මෙරටට ගෙන ආ අතර එමගින් බයිබලයේ උපුටනයක් මුද්‍රණය කර බෙදා හැරුණි.

## ලන්දේසි පාලනයේ සමාජ හා සංස්කෘතික බලපෑම්

ලන්දේසීහු වර්ෂ 138ක පමණ කාලයක් ලංකාවේ මුහුදුබඩ ප්‍රදේශ පාලනය කළහ. ලන්දේසි පාලනය නිසා ලාංකේය සමාජයට හා සංස්කෘතියට සිදු වූ බලපෑම් බොහෝ අංශ ඔස්සේ විමසා බැලිය හැකි ය. ඒවා පහත පරිදි කෙටියෙන් විමසා බලමු.

- රෝම ගෘහනිර්මාණ ශිල්පය අනුගමනය කරමින් ඉස්තෝප්පුව, සොල්දරය, කුලුනු හා උස් වහල යෙදූ නිවාස ඉදි කිරීම




**1.8 රූපය - ලංකාවේ ඕලන්ද ගෘහ නිර්මාණ**






**1.9 රූපය - ඕලන්ද පිඟානක් සහ කාසියක්**

- විවිධ ආහාර වර්ග රාශියක් හඳුන්වා දීම උදාහරණ - කේක්, අච්චාරු, කොකිස්
- උසාවි ක්‍රමය හඳුන්වා දීම
- මෙරට සමාජයට බර්ගර් (ලංසි) ජනතාව එකතු වීම
- සිංහල හා දෙමළ භාෂාවලට ලන්දේසි වචන විශාල ප්‍රමාණයක් එකතු වීම. පහත සඳහන් වචන ඊට උදාහරණ වේ.

| ගෘහනිර්මාණ හා ගෘහ භාණ්ඩ | නීති ක්‍රමය හා උසාවි | වෙනත් |
|---|---|---|
| සොල්දර<br>තරප්පු<br>බාල්ක<br>ජනේල<br>කාමර<br>ඉස්තෝප්පු<br>ඉස්කුරුප්පු<br>අල්මාරි | නොතාරිස්<br>තෝල්ක | වෙන්දේසි<br>ඉස්කෝල<br>කුවිතාන්සි<br>කන්තෝරු<br>ඔප්පු<br>බූදල් |

## 01 අභ්‍යාසය

පහත සඳහන් මාතෘකාවලට අදාළව කෙටි ප්‍රශ්න ලැයිස්තුවක් සකස් කරන්න.

1. මුහුදුබඩ ප්‍රදේශ ලන්දේසීන්ට යටත්වීම
2. ලන්දේසීන් උඩරට රාජ්‍ය සමග පැවැත්වූ සබඳතා
3. ලන්දේසීන්ගේ පාලන කටයුතු
4. ලන්දේසීන්ගේ සමාජ සංස්කෘතික කටයුතු



## ක්‍රියාකාරකම

1. ශ්‍රී ලංකාවේ මුහුදුබඩ ප්‍රදේශ ලන්දේසීන් යටතට පත්වීම - පාඩම ඇසුරින් ප්‍රශ්න විචාරාත්මක තරගයක් පවත්වන්න.

2. ලන්දේසි පාලන සමයේ මෙරට සංස්කෘතියට එකතු වූ නවාංග පිළිබඳව පහත සඳහන් මාතෘකාවලට අදාළව ඔබේ පන්තිය ඉදිරියේ කථාවක් පවත්වන්න.

    වචන/ ආහාරපාන වර්ග
    ඇඳුම් පැළඳුම්/ භාණ්ඩ වර්ග

# 02 ශ්‍රී ලංකාවේ බ්‍රිතාන්‍ය බලය



## හැඳින්වීම

පෘතුගීසි හා ලන්දේසි යන බටහිර ජාතීන්ට පසුව ඉංග්‍රීසීහු ශ්‍රී ලංකාවට පැමිණියහ. ඉංග්‍රීසීන්ගේ මව් රට එංගලන්තය නොහොත් බ්‍රිතාන්‍යයයි. ලන්දේසීන් සතුව පැවති මෙරට මුහුදුබඩ ප්‍රදේශ 1796 පෙබරවාරි මාසයේ දී ඉංග්‍රීසීන් යටත් කර ගැනීමත් සමඟ දිවයිනේ බ්‍රිතාන්‍ය පාලන සමය ආරම්භ විය. ඉංග්‍රීසීහු 1815 වර්ෂයේ දී උඩරට රාජ්‍යය ද යටත් කර ගනිමින් සමස්ත දිවයින ම බ්‍රිතාන්‍ය යටත් විජිතයක් බවට පත් කර ගත්හ. එතැන් සිට 1948 වර්ෂය දක්වා වසර 133ක කාලයක් ඉංග්‍රීසීන් මෙරට පාලන කටයුතු ගෙන ගිය අතර එමගින් මෙරට ඉතිහාසයට විශාල බලපෑමක් සිදු විය. බ්‍රිතාන්‍යයන් මෙරට පාලන බලය අල්ලා ගත් ආකාරය, ඔවුන්ට විරුද්ධව ස්වදේශිකයන් විසින් ගෙන යන ලද අරගල සහ යටත් විජිත සමයේ මෙරට ආර්ථිකය ආදිය පිළිබඳව මෙම පරිච්ඡේදයේ දී අවධානය යොමු කෙරේ.

## 2.1 බ්‍රිතාන්‍යයන් ශ්‍රී ලංකාවට පැමිණීම හා බලය තහවුරු කර ගැනීම

### ඉංග්‍රීසින් මුහුදුබඩ ප්‍රදේශ යටත් කර ගැනීම

1498 වර්ෂයේ දී ඉන්දියාවට පැමිණි පෘතුගීසීහු 1505 වර්ෂය වන විට ශ්‍රී ලංකාවට පැමිණියහ. 17 වන සියවස ආරම්භයේ දී ආසියාවට පැමිණ එම ශතවර්ෂයේ මැද එනම් 1658 වර්ෂය වන විට ශ්‍රී ලංකාවට ද පැමිණි ලන්දේසීහු එවකට පෘතුගීසීන් සතුව පැවති මෙරට මුහුදුබඩ ප්‍රදේශවල තම බලය පිහිටුවීමට කටයුතු කළහ. ඉන්දියාවට පැමිණ ශතවර්ෂ එකහමාරක් පමණ ගත වන තෙක් ඉංග්‍රීසින් ශ්‍රී ලංකාව කෙරෙහි උනන්දුවක් දැක්වූ බවක් නොපෙනේ. එහෙත් 18 වන සියවසේ අවසන් කාලය වන විට ඉංග්‍රීසීහු මෙරට කෙරෙහි ද තම අවධානය යොමු කළහ. මෙසේ බ්‍රිතාන්‍යයන්ගේ අවධානය ශ්‍රී ලංකාව කෙරෙහි යොමු වීමට බලපෑ හේතු කිහිපයකි. එනම්,

- ශ්‍රී ලංකාවේ පිහිටීමේ වැදගත්කම
- ත්‍රිකුණාමලය වරායේ වැදගත්කම
- වෙළෙඳ කටයුතුවල දී ශ්‍රී ලංකාවේ තිබූ වැදගත්කම

### ශ්‍රී ලංකාවේ පිහිටීමේ වැදගත්කම

ශ්‍රී ලංකාව යනු ඉන්දියානු සාගරයේ දූපතක් වශයෙන් පිහිටි රටක් බව ඔබ ඉගෙන ගෙන ඇත. මෙරටේ පිහිටීම ඉංග්‍රීසින්ට වැදගත් වීමට බලපෑ ප්‍රධාන හේතු තුනක් දැක්විය හැකි ය.

- 18 වන සියවස වන විට ඉන්දියාවේ නැගෙනහිර හා බටහිර වෙරළබඩ ප්‍රදේශවල බලය ගොඩනගාගෙන සිටි ඉංග්‍රීසින්ට එම ප්‍රදේශ සෙසු යුරෝපීයන්ගෙන් ආරක්ෂා කර ගැනීමේ දී ඉන්දියාවට දකුණින් වෙන ම දූපතක් ලෙස පිහිටි ශ්‍රී ලංකාව විශේෂයෙන් වැදගත් වීම
- ශ්‍රී ලංකාවේ පිහිටීම ඉන්දියාවේ ආරක්ෂාවට පමණක් නොව ඉන්දියානු සාගරයේ නාවික ආධිපත්‍ය පවත්වාගෙන යාමටත් වැදගත් වීම
- පෙරදිග හා අපරදිග වෙළෙඳ මාර්ගවල මධ්‍යස්ථානයක් ලෙස ශ්‍රී ලංකාවේ පිහිටීම



**2.1 රූපය - ත්‍රිකුණාමල වරාය ආරක්ෂා කිරීමට ඉංග්‍රීසීන් කාල තුවක්තු සවි කර තිබූ ආකාරය**

### ත්‍රිකුණාමලය වරායේ වැදගත්කම

ඉංග්‍රීසින්ට ත්‍රිකුණාමල වරාය වැදගත් වීමට පහත සඳහන් හේතු බලපෑ බව පෙනේ

- ❖ බෙංගාල බොක්කට හා අග්නිදිග ආසියාවට මුහුණ ලා ඇති ස්වාභාවික වරායක් වීම
- ❖ රට තුළට නෙරා ගිය ස්වාභාවික වරායක් වූ බැවින් අනතුරුදායක සුළි සුළංවලින් නැව් ආරක්ෂා කර ගත හැකි වීම
- ❖ ඉංග්‍රීසින් ඉන්දියානු සාගරයේ දී ප්‍රංශ ජාතිකයන් සමග ගෙන ගිය නාවික සටන්වල දී ත්‍රිකුණාමල වරාය යුධමය අතින් වැදගත් වීම



**2.1 රූපය - සිතියම ත්‍රිකුණාමල වරාය**

### වෙළෙඳ කටයුතුවල දී තිබූ වැදගත්කම

ඉංග්‍රීසින් ආසියාවේ සිදු කරගෙන ගිය වෙළෙඳ කටයුතුවල දී ශ්‍රී ලංකාව විශේෂයෙන් වැදගත් විය. ඊට බලපෑ හේතු කිහිපයකි.

- ඉතා උසස් තත්වයේ කුරුඳු හා වෙනත් කුළු බඩු මෙරටින් ලබා ගැනීමට හැකි වීම (උදාහරණ - ගම්මිරිස්, කරාබුනැටි, එනසාල්)
- කුළු බඩු හැරුණු විට අලි ඇතුන් වැනි සතුන් ද මුතු මැණික් වැනි වෙළෙඳාමේ දී වැදගත් වූ ද්‍රව්‍ය රැසක් ද මෙරට පැවතීම
- බ්‍රිතාන්‍යයන් විසින් නිපදවන ලද භාණ්ඩ මෙරට දී අලෙවි කිරීමට වෙළෙඳපොළක් ගොඩනගා ගැනීමට හැකි වීම

### 1796 වර්ෂයට පෙර ඉංග්‍රීසින් හා උඩරට රාජධානිය අතර පැවති සබඳතා

බ්‍රිතාන්‍යයන් ආසියාවට පැමිණෙන අවධියේ දී මෙරට මුහුදුබඩ ප්‍රදේශ ලන්දේසීන්ගේ පාලනය යටතේ තිබූ අතර උඩරට වෙන ම ස්වාධීන රාජ්‍යයක් වශයෙන් පැවතුණි. ලන්දේසීන්ගෙන් උඩරට රාජ්‍යයට එල්ල වූ හිරිහැර හා තර්ජන හේතුවෙන් ලන්දේසීන් හා උඩරට රජු අතර මත භේද ඇති විය. ඒ අනුව ලන්දේසීන් මෙරටින් පලවා හැරීම සඳහා ඉංග්‍රීසින්ගේ සහය ලබා ගැනීම කෙරෙහි උඩරට පාලකයෝ උත්සුක වූහ.



**2.2 රූපය - ජෝන් පයිබස් කීර්ති ශ්‍රී රාජසිංහ රජු හමු වූ අවස්ථාව නූතන චිත්‍ර ශිල්පියෙකුගේ ඇසින් (චරිත් චතුරංග මහතාගේ අනුග්‍රහයෙනි.)**

එහි ප්‍රතිඵලයක් ලෙස උඩරට රාජ්‍යය හා ඉංග්‍රීසින් අතර ප්‍රධාන දූත ගමන් කිහිපයක් සිදු විය.

- ❖ 1762 වර්ෂයේ දී ජෝන් පයිබස් කීර්ති ශ්‍රී රාජසිංහ රජු හමු වීම
- ❖ 1782 වර්ෂයේ දී හියු බොයිඩ් රාජාධිරාජසිංහ රජු හමු වීම
- ❖ 1795 වර්ෂයේ දී රොබට් ඇන්ඩෘස් රාජාධිරාජසිංහ රජු හමු වීම

ඉංග්‍රීසි දූතයන් මෙරටට පැමිණි මුල් කාලයේ දී ලන්දේසීන් හා ඉංග්‍රීසීන් අතර මිත්‍ර සබඳතාවක් පැවතුණි. ඒ නිසා ලන්දේසීන් සමග ගැටුම් ඇති කර ගැනීමට ඉංග්‍රීසීහු අකමැති වූහ. එහෙයින් මුල් දූත ගමන් දෙකේ දී උඩරට රජුන්ගේ අරමුණු ඉටු නොවුණි. රොබට් ඇන්ඩෘස් 1795 වර්ෂයේ දී රාජාධිරාජසිංහ රජු හමු වූ අවස්ථාවේ දී ඉංග්‍රීසින් ලන්දේසී බලකොටු යටත් කිරීමේ දී රජුගේ සහාය ඉල්ලා සිටියේ ය. රජු ඊට කැමති වුවත් ලන්දේසි බලකොටු යටත් කිරීම ඉංග්‍රීසින් අපේක්ෂා කළ තරම් දුෂ්කර නොවූ හෙයින් ඒ සඳහා රජුගේ සහාය ලබා ගැනීමට ද ඔවුහු ඉදිරිපත් නොවූහ.

### පෙරදිග ඉන්දියා ඉංග්‍රීසි වෙළෙඳ සමාගම මෙරට මුහුදුබඩ ප්‍රදේශවල බලය පිහිටුවීම

ඉංග්‍රීසින්ට පෙර මෙරට මුහුදුබඩ ප්‍රදේශ අල්ලාගෙන සිටි ලන්දේසීන්ගේ මව්රට වූයේ ඕලන්දයයි. ප්‍රංශ විප්ලවයේ ප්‍රතිඵලයක් ලෙස ප්‍රංශය විසින් ඕලන්දය ආක්‍රමණය කොට එහි බලය අල්ලා ගත් හෙයින් ඕලන්ද පාලක පස්වන විලියම් රජතුමා බ්‍රිතාන්‍යයට පලා ගියේ ය. මෙසේ ඕලන්දයේ ප්‍රංශ පාලනයක් බිහි වූ හෙයින් ලන්දේසීන් සතු වූ මෙරට මුහුදුබඩ ප්‍රදේශ ද ප්‍රංශවරුන් යටතට පත් වෙතැයි ඉංග්‍රීසීහු බිය වූහ. මෙම සිදුවීම තම වාසියට හරවා ගත් බ්‍රිතාන්‍යයන්, ලංකාවේ ලන්දේසි බලකොටුවලට ඉංග්‍රීසි හමුදාව ඇතුළත් කර ගත යුතු යැයි ලිපියක් විලියම් රජතුමාගෙන් ලබා ගත්තේ ය. එම ලිපිය එංගලන්තයේ කිව් මාලිගයේ සිට ලියූ බැවින් **කිව් ලිපිය** ලෙස හැඳින්වේ.

එම ලිපිය ලංකාවේ එවකට ලන්දේසි ආණ්ඩුකාරවරයා වූ ෆන් එංගල්බෙක් වෙත ඉදිරිපත් කරනු ලැබුව ද ඔහු ඊට එකඟ නොවී ය. එයට ප්‍රතිචාරයක් ලෙස ඉංග්‍රීසීහු යුධමය ක්‍රියාදාමයකට එළඹුණහ. ඒ අනුව ඉංග්‍රීසීහු 1795 අගෝස්තු 26 වන දින ත්‍රිකුණාමලයේ ලන්දේසීන් සතුව පැවති ෆෙඩ්රික් කොටුවට පහර දී අල්ලා ගත්හ. අනතුරුව පිළිවෙළින් යාපනය, මන්නාරම, කල්පිටිය හා කොළඹ යන ස්ථානවල පිහිටි සියලු ලන්දේසි බලකොටු තමන් යටතට ගැනීමට ඉංග්‍රීසින්ට හැකි විය. 1796 පෙබරවාරි මාසය වන විට ලන්දේසීන් සතුව පැවති සියලු ම මුහුදුබඩ ප්‍රදේශ පෙරදිග ඉංග්‍රීසි වෙළෙඳ සමාගම සතු විය.

1796 වර්ෂයේ සිට 1815 උඩරට රාජධානිය යටත් කර ගැනීම දක්වා මුහුදුබඩ ප්‍රදේශවල බ්‍රිතාන්‍ය පාලනයේ කැපී පෙනෙන අවස්ථා පහත දැක්වේ.

- ❖ 1796 -1798 දක්වා පෙරදිග ඉන්දියා වෙළෙඳ සමාගම යටතේ පාලනය
- ❖ 1798 - 1802 දක්වා ද්විත්ව පාලනය
- ❖ 1802 සිට බ්‍රිතාන්‍ය කිරීටය යටතේ පාලනය

මෙරට මුහුදුබඩ ප්‍රදේශ යටත් කර ගැනීමට සම්පූර්ණ යුධ වියදම් දරන ලද්දේ පෙරදිග ඉන්දියා වෙළෙඳ සමාගම විසිනි. එම යුධ වියදම් පියවා ගැනීම සඳහා මෙන් ම ආදායම් ඉහළ නංවා ගැනීමේ අරමුණ ඇතිව ඉංග්‍රීසි වෙළෙඳ සමාගම විසින් මෙරට පාලනය ගෙන යන ලදි. ඒ අනුව මුහුදුබඩ ප්‍රදේශවලින් වැඩි වශයෙන් බදු අය කර ගැනීම සඳහා සමාගමේ නිලධාරීහු පියවර ගත්හ. එම බදු අය කිරීම් සිදු කළේ මදුරාසියෙන් ගෙන්වා ගත් අවුමිල්දාර් නම් නිලධාරි පිරිසක් යොදාගනිමිනි. සමාගම විසින් පනවන ලද බදු බරින් පීඩනයට පත් වූ මුහුදුබඩ ජනතාව 1797 වර්ෂයේ දී ඉංග්‍රීසින්ට විරුද්ධව විශාල කැරැල්ලක් ඇති කළහ.

## 1797 වර්ෂයේ දී මුහුදුබඩ ප්‍රදේශවල ඇති වූ කැරැල්ල

1797 වර්ෂයේ දී පෙරදිග ඉංග්‍රීසි වෙළෙඳ සමාගමේ පාලනයට එරෙහිව මුහුදුබඩ ප්‍රදේශවල ඇති වූ කැරැල්ලට බලපෑ හේතු කිහිපයකි.

- ❖ ඉංග්‍රීසි වෙළෙඳ සමාගම නව බදු වර්ග කිහිපයක් පැනවීම
  (උදා - පොල් ගස් බද්ද, ලුණු බද්ද, මාළු බද්ද, දුම්කොළ බද්ද)
- ❖ බදු එකතු කිරීමේ දේශීය නිලධාරීන් ඉවත් කොට මදුරාසියෙන් ගෙන්වන ලද අවුමිල්දාර් නම් නිලධාරීන් යෙදවීම නිසා ජනතාව තුළ ඇති වූ විරෝධය
- ❖ සාම්ප්‍රදායිකව තිබූ භාණ්ඩවලින් බදු ගෙවීම වෙනුවට මුදලින් බදු ගෙවීමට සිදු වීම හා මුදල් භාවිතය ප්‍රචලිත නොවූ නිසා ජනතාව ඉන් දැඩි පීඩාවට පත් වීම.

මහත් අපහසුතා මැද කැරැල්ල මර්දනය කළ බ්‍රිතාන්‍යයෝ එය ඇති වීමට මුල් වූ කරුණු සොයා බැලීම සඳහා කර්නල් මියුරන් යටතේ කොමිසමක් පත් කළහ. එය **'ද මියුරන් කොමිසම'** නමින් හැඳින්වේ. මුහුදුබඩ ප්‍රදේශවල ජන ජීවිතය යථා තත්වයට පත් කිරීම සඳහා මියුරන් කොමිසම විසින් යෝජනා කීපයක් ඉදිරිපත් කරන ලදි. එම කොමිසමේ නිර්දේශවලට අනුව වෙළෙඳාමට හුරුව සිටි නිලධාරීන් පරිපාලනයට සම්බන්ධ වීම නිසා මෙවැනි තත්වයක් උද්ගත වූ බව පැහැදිලි කෙරිණ. ඒ අනුව වෙළෙඳ කටයුතු හා පරිපාලන කටයුතු වෙන් වෙන් නිලධාරීන් යටතේ සිදු විය යුතු බව කොමිසම විසින් නිර්දේශ කරන ලදි.

## ද්විත්ව පාලනය (ක්‍රි. ව. 1798 - 1802)

මුහුදුබඩ ප්‍රදේශවල පාලනය ගෙනයාමේ දී ආර්ථික කටයුතු ඉංග්‍රීසි වෙළෙඳ සමාගම විසින් ද දේශපාලන කටයුතු බ්‍රිතාන්‍ය ආණ්ඩුවේ මැදිහත්වීමෙන් ද ගෙන ගිය පාලනය ද්විත්ව පාලනය යනුවෙන් හැඳින්වේ. මේ අනුව වෙළෙඳ සමාගමට තවදුරටත් වෙළෙඳ කටයුතු හා ආදායම එකතු කර ගැනීමට අවසර ලැබුණු අතර පරිපාලන හා යුද්ධ කටයුතු මෙහෙයවීම සඳහා 1798 වර්ෂයේ දී පෙඩ්රික් නෝර්ත් ආණ්ඩුකාරවරයා පත් කෙරිණ.

ද්විත්ව පාලනය පැවති 1798 - 1802 කාලයේ ආණ්ඩුකාරවරයාගේ නිලධාරින් හා වෙළෙඳ සමාගමේ නිලධාරින් වශයෙන් කොටස් දෙකක් ඇති විය. වෙළෙඳ සමාගමේ

නිලධාරින්ගෙන් ආණ්ඩුකාරවරයාට අවශ්‍ය සහාය නොලැබුණි. මේ නිසා පාලනය දුර්වල වී ද්විත්ව පාලනය අසාර්ථක විය.

### මුහුදුබඩ ප්‍රදේශ කිරීට යටත් විජිතයක් වීම

ද්විත්ව පාලනය අසාර්ථක වීම නිසා මෙරට කටයුතු සඳහා බ්‍රිතාන්‍ය ආණ්ඩුවේ පූර්ණ මැදිහත්වීමක් අවශ්‍යව තිබුණි. ඒ අනුව 1802 වර්ෂයේ දී වෙළෙඳ සමාගමට දී තිබූ බලය අවසන් කොට මුහුදුබඩ ප්‍රදේශවල පාලනය සම්පූර්ණයෙන් බ්‍රිතාන්‍ය ආණ්ඩුව යටතට පවරා ගැනිණ. බ්‍රිතාන්‍ය ආණ්ඩුවේ නායකයා රජු වූ බැවින් ද කිරීටය හෙවත් ඔටුන්න මගින් රජු සංකේතවත් වන බැවින් ද, එය කිරීට යටත් විජිත තත්වයක් වශයෙන් ව්‍යවහාර කෙරේ.

### ඉංග්‍රීසින් උඩරට රාජධානිය යටත් කර ගැනීම

උඩරට රාජධානිය යටත් කර ගැනීමේ අරමුණින් ඉංග්‍රීසීහු 1803 වර්ෂය හා 1815 වර්ෂය යන වසරවල දෙවරක් උඩරට ආක්‍රමණය කළහ. 1803 වර්ෂය වන විට උඩරට රජු හා එහි ජනතාව අතර යහපත් සබඳතාවක් තිබූ හෙයින් එම වසරේ දී ඉංග්‍රීසින් සිදු කළ ආක්‍රමණය මුළුමනින් ම අසාර්ථක විය. එහෙත් 1815 වර්ෂය වන විට උඩරට රජුට එහි ජනතාවගේ සහයෝගය නොලැබුණු බැවින් ඉංග්‍රීසින්ගේ අරමුණු ඉටු කර ගැනීමට හැකියාව ලැබුණි.

### 1803 උඩරට ආක්‍රමණය

ඉංග්‍රීසින් මුහුදුබඩ ප්‍රදේශ පාලනය කරමින් සිටින විට උඩරට වෙන ම ස්වාධීන රාජ්‍යයක් පැවතීම ගැන ඔවුහු සතුටු නොවූහ. මේ නිසා ෆෙඩ්රික් නෝර්ත් ආණ්ඩුකාරවරයා උඩරට රාජ්‍යය තමන්ට ගැති තත්වයකට පත් කර ගැනීම හෝ එය යටත් කර ගැනීම කෙරෙහි අවධානය යොමු කළේ ය. ඉංග්‍රීසින්ගේ පාලන ප්‍රදේශයේ සිටි ලාංකිකයන් පවා උඩරට පාලකයා තම රජු ලෙස සැලකීම, පහතරට ඇති වන ඉංග්‍රීසි විරෝධී කැරලිවලට උඩරට රජු උදව් දෙතැයි ඉංග්‍රීසින් කල්පනා කිරීම, ත්‍රිකුණාමලය හා කොළඹ අතර ගොඩබිමින් සබඳතා පැවැත්වීමේ දී උඩරට රාජ්‍යය බාධකයක් වීම, බ්‍රිතාන්‍ය පාලනයට එරෙහිව උඩරට රජු ප්‍රංශවරුන්ගෙන් ආධාර ලබා ගනු ඇතැයි ඉංග්‍රීසින් බියවීම වැනි කරුණු ඉංග්‍රීසින් උඩරට ආක්‍රමණය කිරීමට හේතු විණැයි සැලකිය හැකි ය. 1798 වර්ෂයේ දී රාජාධිරාජසිංහ රජුගේ අභාවයෙන් පසුව කන්නසාමි කුමරා ශ්‍රී වික්‍රම රාජසිංහ නමින් රජ වන විට රජකමට උරුමකම් තිබූ මුත්තුසාමි නමින් තවත් කුමරෙක් සිටියේ ය. කන්නසාමි රජ වූ විට මෙම කුමරා ඉංග්‍රීසින් වෙත පලා ගිය අතර ඉංග්‍රීසින් ඔහුට රැකවරණය දුන්නේ මතු බලාපොරොත්තු ඇතිව ය.

1800 වර්ෂයේ දී මැක්ඩෝවල් සෙනෙවියා යටතේ උඩරටට හමුදාවක් යවා ඉංග්‍රීසින්ට වාසිදායක කොන්දේසිවලට ශ්‍රී වික්‍රම රාජසිංහ රජු එකඟ කරවා ගැනීමට

නෝර්ත් ආණ්ඩුකාරයා උත්සාහ කළ නමුත් ඉංග්‍රීසින් ඉදිරිපත් කළ කොන්දේසි පිළිගැනීමට රජු එකඟ නොවීම නිසා එම ගමන අසාර්ථක විය. අනතුරුව නෝර්ත් ආණ්ඩුකාරවරයා 1803 දී උඩරට ආක්‍රමණයට සැරසුණි. මැක්ඩෝවල්ගේ නායකත්වයෙන් කෙරුණු මෙම ආක්‍රමණයේ දී කොළඹ හා ත්‍රිකුණාමලයේ සිට හමුදා කණ්ඩායම් දෙකක් උඩරටට යැවීමට නෝර්ත් පියවර ගත්තේ ය. මෙම හමුදාවෝ 1803 වර්ෂයේ පෙබරවාරි මාසයේ දී මහනුවර නගරයට ඇතුළු වූහ.

මහනුවර නගරය අල්ලාගත් ඉංග්‍රීසීහු මුත්තුසාමි කුමරුන් උඩරට රජු හැටියට ප්‍රකාශයට පත් කළහ. ශ්‍රී වික්‍රම රාජසිංහ රජු සැඟවී සිටි හෙයින් ඉංග්‍රීසි ගැති තැනැත්තෙකු වූ මුත්තුසාමි රජු හැටියට පිළිගැනීමට උඩරැටියෝ ඉදිරිපත් නොවූහ.

ඉංග්‍රීසින්ට පහරදීමට සූදානම් වූ උඩරැටියෝ වර්ෂා කාලය එළඹෙන තෙක් උපක්‍රමශීලීව සටන පමා කළහ. වර්ෂා කාලය එළඹීමත් සමග සටනට පිවිසි උඩරැටියෝ මහනුවර හා කොළඹ අතර සබඳතා පැවැත්වූ ප්‍රධාන මාර්ග සියල්ල අවහිර කරමින් ඉංග්‍රීසි හමුදාවට අවශ්‍ය ආහාර හා යුධ උපකරණ සැපයීම නවතා දැමූහ. මේ නිසා නගරයට කොටු වූ ඉංග්‍රීසි හමුදාව ආහාර හිඟකම හා මැලේරියාව වැනි රෝග පීඩාදියෙන් මහත් අසරණ තත්වයකට පත් විය. තමන් මරණයේ අභියසට පැමිණි බව වටහා ගත් ඉංග්‍රීසීහු පසු බැසීමට උත්සාහ කළ ද නගරයට ප්‍රවේශ වීමට තිබූ සියලු මාර්ග උඩරැටියන් අවහිර කොට තිබූ බැවින් පසු බැසීමට ඉඩක් නොලැබුණි. මේ අවස්ථාවේ දී උඩරට රජු ලෙස ඉංග්‍රීසින් ප්‍රකාශයට පත් කළ මුත්තුසාමි කුමරුන් තමන් වෙත භාර දෙන මෙන් ශ්‍රී වික්‍රම රාජසිංහ රජු නියෝග කර ඇත. මේජර් ඩේවි විසින් එම නියෝගය වහා ම ඉටු කළ ද මුත්තුසාමි කුමරුන් ඇතුළු ඉංග්‍රීසි හමුදාව උඩරැටියන් විසින් සමූල ඝාතනය කරන ලදි. මේ අනුව උඩරට රාජ්‍ය අල්ලා ගැනීමට ඉංග්‍රීසින් දැරූ ප්‍රථම උත්සාහය දරුණු පරාජයකින් කෙළවර විය.

**තෝමස් මෙට්ලන්ඩ් ආණ්ඩුකාරවරයා**



ෆෙඩ්රික් නෝර්ත් ආණ්ඩුකාරවරයාගේ සේවා කාලය නිම වීමෙන් පසු 1805 වර්ෂයේ දී තෝමස් මෙට්ලන්ඩ් මෙරට ආණ්ඩුකාර තනතුරට පත් විය. නෝත් ආණ්ඩුකාරවරයාට වඩා උපායශීලි තැනැත්තෙකු වූ මෙට්ලන්ඩ් උඩරට රජු හා එහි ජනතාව අතර යහපත් සබඳතාවක් පවතින තෙක් එම රාජධානිය ආක්‍රමණය කිරීමෙන් ඉංග්‍රීසින්ට සාර්ථක ප්‍රතිඵල නෙළා ගත නොහැකි බව දැන සිටියේ ය. මේ නිසා මෙට්ලන්ඩ් ආණ්ඩුකාරවරයා උඩරට රාජධානිය සම්බන්ධයෙන් අනුගමනය කළේ ඉතා ම උපායශීලී ප්‍රතිපත්තියකි.

උඩරට රාජධානිය තුළ එවකට පැවති අභ්‍යන්තර භේද පුළුල් වන ලෙස කටයුතු කිරීමත්, එම රාජධානියේ සියලු තොරතුරු රහසිගතව රැස් කිරීමත්, මෙට්ලන්ඩ්ගේ උපායශීලී ප්‍රතිපත්තියේ කැපී පෙනෙන ලක්ෂණ වේ. මෙම ප්‍රතිපත්ති ක්‍රියාත්මක කිරීම සඳහා හෙතෙම ජෝන් ඩොයිලි නම් දක්ෂ නිලධාරියෙකු යෙදවී ය.

### ජෝන් ඩොයිලි

1774 වර්ෂයේ දී එංගලන්තයේ උපත ලැබූ ජෝන් ඩොයිලි සිය අධ්‍යාපන කටයුතුවලින් පසු රජයේ නිලධාරියෙකු වශයෙන් ශ්‍රී ලංකාවට පැමිණියේ ය. රාජ්‍ය පරිපාලන සේවය හෙවත් සිවිල් සේවයේ නිලධාරියෙකු වශයෙන් මෙරට කටයුතු කරන අතර, ඔහු සිංහල භාෂාව ඉගෙන ගැනීමට ද ක්‍රියා කර ඇත. කාර්යශූර තරුණ නිලධාරියෙකු වූ ජෝන් ඩොයිලි කෙටි කාලයකින් සිංහල භාෂාව හදාරා මෙරට වැසියන්ගේ සිරිත් විරිත් පිළිබඳව ද අවබෝධයක් ලබා ගෙන රජයේ භාෂා පරිවර්තකයෙකු වශයෙන් ද කටයුතු කළේ ය. ඩොයිලිගේ හැකියාවන් පිළිබඳ වටහාගත් මේට්ලන්ඩ් ආණ්ඩුකාරවරයා උඩරට රාජධානියේ අභ්‍යන්තර තොරතුරු සෙවීම සඳහා ඔහු යොදවා ගත්තේ ය.

පහතරටියන් සමග සබඳතා පැවැත්වූ උඩරට නායකයන් මුලින් ඇසුරු කළ ඩොයිලි එම නායකයන් මගින් උඩරට ප්‍රධාන පෙළේ රදලවරුන් සමග සබඳතා ගොඩනගාගෙන ඇත. මේ අනුව පිළිමතලව්ව, මීගස්තැන්න, ඇහැළේපොළ මොල්ලිගොඩ වැනි නායකයන් සමග ඔහු සබඳතා පවත්වා තිබේ. මීට අමතරව විවිධ වෙස් ගත් ඔත්තුකරුවන් මගින් ද ඔහු උඩරට රාජ්‍යයේ තොරතුරු ලබා ගත්තේ ය. ඩොයිලිගේ මෙම දක්ෂ සේවය නිසා කිසි දු යුරෝපීයෙකුට එතෙක් හෙළි කර ගැනීමට නොහැකි වූ උඩරට රාජධානියේ ආරක්ෂක රහස් පවා අනාවරණය කර ගැනීමට ඉංග්‍රීසින්ට හැකියාව ලැබිණ. ඩොයිලි හා උඩරට නායකයන් අතර සබඳතා පිළිබඳ වැදගත් කරුණු රැසක් ඩොයිලිගේ දින පොත තුළින් දැක ගත හැකි ය.

## උඩරට රාජධානියේ අභ්‍යන්තර බල අරගලය

1803 වර්ෂයෙන් පසු උඩරට රාජ්‍යයේ දේශපාලන තත්වය ඉතා නරක අතට හැරෙමින් පැවතුණි. 1803 දී බ්‍රිතාන්‍යයන් උඩරට යටත් කර ගැනීමට උත්සාහ දැරූ අවස්ථාවේ රජු හා ජනතාව අතර පැවති සමගි සම්පන්නභාවය 1815 වර්ෂය වන විට බිඳ වැටෙන්නට විය.

ශ්‍රී වික්‍රම රාජසිංහ රජුගේ පාලන කාලයේ දී උඩරට රාජධානිය තුළ අභ්‍යන්තර බල අරගල උත්සන්න වීම එතෙක් පැවති සමගිය බිඳ වැටීමට බලපෑවේ ය. එම බල අරගල පහත දැක්වෙන ආකාරයෙන් ශීර්ෂ කිහිපයකට බෙදා සාකච්ඡා කළ හැකි ය.

## රජු හා රදල ප්‍රධානීන් අතර ඇති වූ අර්බුද

ශ්‍රී වික්‍රම රාජසිංහ රජු උඩරට රදල ප්‍රධානීන්ගේ බලය බිඳීමට ගෙන ගිය වැඩ පිළිවෙළ නිසා රජු හා රදලයන් අතර අර්බුදයක් ඇති විය. ඒ අතර කැපී පෙනෙන අවස්ථා කිහිපයකි,

- ❖ ඇතැම් රදලවරුන්ට පැවරී තිබූ රාජකාරී රජු තම ඥාතීන් වූ නායක්කාර වංශිකයන් වෙත පැවරීම
- ❖ රට වැසියන්ට හිංසා පීඩා කළ රදලවරුන්ට රජු දඬුවම් පැමිණවීම
- ❖ තමා බලයට පත් කිරීමට ක්‍රියා කළ පිළිමතලව්වේ මහා අධිකාරම්ට මරණ දණ්ඩනය නියම කිරීම
- ❖ රදල බලය වර්ධනය වූ ඇතැම් පළාත් කුඩා පරිපාලන ඒකකවලට බෙදා ඒ සඳහා නව නිලධාරින් හා රදලවරුන් පත් කිරීම
  උදාහරණ - සබරගමුව දිසාව කොටස් දෙකකට බෙදීම
- ❖ රදලවරුන් අතර අර්බුද ගොඩනැගෙන අයුරින් තනතුරු ලබාදීම
  උදාහරණ - පිළිමතලව්වේගේ මරණයෙන් පසු හිස් වූ මහාධිකාරම් ධුරය සඳහා ඇහැලේපොළ පත් කිරීම, ඇහැලේපොළගේ දෙවන අධිකාරම් ධුරයට ඔහුගේ විරුද්ධවාදියෙකු වූ මොල්ලිගොඩ පත් කිරීම.

## රජු හා භික්ෂූන්වහන්සේලා අතර ඇති වූ අර්බුද

- ❖ පරණාතල කුඩා උන්නාන්සේ ඇතුළු භික්ෂූන් වහන්සේලා කිහිප නමකට රාජ ද්‍රෝහී චෝදනා එල්ල කොට මරණීය දණ්ඩනය පැනවීම
- ❖ දළදා මාලිගය අවට සිදු වූ නවීකරණ කටයුතු සඳහා භික්ෂූන් වහන්සේලාගේ එකඟත්වය ලබා නොගැනීම
- ❖ බෝගම්බර වැව විශාල කිරීමේ කටයුත්තේ දී පෝයමළු විහාරයත්, සතර දේවාලත් ඉවත් කිරීමට රජු කළ යෝජනාව බෞද්ධ විරෝධී ක්‍රියාවක් ලෙස භික්ෂූන් වහන්සේලා සැලකීම

## රදල ප්‍රධානීන් අතර ඇති වූ අර්බුද

- ❖ මොල්ලිගොඩ හා ඇහැලේපොළ අතර ඇති වූ අර්බුද හේතුවෙන් උඩරට රාජ්‍යයේ දේශපාලන එක්සත් භාවය හීන වී යාම
- ❖ උඩරට රාජ්‍යයට අයත් පරිපාලන ප්‍රදේශවල ඇතැම් රදල ප්‍රධානීන් එකිනෙකාට විරුද්ධව ක්‍රියා කිරීම නිසා රජු හා ඔවුන් අතර සබඳතාව ගිලිහී යාම

## රජු හා සාමාන්‍ය ජනතාව අතර ඇති වූ අර්බුද

උඩරට රාජ්‍යයේ අර්බුදයන්හි උච්චතම අවස්ථාව ලෙස සැලකිය හැක්කේ රජු හා මහජනතාව අතර ඇති වූ දුරස්ථ භාවයයි. මුල දී මෘදු ගතිගුණවලින් යුතු වූ ශ්‍රී වික්‍රම රාජසිංහ රජු පසුව මත්පැන් පානයට පෙළඹී ඉතා කෲර ලෙස හැසිරෙන්නට විය. සබරගමුව ප්‍රදේශයේ ඇති වූ කැරැල්ල පහසුවෙන් මර්දනය කළ නමුත් කැරැල්ලට සම්බන්ධ යැයි සැක කළ සියයකට වැඩි පිරිසකට මරණ දණ්ඩනය පැනවීමට රජතුමා ක්‍රියා කළේ ය. තමාට විරුද්ධව කැරලි ගැසූ ඇහැලේපොළ අල්ලා ගැනීමට නොහැකි වීම නිසා රජු ඔහුගේ බිරිඳ හා දරුවන් අත්අඩංගුවට ගෙන අමානුෂික ලෙස දඬුවම් පැමිණවීම මහජනතාවගේ දැඩි කනස්සල්ලට හේතු වී ඇත. මහනුවර නගරයේ රාජකාරී සේවයට පැමිණි සබරගමුව, සතර කෝරළය වැනි ප්‍රදේශවල ජනතාවට රාත්‍රී කාලයේ අගනුවර නවාතැන් ගැනීම රජු තහනම් කර තිබුණි. මෙය එම ප්‍රදේශවල ජනතාවට මහත් හිරිහැරයක් වූ බව වාර්තා වේ. උඩරට භික්ෂූන් වහන්සේලා හා රදළ ප්‍රධානීන් කෙරෙහි මහජනතාව තුළ විශාල ගෞරවයක් තිබූ අතර රජු භික්ෂූන් වහන්සේලා ඝාතනය කරවීමත්, රදලවරුන් සැකයට භාජන කිරීමත් මහජනතාව හා රජු අතර සබඳතාව බිඳ වැටීමට ද බලපෑවේ ය.

## 1815 උඩරට ආක්‍රමණය හා රජු අත් අඩංගුවට ගැනීම



**2.3 - රූපය ශ්‍රී වික්‍රම රාජසිංහ රජු අත්අඩංගුවට ගැනීම**



**2.4 රූපය**
**ශ්‍රී වික්‍රම රාජසිංහ රජුගේ බිසව වූ රංගම්මා දේවිය**

1815 වර්ෂය වන විට උඩරට ඇතිව තිබෙන මෙම ව්‍යාකූල තත්වය තමන්ට වාසි ලබා ගැනීමට හොඳ ම අවස්ථාව බව මේ වන විට ආණ්ඩුකාර ධූරය ඉසිලූ රොබට් බ්‍රවුන්රිග් තේරුම් ගත්තේ ය.

ජෝන් ඩොයිලිගේ බුද්ධි තොරතුරු මත හා මේ වන විට ඉංග්‍රීසින් වෙත පලා ගොස් සිටි ඇහැලේපොළගේ උපදෙස් මත උඩරට ආක්‍රමණයට වැඩ පිළිවෙළ සැකසිණි. උඩරැටියන් රජු කෙරෙහි කලකිරී සිටි බැවින් වැසියන්ගේ ආරක්ෂාව සඳහා ඉංග්‍රීසි හමුදා උඩරටට පැමිණෙන බව නිවේදනය කරමින් තම හමුදාව උඩරටට ඇතුළු කිරීමට බ්‍රවුන්රිග් උපායශීලීව ක්‍රියා කළේ ය.

කොළඹ, ගාල්ල, මීගමුව, ත්‍රිකුණාමලය හා මඩකලපුව යන ප්‍රදේශවලින් පිටත් වූ සේනාංක අටක් මහනුවර බලා පිටත් විය. ඉංග්‍රීසි හමුදාව කිසි දු උපද්‍රවයකින් තොරව මහනුවරට ඇතුළු වූ අතර මුල දී තමාගේ ආරක්ෂාවට සිටි ජනතාව හා රදළයන් තමා වටා නොමැති බව වටහා ගත් ශ්‍රී වික්‍රම රාජසිංහ රජතුමා බිසෝවරුන් දෙදෙනා සමග මැද මහනුවරට පලා ගියේ ය. මැද මහනුවර බෝමුරේ නැමති ස්ථානයේ සැඟවී සිටි රජු හා බිසෝවරුන් දෙදෙනා අල්ලා ගන්නා ලද්දේ උඩරැටියන් පිරිසක් විසිනි. අනතුරුව ඩොයිලිගේ ආරක්ෂාව යටතට පත් වූ රජු හා බිසෝවරුන් දෙදෙනා පසුව කොළඹට රැගෙන ආ අතර 1816 දී ඉන්දියාවේ වෙල්ලෝරයට පිටුවහල් කරන ලදි. එහි සිරගතව සිටිය දී ඇති වූ උදරාබාධයක් හේතුවෙන් රජු පසුව මරණයට පත් විය. ශ්‍රී වික්‍රම රාජසිංහ රජු අත්අඩංගුවට ගැනීමත් සමඟ පෘතුගීසීන් හෝ ලන්දේසීන් නොලත් ජයක් උඩරට දී ලබා ගැනීමට ඉංග්‍රීසිහු සමත් වූහ. එබඳු තත්වයක් ඇති වූයේ ඉංග්‍රීසින්ගේ උපායශීලිත්වය හා උඩරට රාජධානිය තුළ පැවති අභ්‍යන්තර බල අරගල හේතුවෙනි.



**2.5 රූපය - උඩරට ගිවිසුම අත්සන් කිරීමේ අවස්ථාව**

## උඩරට ගිවිසුම අත්සන් කිරීම

ශ්‍රී වික්‍රම රාජසිංහ රජු ඉංග්‍රීසින්ගේ අත්අඩංගුවට පත් වූයේ උඩරට රදලවරුන්ගේ සහාය ඉංග්‍රීසින්ට ලැබුණු බැවිනි. මේ නිසා එකී රදලවරුන් සමග ගිවිසුමක් ඇති කර ගැනීමෙන් තමන් ලැබූ ජය තවදුරටත් තහවුරු කර ගැනීමට ඉංග්‍රීසීහු කටයුතු කළහ. 1815 වර්ෂයේ මාර්තු 2 වන දින මහනුවර මගුල් මඩුවේ දී ගිවිසුම අත්සන් කිරීමට පෙර ඉංග්‍රීසි භටයෙකු සිංහල කොඩිය පහත දමා ඉංග්‍රීසි කොඩිය ඔසවනු දුටු වාරියපොළ ශ්‍රී සුමංගල හිමියෝ නිර්භීතව ඉදිරියට පැමිණියහ. ගිවිසුම අත්සන් කිරීමට පෙර ඉංග්‍රීසින්ට මේ රටේ අයිතියක් නැතැයි ප්‍රකාශ කරමින් ඉංග්‍රීසි කොඩිය පහත හෙළා උන්වහන්සේ නැවතත් සිංහල ධජය එසවූ බවට ජනප්‍රවාද පවතී. මාර්තු දෙවන දින ප්‍රකාශයට පත් කරන ලද ගිවිසුම සඳහා බ්‍රිතාන්‍යයේ III ජෝර්ජ් රජු වෙනුවෙන් රොබට් බ්‍රවුන්රිග් ආණ්ඩුකාරවරයා ද උඩරට වෙනුවෙන් රදල ප්‍රධානීහු ද අත්සන් තැබූහ. එය 1815 උඩරට ගිවිසුම යනුවෙන් හැඳින්වේ. ඇතැම් රදලවරුන් මාර්තු 10 දින මෙම ගිවිසුමට අත්සන් තැබූ බව ඩොයිලිගේ දින පොතෙන් පෙනේ. උඩරට ගිවිසුම ප්‍රධාන වගන්ති 12කින් සමන්විත විය. ඒ අනුව වැදගත් වගන්ති කිහිපයක ඇතුළත් කරුණු පහතින් දැක්වේ.

❖ **2 වන වගන්තිය** - ශ්‍රී වික්‍රම රාජසිංහ රජු සිහසුනෙන් නෙරපන ලද බව ද ඔහුගේ සියලු ම ඥාතීන්ට උඩරට සිහසුන පිළිබඳ තිබූ සෑම අයිතිවාසිකමක් ම අහෝසි වූ බව ද සඳහන් වේ.

❖ 4 වන වගන්තිය - උඩරට සාම්ප්‍රදායික නිලධාරීන් වූ මොහොට්ටාල, කෝරාල, විදානෙවරුන් ඇතුළු රදලයන් සතු තනතුරු හා අයිතිවාසිකම් ආරක්ෂා කරන බව දැක්වේ.

❖ 5 වන වගන්තිය - රටවැසියන් අදහන බුද්ධාගම හා දේවාගම් ද භික්ෂූන්වහන්සේලා හා වෙහෙර විහාර ද ආරක්ෂා කරන බව සඳහන් වේ.

❖ 6,7 වගන්තිය - අංග ඡේදනය වැනි පැරණි දඬුවම් ක්‍රම අහෝසි කරන බව හා මරණ දඬුවම පැමිණවීම ආණ්ඩුකාරවරයාගේ බලය මත සිදු කරන බව දැක්වේ.




**2.6 රූපය - උඩරට ප්‍රභූවරුන් 1815 උඩරට ගිවිසුමට අත්සන් තබා ඇති ආකාරය**



**2.7 රූපය - මහනුවර මගුල් මඩුව**

## 01 අභ්‍යාස

"බ්‍රිතාන්‍යයන් ශ්‍රී ලංකාව යටත් කර ගැනීම" යන මාතෘකාව යටතේ පුවත්පතකට ලිපියක් ලියන්න

### 1818 නිදහස් සටන

1815 වර්ෂයේ දී උඩරට රාජධානිය බ්‍රිතාන්‍යයට යටත් වීමත් සමග එතෙක් උඩරැටියන්ට හුරු පුරුදුව පැවති පාලන ක්‍රමයේ යම් යම් වෙනස්කම් ඇති විය. සාම්ප්‍රදායික පාලනය යටතේ උඩරට වැසියන්ගේ දුක් ගැනවිල්ලක් ඉදිරිපත් කොට සහනයක් ලබා ගත හැකි රජෙක් උඩරට සිටියේ ය. රාජධානිය යටත් වීමත් සමග බ්‍රිතාන්‍ය රජතුමා උඩරට ප්‍රදේශවලත් රජු බවට පත් වූ නමුත් ඔහු උඩරැටියන් කිසි දා දැක නැති මෙරට ජීවත් වූ අයෙකු නොවී ය. එනිසා තමන් අරාජික යැයි හැඟීමක් උඩරැටියන් තුළ ඇති විය.

උඩරැටියන් කවර කලෙක වත් නොදුටු පරිදි බ්‍රිතාන්‍ය සොල්දාදුවෝ නගරය පුරා සංචාරය කළහ. ඔවුන්ගේ භාෂාව, සිරිත් විරිත් හා ආචාර සමාචාර මෙහි වැසියන්ට හුරු පුරුදු ඒවා නොවී ය. නව පාලනය යටතේ රදලයන්ගේ තත්වය ද පිරිහිණ. දේශීය නිලධාරීන්ට උඩරට වැසියන් ගරු බුහුමන් දැක්වූ නමුත් ඉංග්‍රීසි සොල්දාදුවන්ගෙන් එබඳු ගෞරවයක් නොලැබිණ.

ඉංග්‍රීසින්ගේ බදු ප්‍රතිපත්තිය නිසා රදලයන්ගේ සාම්ප්‍රදායික ආදායම් මාර්ගවලට පහර වැදුණි. විදේශීය පාලනය නිසා ස්වකීය ආගම හා සංස්කෘතිය අනතුරට පත් වේ යැයි ද උඩරැටියන් තුළ හැඟීමක් පැවතිණ. මෙබඳු කරුණු නිසා අහිමි වී ගිය නිදහස යළි දිනා ගැනීමේ සටනක් ඇරඹීමට උඩරැටියෝ කටයුතු කළහ.

### 1818 සටනට තුඩු දුන් හේතු

- රජෙකු නොමැති වීම නිසා ජනතාව තුළ ඇති වූ කලකිරීම
- බ්‍රිතාන්‍යයන්ගේ පාලනය යටතේ බුදු දහම විනාශ වෙතැයි බියක් ඇති වීම
- දේශීය සම්ප්‍රදායන් හා සිරිත් විරිත් නොසලකා බ්‍රිතාන්‍යයන් සිදු කරනු ලැබූ පරිපාලන හා නීති ප්‍රතිසංස්කරණ නිසා ජන ජීවිතය වියවුල් වීම
- රදල ප්‍රධානීන්ගේ බලතල, වරප්‍රසාද හා ආදායම් මාර්ග සුරක්ෂිත නොවීම
- 1818 නිදහස් සටන සඳහා බලපෑ ආසන්නතම හේතුව වූයේ බහුතර සිංහල ජනයා වාසය කළ වෙල්ලස්සේ මඩිගේ මුහන්දිරම් වශයෙන් හජ්ජි මරික්කාර් නැමති මුස්ලිම් ජාතිකයෙකු පත් කිරීම නිසා සිංහල ජනයා අතර ඇති වූ විරෝධයයි

## සටන ආරම්භ වීම හා ව්‍යාප්ත වීම

ඉංග්‍රීසි පාලනය කෙරෙහි උඩරැටියන් තුළ කලකිරීමක් පවතින අතරතුර උඩරට රජු හැටියට පෙනී සිටි දොරේසාමි නැමැත්තෙක් වෙල්ලස්ස ප්‍රදේශයේ සිට ජනතාව සංවිධානය කිරීමට පටන් ගත්තේ ය. මේ බව දැන ගත් ඌව ඒජන්තවරයා දොරේසාමි අල්ලා ගැනීම සඳහා හජ්ජි මරික්කාර් ඇතුළු පිරිසක් වෙල්ලස්ස ප්‍රදේශයට යැවූ නමුත් සටන්කාමීන් අතින් හජ්ජි මරික්කාර් මරණයට පත් විය. දොරේසාමි අල්ලා ගැනීම සඳහා නැවත වතාවක් බදුල්ලේ උපඒජන්තවරයා වූ විල්සන් හා ලෙප්ටිනන්ට් නිව්මන් වෙල්ලස්ස බලා පිටත්ව ගිය නමුත් සටන් කරුවන් අතින් විල්සන් මරුමුවට පත් විය. මෙහි දී ඇති වූ ගැටුමත් සමග ඌව වෙල්ලස්ස සටන සුළුවෙන් නොසැලකිය යුතු බව ඉංග්‍රීසීහු තේරුම් ගත්හ.

සටන ව්‍යාප්ත වනු දුටු ඉංග්‍රීසීහු ඒ වන විට ඌව දිසාව භාරව සිටි මොනරවිල කැප්පෙටිපොළ එය මර්දනය කිරීමට පිටත් කළහ. සටනට සහයෝගය දෙන ලෙසට වෙල්ලස්ස ජනතාව කළ ඉල්ලීම පිළිගත් කැප්පෙටිපොළ දිසාව ඉංග්‍රීසින්ගෙන් ලබා ගත් ආයුධ නැවත භාර දී සටනට එක් වූවා පමණක් නොව එයට නායකත්වය දීමට ද කටයුතු කළේ ය. මෙතැන් සිට කැප්පෙට්ටිපොළ නිදහස් සටනේ කැපී පෙනෙන නායකයෙකු බවට පත් විය.

වෙල්ලස්ස ප්‍රදේශයෙන් ආරම්භ වූ සටන ඉතා කෙටි කාලයක් තුළ දී දුම්බර හේවාහැට, හාරිස්පත්තුව, මාතලේ, නුවර කලාවිය, හත්කෝරළය හා සබරගමු ප්‍රදේශ දක්වා ව්‍යාප්ත විය.

## නිදහස් සටනේ නායකයන් කිහිපදෙනෙක්

**කැප්පෙටිපොළ නිලමේ**
**මඩුගල්ලේ දිසාව**
**කිවුලෙගෙදර මොහොට්ටාල**
**පිළිමතලව්වේ දෙවන අධිකාරම්**
**බූටෑවේ රටේ රාල**
**කොහුකුඹුරේ රාල**

කැප්පෙටිපොළ නිලමේ ඌව වෙල්ලස්ස සටන්කරුවන්ට නායකත්වය සැපයූ අතර මඩුගල්ලේ හා උඩගබඩා නිලමේ දුම්බර හා තුම්පනේ ප්‍රදේශයන්ට ද පිළිමතලව්වේ හත් කෝරළයට ද නායකත්වය දෙමින් සටන මෙහෙයවූහ.

උඩරැටියන් සතු වූ ගරිල්ලා සටන් ක්‍රම නිසා බ්‍රිතාන්‍යයන්ට මහත් අලාභහානි සිදු විය. දළදා වහන්සේ රහසිගතව දළදා මාලිගයෙන් පිටමන් කර සටන්කාමීන් වෙත ලබා ගැනීමට හැකි වීම නිසා සිංහල සේනා තවත් ධෛර්යවත් විය. 1818 මැයි මාසය වන විට උඩරට බලය බ්‍රිතාන්‍යයන්ගෙන් අහිමි වන්නට ආසන්න තත්වයක් උදා වූ අතර ඉංග්‍රීසීහු උපරිම ශක්තිය යොදවා සටන මර්දනය කිරීමට කටයුතු කළහ.



2.8 රූපය - කැප්පෙටිපොළ නිලමේ

### සටන අසාර්ථක වීම

උඩරට බලය තමන්ට අහිමි වේ යැයි බිය වූ බ්‍රිතාන්‍යයෝ සටන මර්දනය කිරීම සඳහා මාර්ෂල් ලෝ හෙවත් යුධ නීතිය පනවා බිම් පාළු ප්‍රතිපත්තිය අනුගමනය කළහ. මේ අනුව සාමාන්‍ය මිනිසුන්ගේ ගේ දොර, වගාව, ආහාර ඇතුළු දේපළ ගිනි තබා විනාශ කොට සටන අඩපණ කිරීමට කටයුතු කෙරිණ. මේ හේතුවෙන් සටන්කරුවන් මහත් අපහසුතාවකට පත් වූ අතර කෙටි කාලයක් තුළ සටන අසාර්ථක අතට පෙරළිණ.

### සටන අසාර්ථක වීමට බල පෑ හේතු

- සටන විධිමත් ලෙස සංවිධානය වී නොතිබීම
- ඉංග්‍රීසින් විසින් සටන අඩපණ කිරීමට යොදා ගත් දැඩි මර්දනකාරී ප්‍රතිපත්තියට මුහුණදීමට සටන්කරුවන්ට නොහැකි වීම
- සටන මෙහෙයවූ නායකයන් අතර තිබූ පෞද්ගලික අමනාපකම්
- ඉංග්‍රීසින්ගේ ආයුධ ශක්තියට මුහුණදීමට සටන් කරුවන්ට නොහැකි වීම
- රජු ලෙස පෙනී සිටි දොරේසාමි නැමැත්තා නියම දොරේසාමි නොවන බව හෙළි වීම නිසා සටන් කරුවන් අධෛර්යට පත් වීම

### සටනේ ප්‍රතිඵල

- සටන මෙහෙයවූ කැප්පෙටිපොළ, මඩුගල්ලේ වැනි නායකයන් යුධ අධිකරණයක් මගින් වැරදිකරුවන් කොට හිස ගසා මරා දැමීම
- ඇහැළේපොළ ඇතුළු තවත් පිරිසක් මුරුසි දිවයිනට පිටුවහල් කිරීම

- 1815 වර්ෂයේ උඩරට ගිවිසුම නොසලකා 1818 උඩරට ප්‍රකාශනය මගින් බ්‍රිතාන්‍ය බලය තහවුරු කර ගැනීම

- උඩරට රදල ප්‍රධානීන්ගේ එතෙක් පැවති බලතල හා වරප්‍රසාද අහෝසි කොට එම බලය ඉංග්‍රීසි නිලධාරීන් වෙත පැවරීම

## 1848 නිදහස් සටන

බ්‍රිතාන්‍යයන්ගේ පාලනයෙන් පීඩාවට පත් වූ උඩරැටියෝ තමන්ගේ රජෙකු බිහි කර ගැනීමේ අභිලාෂයෙන් විදේශ පාලනයට එරෙහිව 1848 වර්ෂයේ දී නැවත වරක් නැගී සිටියහ. එය දෙවන නිදහස් අරගලය ලෙස හැඳින්වේ. 1818 වර්ෂයේ ප්‍රථම නිදහස් අරගලය උඩරට රදල ප්‍රධානීන්ගේ නායකත්වයෙන් ආරම්භ වුව ද 1848 වර්ෂයේ සටන පොදු ජනතාව අතරින් මතු වූ නායකයන්ගෙන් ආරම්භ වීම කැපී පෙනෙන ලක්ෂණයකි.

## 1848 සටන ඇති වීමට බල පෑ හේතු

### 1833 කෝල්බෲක් ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණවල බලපෑම

1848 නිදහස් සටන සඳහා කෝල්බෲක් යෝජනාවලින් බලපෑමක් ඇති විය.

- කෝල්බෲක් ප්‍රතිසංස්කරණ මගින් වතු වගාව ආරම්භ කළ අතර ඒ සඳහා ඉඩම් විකිණීමේ ප්‍රතිපත්තියක් ක්‍රියාත්මක විය. 1840 වර්ෂයේ පැනවූ ඉඩම් පනත මගින් නීත්‍යනුකුල අයිතිය තහවුරු කළ නොහැකි ඉඩම් රාශියක් රජයට පවරා ගන්නා ලද අතර එමගින් සාමාන්‍ය ජනයාට ගොවිබිම් හා ඉඩම් රාශියක් අහිමි විය.

- වතු වගාව කෙරෙහි බ්‍රිතාන්‍යයන්ගේ ප්‍රමුඛ අවධානය යොමු වීම හේතුවෙන් දේශීය කෘෂිකර්මාන්තය අඩපණ වූ අතර ගොවිතැන් පාළු වී යාම නිසා ග්‍රාමීය ජන ජීවිතය බිඳ වැටීම.

- ග්‍රාමීය ප්‍රදේශයන්හි වැව් අමුණු හා ඇළ, වේලිවල නඩත්තු කටයුතු මෙන් ම ග්‍රාමීය ප්‍රදේශයන්හි සුළු ආරවුල් විසඳූ ගම් සභාව අඩපණ වීම නිසා ග්‍රාමීය ජීවන රටාව බිඳ වැටීම

- රජය හා මහජනතාව අතර සමීපතාව දුරස්වීම හේතුවෙන් ජනතාවගේ අවශ්‍යතාවන් හඳුනා ගැනීමට පාලකයන්ට නොහැකි වීම

- බ්‍රිතාන්‍ය පාලනය යටතේ බුදු දහම නොසලකා හැරීම හා උඩරට සුරාසැල් ඇති කිරීම හේතුවෙන් සමාජයේ සාරධර්ම පිරිහී යෑම

- ටොරින්ටන් සාමිවරයාගේ නව බදු ප්‍රතිපත්තිය

කෝපි වෙළඳාමෙන් රජයට ලැබුණු ආදායම අඩු වීම නිසා ආණ්ඩුවට අවශ්‍ය මුදල් ලබා ගැනීමට එවකට ආණ්ඩුකාරවරයා වූ ටොරින්ටන්සාමි විසින් නව බදු වර්ග රැසක් පනවන ලදි. එසේ නව බදු පැනවීම සටනට තුඩු දුන් ආසන්න හේතුව විය. එම බදු වර්ග කිහිපයක් මෙසේ ය.

- මුද්දර බද්ද
- තුවක්කු බද්ද
- වෙළෙඳ සැල් බද්ද
- බලු බද්ද
- කරත්ත බද්ද
- ඔරුපාරු බද්ද
- ඇඟ බද්ද

**සටන ආරම්භ වීම**

ටොරින්ටන් සාමිවරයා විසින් පනවන ලද නව බදු වර්ගවලට විරෝධය දැක්වීම සඳහා දැවැන්ත උද්ඝෝෂණයක් දිවයිනේ ප්‍රදේශ රැසක ම ඇති වන්නට විය. ඇඟ බද්ද, බලු බද්ද හා තුවක්කු බද්දට එරෙහිව ජනතාව තුළින් දැඩි විරෝධයක් මතු විය. 1848 ජූලි මස දුම්බර රටේ මහතා වූ මඩුගල්ලේගේ ප්‍රධානත්වයෙන් එවකට මහනුවර ඒජන්තවරයා හමු වීමට ගිය බදු විරෝධීන් පිරිසක් විසුරුවා හැරීමට පැමිණි පොලිස් නිලධාරී ලොකු බණ්ඩා දුණුවිල මහතාට අසු පිටින් වැටෙන තුරු උද්ඝෝෂකයෝ පහර දුන්හ. මෙසේ ඇති වූ විරෝධය බ්‍රිතාන්‍ය පාලනයට එරෙහි සටනක් බවට පරිවර්තනය වීමට වැඩි කල් ගත නොවී ය. සටනේ ප්‍රධාන මධ්‍යස්ථානය වූයේ මාතලේ ප්‍රදේශයයි. 1848 ජූලි මාසය වන විට මාතලේ, කුරුණෑගල, නුවරකලාවිය, තමන්කඩුව, හාරිස්පත්තුව සටන්කරුවන් අතට පත් වී තිබුණි. සටන්කාමීන් මහනුවර අල්ලා ගැනීමට උත්සාහ දැරුව ද එය අසාර්ථක විය.

**සටනේ නායකයන් කිහිප දෙනෙක්**

**ගොංගාලේගොඩ බණ්ඩා හෙවත් පැලියගොඩ ඩේවිඩ්**

**පුරන් අප්පු හෙවත් ප්‍රැන්සිස්කෝ**

**ඩිංගිරාල**

1848 ජූලි මස ගොංගාලේගොඩ බණ්ඩා **ශ්‍රී වික්‍රම සර්වසිද්ධි** නමින් දඹුල්ලේ දී ඔටුනු පැළඳි බවත් මේ සඳහා විශාල ජන සංඛ්‍යාවක් සහභාගි වූ බවත් සමකාලීන වාර්තාවල දැක්වේ.

## සටන අසාර්ථක වීම

- ❖ ආණ්ඩුවේ නව බදු ප්‍රතිපත්තියට එරෙහිව උඩරට මෙන් ම පහතරට ප්‍රදේශවලින් ද විරෝධතා මතු වුවත් 1848 සටන උඩරට ප්‍රදේශ කිහිපයක පමණක් පැතිරිණ.
- ❖ සටන ආරම්භයේ දී ම සිය හමුදා උපායශීලීව මෙහෙයවමින් ඉංග්‍රීසීහු එය ව්‍යාප්ත වීම පාලනය කර ගත්හ. මේ නිසා මාතලේ, කුරුණෑගල, මහනුවර වැනි ප්‍රදේශ කිහිපයකට පමණක් සටන සීමා විය.
- ❖ ආණ්ඩුකාර ටොරින්ටන් සාමිවරයා මාර්ෂල් ලෝ හෙවත් යුධ නීතිය පනවා දින කිහිපයක් ඇතුළත සටන මර්දනය කොට සටන මෙහෙයවූ නායකයන් අත්අඩංගුවට ගැනීමට කටයුතු කළේ ය.
- ❖ කඩහපොළ හිමි, පුරන් අප්පු සහ ඩිංගිරාල යුධ අධිකරණයක් මගින් වරදකරුවන් කොට වෙඩි තබා ඝාතනය කරන ලදි. ගොංගාලේගොඩ බණ්ඩාට කස පහර දී රටින් පිටුවහල් කෙරිණ.
- ❖ මෙසේ නායකයන් අත්අඩංගුවට ගෙන ඔවුන්ට දඬුවම් පැමිණවීමත් සමග බ්‍රිතාන්‍යයට එරෙහිව ඇති වූ දෙවන නිදහස් අරගලය ද පරාජයෙන් කෙළවර විය.

## සටනේ ප්‍රතිඵල

- ❖ සටන අවසානයේ ඊට හේතු සොයා බැලීම සඳහා බේලි මහතාගේ මූලිකත්වයෙන් කමිටුවක් පත් කිරීම
- ❖ කමිටුවේ යෝජනා අනුව ටොරින්ටන් ආණ්ඩුකාරවරයා හා යටත් විජිත භාර ලේකම් එමර්සන් ටෙනන්ට් එම තනතුරුවලින් ඉවත් කොට එංගලන්තයට ආපසු කැඳවීම
- ❖ වෙළෙඳ සැල් බද්ද සහ බලු බද්ද අවලංගු කරන ලද අතර මුද්දර බද්ද, තුවක්කු බද්ද, ඇඟ බද්ද සංශෝධනය කිරීම
- ❖ කෘෂිකර්මාන්ත හා වාරිමාර්ග කටයුතු දියුණු කිරීම සඳහා රජය පියවර ගැනීම
- ❖ දළදා වහන්සේගේ භාරකාරත්වය නැවත වතාවක් බ්‍රිතාන්‍ය ආණ්ඩුව යටතට ගැනීම

**02 අභ්‍යාසය**

පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

1. කීර්ති ශ්‍රී රාජසිංහ රජු හමුවට පැමිණි ප්‍රථම ඉංග්‍රීසි දූතයා කවුද?
2. බ්‍රිතාන්‍යයන් ශ්‍රී ලංකාවේ වෙරළබඩ ප්‍රදේශය යටත් කර ගනිද්දී උඩරට පාලනය කළ නායක්කර් වංශික රජතුමා කවුද?
3. 1798 දී මෙරටට පත් වූ ප්‍රථම ඉංග්‍රීසි ආණ්ඩුකාරවරයා කවුද?
4. මෙට්ලන්ඩ් ආණ්ඩුකාරවරයා හා එක්ව උඩරට රාජධානිය පිළිබඳ තොරතුරු රැස් කළ බ්‍රිතාන්‍ය නිලධාරියා කවුද?
5. 1815 උඩරට යටත් කර ගත් ඉංග්‍රීසි ආණ්ඩුකාරවරයා වූයේ කවුද?
6. ශ්‍රී ලංකාව බ්‍රිතාන්‍යයන් යටතට පත් වන අවධියේ උඩරට පාලනය කළ රජතුමා කවුද?
7. 1818 පළමු නිදහස් සටනට නායකත්වය දුන් නායකයෙකු නම් කරන්න?
8. 1833 මෙරට ක්‍රියාත්මක වූ ආණ්ඩුකම ප්‍රතිසංස්කරණ ඉදිරිපත් කළේ කවුද?
9. 1848 දෙවන නිදහස් අරගලය සමයේ මෙරට බ්‍රිතාන්‍ය ආණ්ඩුකාරවරයා කවුද?
10. දෙවන නිදහස් සටනේ නායකයෙකු ලෙස කටයුතු කළ අයෙකු නම් කරන්න?

## 2.2 බ්‍රිතාන්‍යයන් යටතේ ඇති වූ ආර්ථික වර්ධනය

බ්‍රිතාන්‍යයෝ මෙරට තම බලය වර්ධනය කර ගත් පසු එතෙක් පැවති ආර්ථික ක්‍රමය වාණිජ ආර්ථිකයක් බවට පරිවර්තනය කළහ. 1833 වර්ෂයේ දී ක්‍රියාත්මක කළ කෝල්බෲක් ප්‍රතිසංස්කරණ මගින් එබඳු ආර්ථිකයක් ගොඩනැගීමට කටයුතු කෙරිණ. බ්‍රිතාන්‍යයන් විසින් හඳුන්වා දෙන ලද ආර්ථික ප්‍රතිසංස්කරණ මෙරට ආර්ථිකයට පමණක් නොව සමාජ රටාවෙහි ද ප්‍රබල වෙනසක් ඇති වීම සඳහා හේතු විය.

### බ්‍රිතාන්‍යයන් වතු වගාව ආරම්භ කිරීමට පෙර මෙරට පැවති ආර්ථික තත්වය

බ්‍රිතාන්‍යයන් මෙරටට පැමිණෙන විට රජරට ශිෂ්ටාචාර සමයේ සිට විකාශනය වෙමින් ආ ග්‍රාමීය කෘෂිකර්මාන්තය මුල් කර ගත් ආර්ථික ක්‍රමයක් උඩරට පැවතුණි. ග්‍රාමීය ස්වයංපෝෂිත ආර්ථික ක්‍රමයක් ලෙස හැඳින්විය හැකි එම ආර්ථික ක්‍රමය යටතේ ගමට අවශ්‍ය ආහාරපාන ගමේ ම නිෂ්පාදනය කෙරිණි. එවකට උඩරට පැවති කෘෂිකර්මාන්තය අනුව ගොඩ ගොවිතැන, මඩ ගොවිතැන හා සත්ව පාලනය කෘෂිකර්මාන්තයේ ප්‍රධාන අංශ විය. තමන්ගේ එදිනෙදා පරිභරණයට අවශ්‍ය දේ නිෂ්පාදනය කෙරුණු අතර වාණිජ්‍ය භෝග වගාව ප්‍රචලිතව නොතිබුණි. කෘෂිකර්මයට අමතරව වෙළෙඳාම, කර්මාන්ත හා විවිධ සේවා සැපයීමේ කටයුතු ද උඩරට පැවතුණි. ඒවා බොහෝ විට කුල ක්‍රමය පදනම් කරගෙන සංවිධානය වී තිබුණි. උඩරට පැවති ආර්ථික ක්‍රමය තුළ රජයට අවශ්‍ය ශ්‍රමය ලබා ගැනීමට

රාජකාරී ශ්‍රම ක්‍රමය භාවිත විය. දිවයිනේ පහතරට ප්‍රදේශ 16 වන සියවස අවසානයේ සිට යුරෝපීයන්ගේ පාලනය යටතේ පැවතුණි. උඩරටට සාපේක්ෂව පහතරට ප්‍රදේශවල මුදල් භාවිතය වැඩියෙන් සිදු විය. මේ නිසා යුරෝපීය ආභාසය හේතු කොටගෙන පහතරට ජනතාව නව ආර්ථික වෙනස්කම්වලට හුරු වෙමින් සිටි බව දැකිය හැකි ය.

**03 අභ්‍යාසය**

බ්‍රිතාන්‍යයන් ශ්‍රී ලංකාවට පැමිණීමට පෙර මෙරට පැවති ආර්ථික තත්වය පිළිබඳ තොරතුරු රැස් කරන්න

**බ්‍රිතාන්‍යයන් වතු වගාව කෙරෙහි යොමු වීම**

තමන් යටත් කර ගන්නා රටවල පවතින සම්පත් උපරිම ලෙස ප්‍රයෝජනයට ගෙන හැකි තරම් ලාභ උපයා ගැනීම, බ්‍රිතාන්‍ය යටත්විජිත ප්‍රතිපත්තියේ කැපී පෙනෙන ලක්ෂණයක් විය.

1815 දී උඩරට රාජ්‍යය ඇතුළුව සමස්ත දිවයිනේ ම බලය අල්ලා ගැනීමෙන් පසුව මෙරට පැවති සාම්ප්‍රදායික කෘෂි ආර්ථික රටාව තුළින් තමන් බලාපොරොත්තු වන ප්‍රතිලාභ අත් කර ගත නොහැකි බව ඉංග්‍රීසීහු තේරුම් ගත්හ. ඒ අනුව සිය ආදායම් වැඩි කර ගැනීම සඳහා ආර්ථික ප්‍රතිසංස්කරණයන් සිදු කළ අතර එහි ප්‍රතිඵලයක් වශයෙන් වාණිජ ආර්ථික භෝග හෙවත් වතු වගාව කෙරෙහි යොමු වූ ආකාරය දක්නට ලැබේ.

මෙරට ආදායම් තත්වය ඉහළ නංවාලීම සඳහා මෙන් ම ආර්ථික ක්ෂේත්‍රයේ ඇති කළ යුතු ප්‍රතිසංස්කරණ මොනවා දැයි සොයා බැලීම සඳහා 1829 වර්ෂයේ දී කෝල්බෲක් කොමිසම ලංකාවට පැමිණියේ ය. 1833 සිට ක්‍රියාත්මක කළ කෝල්බෲක් යෝජනා නිසා වතු වගාවේ දියුණුවට අවශ්‍ය පසුබිම මෙරට නිර්මාණය විය. වතු වගාවේ උන්නතියට බල පෑ කෝල්බෲක් යෝජනා කිහිපයක් පහත දැක්වේ. එම යෝජනා මගින් පෞද්ගලික අංශය දිරිමත් කොට ආර්ථිකය දියුණු කිරීමෙන් දිගු කාලීන වශයෙන් රජයේ ආදායම වැඩි කර ගැනීම අපේක්ෂා කෙරිණ.

- ❖ රජයේ ඉඩම් විකිණීමේ ප්‍රතිපත්තියක් ක්‍රියාත්මක කිරීම
- ❖ දේශීය හා විදේශීය පෞද්ගලික ව්‍යාපාරිකයන්ට ඉඩම් මිල දී ගැනීමට අවස්ථාව සලසා දීම.
- ❖ පෞද්ගලික ව්‍යාපාරික අරමුණුවලට ගැළපෙන ලෙස ප්‍රතිපත්ති සකස් කිරීම

බ්‍රිතාන්‍ය පාලනය යටතේ 1820 - 1830 දශකය වන තෙක් ම මෙරටින් ඔවුන් බලාපොරොත්තු වූ ආදායම උපයා ගැනීමට නොහැකි වී තිබුණි. දිවයිනෙන් එතෙක් ලැබූ ආදායමට වඩා පරිපාලන වියදම් බොහෝ ඉහළ ගොස් තිබුණි. ඒ අනුව රජයේ වියදම අඩු කර ගැනීම පිණිස කෝල්බෲක් කොමිසම විසින් පහත සඳහන් යෝජනා ඉදිරිපත් කරන ලදි.

- ❖ පරිපාලන වියදම් අඩු කර ගැනීම සඳහා ඇතැම් දෙපාර්තමේන්තු වසා දැමීම හා ඇතැම් ඒවා ඒකාබද්ධ කිරීම.
- ❖ සිවිල් සේවකයන් සංඛ්‍යාව අඩු කිරීම හා ඔවුන්ගේ වැටුප් අඩු කිරීම
- ❖ උඩරට හා පහතරට ඒකාබද්ධ කොට පාලනය කිරීම.

ඉහත සඳහන් යෝජනා ක්‍රියාත්මක කිරීමෙන් රජයේ වියදම අඩු කර ගැනීමට අපේක්ෂා කෙරිණ.

## රජයේ ඉඩම් විකිණීමේ ප්‍රතිපත්තිය

වතු වගාව සඳහා අවශ්‍ය ඉඩම් ලබා ගැනීම පිණිස 1840 දී පනවන ලද ඉඩම් පනත මගින් උඩරට ගැමියන් පාරම්පරිකව භුක්තිවිඳි නීත්‍යනුකූල ලියකියවිලි නොමැති ඉඩම් රජයට පවරා ගන්නා ලදි. එසේ පවරා ගත් ඉඩම් දේශීය හා විදේශීය ඕනෑ ම අයෙකුට කැමති ප්‍රමාණයක් මිල දී ගැනීමට හැකි වන අයුරින් ඉඩම් විකිණීමේ ප්‍රතිපත්තියක් ක්‍රියාත්මක කෙරිණ.

ඉඩම් විකිණීමේ ප්‍රතිපත්තිය තුළින් දේශීය හා විදේශීය වැවිලිකරුවන්ට හැකි තරම් අඩු මිලට මෙරට ඉඩම් මිල දී ගැනීමට හැකියාව ලැබුණි. එසේ ම විදේශිකයන්ට මෙරට ඉඩම් මිල දී ගැනීමට හා පදිංචි වීමට සීමා කර තිබූ නීති රීති ඉවත් කරන ලදි. ඒ අනුව විදේශීය වතු වැවිලිකරුවෝ ශ්‍රී ලංකාවට පැමිණ වතු වගාව සඳහා මුදල් ආයෝජනය කළහ.

## පෞද්ගලික ව්‍යාපාරික අරමුණුවලට ගැළපෙන ලෙස ප්‍රතිපත්ති සකස් කිරීම

- ❖ ව්‍යවස්ථාදායක සභාව නියෝජනය කිරීමට යුරෝපීය ව්‍යාපාරික ප්‍රජාවට අවස්ථාව සැලසීම.
- ❖ කුරුඳු, ලුණු ආදිය විකිණීමට රජය සතුව පැවති ඒකාධිකාරය අවලංගු කිරීම.
- ❖ කැමරන්ගේ අධිකරණ ප්‍රතිසංස්කරණ
- ❖ තැන්පත් බැංකුවක් පිහිටුවීමට කටයුතු කිරීම
- ❖ රාජකාරී ශ්‍රම ක්‍රමය අවලංගු කිරීම

## වතු වගාවේ දියුණුව

ඉහත සඳහන් කෝල්බෲක් ප්‍රතිසංස්කරණ ක්‍රියාත්මක කිරීම තුළින් මෙරට වතු වගාවේ ශීඝ්‍ර දියුණුවක් ඇති වන්නට විය. උඩරට සහ පහතරට ස්වාභාවික වනාන්තරවලින් වැසී පැවතුණු වන බිම් සහ සාම්ප්‍රදායික හේන් හා ගොවිබිම් කෙටි කලකින් වතු යායන් බවට පත් විය. ඒ අනුව පහත දැක්වෙන ප්‍රධාන ආර්ථික භෝග මෙරට වතු වගාව තුළ දක්නට ලැබුණි.

කෝපි, සිංකෝනා, කොකෝවා, තේ, පොල්, රබර්

## කෝපි

බ්‍රිතාන්‍යයන් යටතේ මෙරට වගා කරන ලද ප්‍රථම ආර්ථික භෝගය වූයේ කෝපි වගාවයි. බ්‍රිතාන්‍යයන් පැමිණීමට පෙර කෝපි ගෙවතු වගාවක් වශයෙන් පැවතුණ ද එය වෙළෙඳ භෝගයක් වශයෙන් වගා නොකෙරුණි. 1822 වර්ෂයේ දී ජෝර්ජ් බර්ඩ් නැමැත්තා ගම්පොළ සිංහ පිටියේ දී ප්‍රථම වරට කෝපි වත්තක් ආරම්භ කළ බව පිළිගැනේ. ඉන්පසුව 1824 දී එඩ්වඩ් බාන්ස් ආණ්ඩුකාරවරයා විසින් ගන්නෝරුවේ සිය පෞද්ගලික ඉඩමක කෝපි වත්තක් ආරම්භ කරන ලදි.



**2.9 රූපය - කෝපි කම්හලක්**

කෝපි වගාව ජනප්‍රිය වීම නිසා පෞද්ගලික ව්‍යාපාරිකයන් ද ඉඩම් මිල දී ගෙන කෝපි වගාවට යොමු වීම හේතුවෙන් 1848 පමණ වන විට මෙරට පැවති කෝපි වතු ප්‍රමාණය අක්කර 60 000 ඉක්මවී ය. මෙරට කෝපි වගාව දියුණුවට බල පෑ හේතු කිහිපයක් පහත සඳහන් වේ.

- යුරෝපීය රටවල කෝපි පානය ජනප්‍රිය වීම නිසා කෝපිවලට තිබූ ඉල්ලුම ඉහළයාම හේතුවෙන් කෝපි වගාවෙන් විශාල වශයෙන් ලාභ ලැබීමට හැකිවීම.
- අඩු වියදමකින් ඉතා උසස් තත්වයේ කෝපි මෙරට වගා කිරීමට හැකි වීම.
- කෝල්බෲක් ප්‍රතිසංස්කරණවලින් පසු ව්‍යාපාරිකයන් විශාල ප්‍රමාණයක් කෝපි වතු ආරම්භ කිරීම.
- මෙරටින් එංගලන්තයට අපනයනය කළ කෝපිවලට තීරු බදු අඩු කිරීම.

**ශීඝ්‍රයෙන් වර්ධනය වූ මෙරට කෝපි වගාව 1848න් පසු පරිහානියට පත් විය. ඊට බලපෑ හේතු කිහිපයක් මෙසේ ය.**

- ජාවා වැනි අග්නිදිග ආසියානු රටවලින් යුරෝපීය වෙළෙඳපොළට කෝපි අපනයනය කිරීම නිසා ශ්‍රී ලංකාවේ කෝපි සඳහා ඉල්ලුම අඩු වීම.
- 1848 පසු ඇති වූ ලෝක ආර්ථික අර්බුදයේ බලපෑම
- 1869 සිට හෙමලියා වෙස්ටර්ට්‍රික්ස් නම් දිලීර රෝගය වැළඳීම නිසා කෝපි වතු විශාල ප්‍රමාණයක් විනාශ වීම.

### සිංකෝනා හා කොකෝවා වගාව



**2.10 රූපය - සිංකෝනා**



**2.11 රූපය - කොකෝවා**

1848 වර්ෂයෙන් පසු කෝපි වගාව පරිහානියට පත් වීම නිසා මෙරට සිටි වතු වැවිලිකරුවෝ වෙනත් ආර්ථික භෝග වගාවන් කෙරෙහි යොමු වූහ. එහි ප්‍රතිඵලයක් ලෙස සිංකෝනා සහ කොකෝවා වගාව කෙරෙහි වැඩි අවධානයක් යොමු කෙරිණ. සිංකෝනා යනු ඖෂධ පැළෑටියකි. එයින් මැලේරියා රෝගීන් සඳහා අවශ්‍ය වන ක්විනින් නැමති ඖෂධය නිපදවනු ලැබීය. සිංකෝනා වගා කළ ද ලෝක වෙළෙඳපොළේ ඒ සඳහා තිබූ ඉල්ලුම අවම වීම නිසා දිගු කාලීන ලාභ ඉපයීමට නොහැකි වීමෙන් වැවිලිකරුවෝ සිංකෝනා වගා කිරීම අතහැර දැමූහ.

කෝපි වගාවට විකල්පයක් ලෙස රජය විසින් කොකෝවා වගාව හඳුන්වා දෙන ලදි. කොකෝවා වගා කිරීම සඳහා අධික වියදමක් දැරීමට සිදුවීමත්, දිවයිනේ ඉතා සුළු ප්‍රදේශයක පමණක් කොකෝවා වගා කළ හැකි වීමත් හේතුවෙන් ආර්ථික භෝගයක් වශයෙන් එය සාර්ථක නොවී ය.

**තේ වගාව**

කෝපි වගාව පරිහානියට පත් වීමත් සමග ඊට විකල්ප භෝගයක් ලෙස හඳුන්වා දුන් සිංකෝනා හා කොකෝවා වගාව ද සාර්ථක නොවීම නිසා මෙරටට වඩාත් ගැළපෙන ආර්ථික භෝග සොයා බැලීම සඳහා රජය උනන්දු විය. එහි ප්‍රතිඵලයක් ලෙස මෙරට කඳුකර දේශගුණ තත්වයට වඩාත් ගැළපෙන ආර්ථික භෝගයක් ලෙස තේ වගාව හඳුනා ගන්නා ලදි. මෙරට තේ වගාව පිළිබඳ මූලික අත්හදාබැලීම් සිදු කරන ලද්දේ 1873 වර්ෂයේ දී පමණ ජේම්ස් ටේලර් නැමැත්තා විසිනි. ඔහුට අයත් ලූල්කඳුර වතුයායේ අක්කර කිහිපයක තේ වගා කරමින්, මෙරට වගා කිරීමට උචිත තේ වර්ග හඳුනා ගැනීමට උත්සාහ කෙරිණ.

අක්කර 10ක කුඩා වතු යායකින් ඇරඹුණ මෙරට තේ වගාව 1890 වර්ෂය පමණ වන විට විශාල ප්‍රගතියක් අත් කර ගෙන තිබුණි. ආසන්න වශයෙන් අක්කර 220, 000කට වැඩි ප්‍රමාණයක ඒ වන විට තේ වගාව ව්‍යාප්ත වී තිබූ බව වාර්තා වේ. මේ අයුරින් තේ වගාව මෙරට ප්‍රමුඛ අපනයන ආර්ථික භෝගය බවට පත් වීමට බලපෑ හේතු පහත දැක්වේ.



**2.12 රූපය - තේ වගාවක්**

❖ තේ වගාවට වඩාත් උචිත පරිසරයක් මෙරට තෙත් කලාපයේ පැවතීම.
❖ ශ්‍රී ලංකාවේ තේ සඳහා ලන්ඩන් හා ලෝක වෙළෙඳ පොළේ ඉහළ ඉල්ලුමක් තිබීම.
❖ දුම්රිය හා මහාමාර්ග පහසුකම් දියුණු වීම තේ වගාවේ උන්නතියට බලපෑම
❖ දකුණු ඉන්දියානු ශ්‍රමිකයන් ගෙන්වා ගැනීමට හැකි වීම නිසා පහසුවෙන් හා ලාභදායි ලෙස ශ්‍රමය ලබා ගැනීමට හැකි වීම.
❖ අඩු නිෂ්පාදන වියදමකින් වැඩි ලාභ ඉපයීමට හැකි වීම.

**පොල් වගාව**

බ්‍රිතාන්‍යයන් යටතේ වර්ධනය වූ තවත් ආර්ථික භෝගයක් වූයේ පොල් වගාවයි. අතීතයේ සිට ම පොල් වගාව මෙරට පැවතිය ද එය අපනයන භෝගයක් ලෙස වගා නොකෙරිණ. දඹදෙණි රාජ්‍ය සමයේ සිට කෝට්ටේ යුගය දක්වා කාලයේ දී පොල් වගාව ව්‍යාප්ත කිරීම සඳහා පාලකයන් කටයුතු කළ බව සාහිත්‍ය මූලාශ්‍රවල සඳහන් වේ. අපනයන භෝගයක් ලෙස පොල් වගා කිරීම බ්‍රිතාන්‍ය පාලන සමයේ දී ආරම්භ විය. 1910 වර්ෂය පමණ වන විට කුරුණෑගල, ගම්පහ, හලාවත යන ප්‍රදේශ කේන්ද්‍ර කර ගනිමින් අක්කර 850,000ක පමණ භූමි ප්‍රමාණයක පොල් වගාව ව්‍යාප්තව තිබුණි. මෙරට බහුතරයක් පොල් වතුවල හිමිකරුවන් දේශීය ව්‍යාපාරිකයන් වූ අතර ඒවා අපනයනය සම්පූර්ණයෙන් ම පාහේ සිදු කරන ලද්දේ විදේශීය සමාගම් විසිනි. මෙරට වගා කරනු ලැබූ පොල් භෝගය පොල්තෙල්, කොප්පරා, පුන්නක්කු වශයෙන් සකසා අපනයනය කෙරිණ. පොල් වගාවේ දියුණුව සඳහා මෙන් ම පර්යේෂණ පැවැත්වීම සඳහා පසුකාලයේ දී ලුණුවිල පොල් පර්යේෂණායතනයක් පිහිටුවා ඇත.



**2.13 රූපය - රබර් වගාවක්**

රබර් වගාව

ශ්‍රී ලංකාවේ පරිසර තත්වයන්ට ගැළපෙන තවත් ආර්ථික භෝගයක් වූ රබර් වගා කිරීම සඳහා ප්‍රථම වරට උනන්දුවක් දැක්වූයේ මෙරට සිටි බ්‍රිතාන්‍ය සමාගම් කීපයකි. එංගලන්තයේ කිව් උද්‍යානයේ වගා කර තිබූ රබර් පැළ කීපයක් මෙරටට ගෙන්වාගෙන 1877 වර්ෂයේ දී පේරාදෙණිය හා හෙනරත්ගොඩ උද්‍යානයේ දී රෝපණය කිරීම, රබර් වගාවේ ආරම්භක අවස්ථාව ලෙස සැලකේ. 1910 වර්ෂයෙන් පසු රබර් වගාව කෙරෙහි දේශීය වැවිලිකරුවන්ගේ අවධානය වැඩි වශයෙන් යොමු විය. 1900 හා 1906 අතර කාලය තුළ රබර් වගාව ශීඝ්‍රයෙන් ව්‍යාප්ත වූ අතර මිල ද ඒ හා සාපේක්ෂව වර්ධනය විය. ඇතැම් වැවිලිකරුවෝ කුරුඳු වගාව අතහැර දමා එම ඉඩම්වල රබර් වගාව ආරම්භ කළහ. රබර් වගාවේ උන්නතියට බල පෑ හේතු කිහිපයක් පහත දැක්වේ.

- ❖ මෙරට නිපදවූ රබර් සඳහා ඇමරිකා එක්සත් ජනපදයේ විශාල ඉල්ලුමක් පැවතීම.
- ❖ පළමුවන ලෝක යුද්ධයෙන් පසු ලෝක වෙළෙඳපොළේ රබර් මිල ඉහළ යාම.
- ❖ යුරෝපයේ මෝටර් රථ කර්මාන්තය දියුණුවට පත්වීම සහ රබර්වලට ඇති ඉල්ලුම ඉහළ යාම.
- ❖ රබර් වගාව සඳහා වඩාත් උචිත පසක් සහ දේශගුණ තත්වයක් මෙරට පැවතීම.

**03 අභ්‍යාසය**

බ්‍රිතාන්‍යයන් යටතේ පැවති වතු වගාව පිළිබඳ තොරතුරු රැස් කරන්න

## දේශීය කෘෂිකර්මාන්තය නගා සිටුවීම

1815 වර්ෂයේ දී සමස්ත දිවයින ම බ්‍රිතාන්‍ය යටත් විජිතයක් බවට පත් වීමෙන් පසු එතෙක් මෙරට පැවති සමාජ ආර්ථික රටාව ප්‍රබල පරිවර්තනයකට ලක් විය. මෙරට පැවතුණු සාම්ප්‍රදායික කෘෂි ආර්ථික රටාව තුළින් වෙළෙඳ ආර්ථිකයක් ගොඩනැගීමට නොහැකි බව තේරුම් ගත් බ්‍රිතාන්‍ය පාලකයෝ වතු වගාවට ප්‍රමුඛත්වය දෙමින් සාම්ප්‍රදායික කෘෂිකර්මාන්තය නොසලකා හැරීමේ ප්‍රතිපත්තියක් ක්‍රියාත්මක කළහ. වතු ආර්ථික රටාවක් මෙරට ස්ථාපිත කිරීමෙහි ලා 1833 වර්ෂයේ දී කෝල්බෲක් කොමිසම ඉදිරිපත් කළ යෝජනා හේතුවෙන් දේශීය කෘෂිකර්මාන්තය දරුණු කඩා වැටීමකට ලක් විය. දේශීය කෘෂිකර්මාන්තය පරිහානියට පත් වීමට බල පෑ ප්‍රධාන හේතුන් කිහිපයක් පහත දැක්වේ.

❖ **1840 පනවන ලද ඉඩම් පනත**

ඉහත පනත මගින් වසර 30ක් තිස්සේ නොකඩවා භුක්තිවිඳි බවට අධිකරණයක් ඉදිරියේ තහවුරු කළ නොහැකි ඉඩම් රජයට පවරා ගැනීමට කටයුතු කෙරිණ. මෙරට තිබූ ඉඩම් භුක්ති ක්‍රමය තුළ නීත්‍යානුකූල ලියකියවිලි නොතිබුණි. එම නිසා බොහෝ කෘෂි ඉඩම් රජය විසින් පවරා ගැනීම හේතුවෙන් කෘෂිකර්මාන්තය අඩපණ විය.

❖ මෙරට බහුතර ජනතාවගේ ජීවනෝපාය වූ කෘෂිකර්මය සඳහා අත්‍යවශ්‍ය වැව් අමුණු නඩත්තු කිරීමේ කටයුතු රජය නොසලකා හැරීම

❖ රජයේ ඉඩම් විකිණීමේ ප්‍රතිපත්තිය හේතුවෙන් උඩරට හා පහතරට සාම්ප්‍රදායික ඉඩම් දේශීය හා විදේශීය ව්‍යාපාරිකයන් මිල දී ගෙන වතු වගාවට යොදා ගැනීම

❖ උඩරට තිබූ ස්වාභාවික වනාන්තර එළිපෙහෙළි කොට වතු වගාව ආරම්භ කිරීම නිසා ජල උල්පත් සිඳී යාම හා පහතරට කෘෂි ඉඩම් විනාශ වීමේ තර්ජනයකට ලක් වීම

❖ කාලාන්තරයක් තිස්සේ ග්‍රාමීය වාරි කර්මාන්තය නඩත්තු කළ ගම් සභාව, ශ්‍රමය ලබා ගත් රාජකාරී ශ්‍රම ක්‍රමය අහෝසි කිරීම හේතුවෙන් කාෂිකාර්මික කටයුතු පවත්වාගෙන යාමට නොහැකි වීම

**03 අභ්‍යාසය**

බ්‍රිතාන්‍ය පාලන සමයේ දේශීය කෘෂිකර්මාන්තය පරිහානියට පත්වීම පිළිබඳ තොරතුරු රැස් කරන්න

## බ්‍රිතාන්‍යයන් දේශීය කෘෂිකර්මාන්තය නගා සිටුවීමට උත්සාහ ගැනීම

1848 වර්ෂයේ දී බ්‍රිතාන්‍ය පාලනයට විරුද්ධව ජනතාව නැගී සිටීමට ප්‍රධාන හේතුවක් ලෙස දේශීය කෘෂි කර්මාන්තය නොසලකා හැරීමට තමන් ගත් ප්‍රතිපත්ති බලපෑ බව පාලකයෝ තේරුම් ගත්හ. ඒ අනුව 1850න් පසු මෙරට පාලන කටයුතු කළ බ්‍රිතාන්‍ය ආණ්ඩුකාරවරුන් කීප දෙනෙකු දේශීය කෘෂිකර්මය පිළිබඳ සැලකිලිමත් වෙමින් වාරිමාර්ග ප්‍රතිසංස්කරණය කිරීම හා ගොවි ජනතාවගේ ශුභ සාධන කටයුතු සොයා බැලීම සඳහා ද යොමු වූ බව පෙනේ. ඒ අතර පහත සඳහන් ක්‍රියාමාර්ග බෙහෙවින් වැදගත් විය.

### වැව් අමුණු ප්‍රතිසංස්කරණය කිරීම

- **හෙන්රි වෝඩ් ආණ්ඩුකාරවරයා** - වාරි කර්මාන්ත පිළිබඳ සොයා බැලීම සඳහා 1855 දී කාරක සභාවක් පත් කිරීම.

  නැගෙනහිර පළාතේ ඉරක්කාමම් හා අම්පාර වැව ප්‍රතිසංස්කරණය කිරීම.

  දකුණු පළාතේ ගිරුවා පත්තුවේ කිරම සහ ඌරුබොක්ක වැව් ප්‍රතිසංස්කරණය කිරීම.

- **හර්කියුලීස් රොබින්සන් ආණ්ඩුකාරවරයා** - වාරි මාර්ග පිළිබඳ සොයා බැලීම සඳහා කොමිෂන් සභාවක් පත් කිරීම.

  තිස්සමහාරාම වැව ප්‍රතිසංස්කරණය කිරීම.

- **විලියම් ග්‍රෙගරි ආණ්ඩුකාරවරයා** - අනුරාධපුර බසවක්කුලම, තිසා වැව, මැදවච්චිය මහ වැව, කලාවැව හා කන්තලේ වැව ඇතුළු වැව් කිහිපයක් ප්‍රතිසංස්කරණය කරවීම.

- **ආතර් ගෝඩන් ආණ්ඩුකාරවරයා** - වළවේ ගඟ හා උඩුකිරිවල ආශ්‍රිත වාරි කර්මාන්ත ප්‍රතිසංස්කරණය කිරීම ඇතුළුව වැව් 42ක් අලුත්වැඩියා කිරීම.

## වාරිමාර්ග දෙපාර්තමේන්තුව පිහිටුවීම

1900 වර්ෂයේ දී වෙස්ට් රිජ්වේ ආණ්ඩුකාරවරයා විසින් වාරිමාර්ග දෙපාර්තමේන්තුව පිහිටුවීම මෙරට කෘෂිකාර්මික ක්ෂේත්‍රයේ වැදගත් අවස්ථාවකි. වාරි කර්මාන්ත පිළිබඳ අවබෝධයක් ඇති නිලධාරීන් දෙපාර්තමේන්තුවට බඳවා ගනිමින් එහි කටයුතු කාර්යක්ෂමව පවත්වාගෙන යාමට කටයුතු කෙරිණි. ඒ වන විට ප්‍රතිසංස්කරණය කොට තිබූ වාරි මාර්ග නඩත්තු කොට පවත්වාගෙන යාමත් නව වාරි මාර්ග ජනගහනයට සාපේක්ෂව හඳුනාගෙන ගොඩනැගීමත් නිසා මෙරට ගොවි ජනතාවට එමගින් යහපතක් සිදු විය.

## සමුපාකාර සමිති පිහිටුවීම

ගොවි ජනතාවගේ යහපත හා ශුභ සාධනය ඇති කිරීමේ අරමුණ ඇති ව 1911 වර්ෂයේ දී මැකලම් ආණ්ඩුකාරවරයා විසින් සමුපකාර සමිති ව්‍යාපාරය ආරම්භ කරන ලදි. එමගින් බලාපොරොත්තු වූ අරමුණු කිහිපයක් පහත දැක්වේ.

- ❖ ගොවි ජනතාවට අඩු පොලියට ණය ලබා දීම
- ❖ ණය බර අඩු කොට ගොවි ජනතාවගේ ආර්ථිකය ශක්තිමත් කිරීම.
- ❖ රටේ ගොවි ජනතාවගේ ශුභ සාධනය ඉහළ නැංවීම
- ❖ සමුපකාර ව්‍යාපාරය ශක්තිමත් කිරීම තුළින් ග්‍රාමීය ආර්ථිකය නගා සිටුවීම.

1914 - 1918 කාලයේ පැවති ප්‍රථම ලෝක සංග්‍රාමය හේතුවෙන් නැව් ගමන් කටයුතු අඩපණ වී මෙරටට අවශ්‍ය ආහාර ද්‍රව්‍ය ආනයනය කිරීමේ දී ගැටලු මතු විය. මේ නිසා ලෝක සංග්‍රාමය නිම වීමෙන් පසුව දේශීය කෘෂිකර්මය නගා සිටුවීමේ අවශ්‍යතාව බ්‍රිතාන්‍ය පාලකයෝ තේරුම් ගත්හ. 20 වන සියවස ආරම්භයේ සිට දිවයිනේ වැඩි වන ජනගහනයට සාපේක්ෂව රැකියා සැපයීමේ අවශ්‍යතාවක් ද මතු විය. ඊට පිළියමක් වශයෙන් ද දේශීය කෘෂිකර්මාන්තය යොදා ගැනිණ. 1931 වර්ෂයේ දී ඩොනමෝර් ප්‍රතිසංස්කරණ අනුව කෘෂිකර්මය ඇතුළු අමාත්‍යාංශ කිහිපයකට ශ්‍රී ලාංකික ඇමතිවරු පත් වූහ. එසේ ම ඩොනමෝර් ආණ්ඩුක්‍රමය යටතේ සර්ව ජන ඡන්ද බලය ලැබීම නිසා මෙරට දේශපාලනඥයන්ට ගම්බද ජනතාව කෙරෙහි වැඩි අවධානයක් යොමු කිරීමට ද සිදු විය. එහි ප්‍රතිඵලයක් වශයෙන් ද කෘෂිකර්මාන්තය දියුණු කිරීමට පියවර ගැනිණ. ඩී. එස්. සේනානායක මහතා විසින් රාජ්‍ය මන්ත්‍රණ සභා යුගයේ දී වියළි කලාපයේ ගොවි ජනපද පිහිටුවීමේ ව්‍යාපාරයක් ආරම්භ කරනු ලැබීම ඊට උදාහරණයකි.

## 03 අභ්‍යාසය

බ්‍රිතාන්‍යයන් යටතේ දේශීය කෘෂිකර්මාන්තය ගොඩනැංවීම පිළිබඳ තොරතුරු රැස් කරන්න

# 03 ශ්‍රී ලංකාවේ ආගමික හා ජාතික පුනර්ජීවනය



## හැඳින්වීම

ශ්‍රී ලංකාවේ දීර්ඝ කාලයක් තිස්සේ පැවති සමාජ ක්‍රමය හා සංස්කෘතිය පෘතුගීසි, ලන්දේසි හා ඉංග්‍රීසි ජාතිකයන් ලංකාවට පැමිණීමත් සමග විවිධ වෙනස්කම්වලට භාජන විය. පෘතුගීසීහු රෝමනු කතෝලික ආගමත්, ලන්දේසීහු රෙපරමාදු ආගමත් සිය පාලන ප්‍රදේශවල ව්‍යාප්ත කළහ. ක්‍රි. ව. 1815 වර්ෂයේ දී මුළු රට ම බ්‍රිතාන්‍ය යටත් විජිතයක් බවට පත් වූ අතර බ්‍රිතාන්‍ය පාලන කාලයේ දී දිවයිනට පැමිණි විවිධ මිෂනාරි සංවිධාන ක්‍රිස්තියානි ආගම පැතිරවීමට කටයුතු කිරීම නිසා මෙරට සාම්ප්‍රදායික ආගම් හා සංස්කෘතියේ පැවැත්මට යම් යම් බාධා එල්ල විය.

තම සංස්කෘතීන් මුහුණ දී සිටි මෙම අනතුරුදායක තත්වය නිසා 19 වන සියවස අග භාගයේ දී ලංකාවේ බෞද්ධ, හින්දු හා ඉස්ලාම් ජනතාව තුළ ආගමික හා ජාතික වශයෙන් විශාල පිබිදීමක් ඇති විය. එය ශ්‍රී ලංකාවේ ආගමික හා ජාතික පුනර්ජීවනය ලෙස මෙම පාඩමේ දී සාකච්ඡා කෙරේ.

## 3.1 මිෂනාරී සංවිධාන හා ඒවායේ කටයුතු

බ්‍රිතාන්‍ය පාලන සමයේ දී ක්‍රිස්තියානි ආගම ප්‍රචාරය කිරීම සඳහා විදේශීය ස්වේච්ඡා සංවිධාන කිහිපයක සාමාජිකයෝ ශ්‍රී ලංකාවට පැමිණියහ. මෙරට ධර්ම දූත කටයුතුවල නිරත වූ එම සංවිධාන මිෂනාරී සංවිධාන ලෙස හැඳින්වේ. 19 වන සියවස මුල් භාගයේ දී ශ්‍රී ලංකාවට පැමිණි මිෂනාරී සංවිධාන කිහිපයක් පහත දැක්වේ.

- ❖ ලන්ඩන් මිෂනාරී සමාගම
- ❖ බැප්ටිස්ට් මිෂනාරී සමාගම
- ❖ වෙස්ලියන් මිෂනාරී සමාගම
- ❖ අමෙරිකන් මිෂනාරී සමාගම
- ❖ චර්ච් මිෂනාරී සමාගම

මෙම මිෂනාරී සංවිධාන රාජ්‍ය අනුග්‍රහය ද ලබමින් ලංකාව පුරා ස්වකීය ආගම පැතිරවීමට විවිධ ක්‍රියාමාර්ග අනුගමනය කළේ ය. එය මිෂනාරී ව්‍යාපාරය ලෙස හඳුන්වනු ලැබේ. ආගම ප්‍රචාරය සඳහා අධ්‍යාපනය, ලේඛනය, දේශන හා සමාජ සේවා කටයුතු ආදිය ඔවුහු යොදා ගත්හ.

**අධ්‍යාපනය**



**3.1 රූපය - ගාල්ල රිච්මන්ඩ් විද්‍යාලය**
**(වෙස්ලියන් මිෂනාරීන් විසින් ඉදි කර ඇත)**

මිෂනාරී සංවිධාන විවිධ උපාය මාර්ග අනුගමනය කරමින් අධ්‍යාපනය ඔස්සේ ක්‍රිස්තියානි ආගම පතුරුවා හැරීමෙහි නියැළුණි. සිංහල හා දෙමළ භාෂා ඉගෙනගත් මිෂනාරීවරු ගම්බද පාසල්වල දේශීය භාෂාවනුත්, නගරබද පාසල්වල ඉංග්‍රීසි භාෂාවත් යොදා ගෙන අධ්‍යාපන කටයුතු මෙහෙයවූහ. මිෂනාරී අධ්‍යාපනය ආගම ප්‍රචාරය කිරීමටත් බටහිර සංස්කෘතිය මෙරට සමාජගත කිරීමටත් යොදා ගැනිණි.

බ්‍රිතාන්‍ය පාලන සමයේ දී රජයේ තනතුරු ලබා ගැනීමට ඉංග්‍රීසි දැනුම අවශ්‍ය විය. මෙහි ප්‍රතිඵල වශයෙන් ඉංග්‍රීසි මාධ්‍යයෙන් අධ්‍යාපනය ලැබූ සිංහල, දෙමළ, ප්‍රභූ පවුල්වල ඇතැම් තරුණයෝ තම පාරම්පරික ආගම් හා නම් ගම් අතහැර ක්‍රිස්තියානි ආගම වැළඳගෙන රජයේ උසස් තනතුරු ලබාගත්හ.

මිෂනාරීහු ලංකාවේ විවිධ ප්‍රදේශ බෙදාගෙන අධ්‍යාපන කටයුතු පවත්වාගෙන ගියහ. මේ නිසා ලංකාවේ මිෂනාරී පාසල් රාශියක් බිහි වූ අතර එමගින් ලාංකිකයන්ගේ අධ්‍යාපනයේ සැලකිය යුතු දියුණුවක් ඇති විය. මෙය මිෂනාරී අධ්‍යාපනය නිසා මෙරට සිදු වූ යහපත් ප්‍රතිඵලයකි.

### ලේඛන හා දේශන මාධ්‍ය යොදා ගැනීම

මිෂනාරී සංවිධාන විසින් ලංකාවේ මුද්‍රණාල පිහිටුවා එමගින් ස්වකීය ආගමික කරුණු ඇතුළත් පොත්පත්, සඟරා ආදිය ප්‍රකාශයට පත් කොට බෙදා හැරීමට කටයුතු කරන ලදි. බයිබලය හා කිස්තු ධර්මයට අදාළ විවිධ පොත්පත් සිංහල හා දෙමළ භාෂාවන්ට පරිවර්තනය කෙරිණි. බෞද්ධ හා හින්දු ආගමික පුදසිරිත් නිසරු ක්‍රියාවන් ලෙසින්, දක්වන අදහස් මෙම ලේඛන මගින් පතුරුවා හැරිණි. මිෂනාරීන් විසින් සිය ආගම ප්‍රචාරය සඳහා මුද්‍රණය කරන ලද ප්‍රකාශන කීපයක නම් පහත දැක්වේ.

- මාසික තැග්ග
- උරගල
- ලංකා නිධානය

සිංහල, දෙමළ වැනි දේශීය භාෂා යොදාගෙන පන්සල් හා මහජනතාව ගැවසෙන වෙනත් ස්ථානවල දේශන පවත්වමින් සිය ආගමික අදහස් ජනතාව වෙත සමීප කරවීමට මිෂනාරී පූජකවරු කටයුතු කළහ.

**සමාජ සේවා කටයුතු සිදු කිරීම**

දුප්පත් අසරණ ජනතාවට තෑගි බෝග පිරිනැමීම, රෝගීන්ට සාත්තු සප්පායම් කිරීම වැනි සමාජ සේවාවල නියැලෙමින් ද පොදු ජනතාවට සමීප වීමට මිෂනාරීහු උත්සාහ කළහ.

ඉහත සඳහන් පරිද්දෙන් මිෂනාරී සමාගම් සිය ආගම පැතිරවීම සඳහා ගෙනගිය ක්‍රියාමාර්ග මෙරට ගම්බද ජනතාව කෙරෙහි එතරම් බල නොපෑ නමුත්, නාගරික වශයෙන් ධනවත්ව සිටි ඇතැම් සිංහල, දෙමළ පිරිස් ග්‍රාමීය ජනතාවට වඩා ක්‍රිස්තියානි ආගම වැළඳ ගැනීමට පෙළඹුණු බව පෙනේ. මිෂනාරී කටයුතු එසේ සාර්ථක වීමට බලපෑ හේතු කිහිපයක් පහත දැක්වේ.

- රාජ්‍ය අනුග්‍රහය ලැබීම
- ආගම ප්‍රචාරය සඳහා අධ්‍යාපනය යොදා ගැනීම
- මුද්‍රණාල ආරම්භ කිරීම
- පොත්පත්, පුවත්පත්, සඟරා වැනි ප්‍රකාශන නිකුත් කිරීමට මූල්‍ය පහසුකම් තිබීම
- මිෂනාරීන් සතු වූ සංවිධාන ශක්තිය

**ආගමික ප්‍රබෝධය**

19 වන සියවස අගභාගය වන විට මෙරට බෞද්ධ ජනතාව තුළ පමණක් නොව හින්දු හා ඉස්ලාම් ජනතාව තුළත් ආගමික ප්‍රබෝධයක් ඇති විය. ලාංකිකයන් තුළ මෙබඳු ප්‍රබෝධයක් ඇති වීමට බලපෑ හේතු කිහිපයකි.

- මිෂනාරීන්ගේ ආගම් ප්‍රචාරක කටයුතු නිසා දේශීය ආගම්වලට පහර වැදීම
- සිංහල, දෙමළ වැනි ස්වභාෂා අධ්‍යාපනය දියුණු කිරීමට රජය ප්‍රමාණවත් අවධානයක් යොමු නොකිරීම.
- බ්‍රිතාන්‍ය පාලනය යටතේ ස්වකීය සංස්කෘතිය විනාශ වෙතැයි හැඟීමක් ස්වදේශිකයන්ට ඇතිවීම.

## 3.2 බෞද්ධ පුනර්ජීවන ව්‍යාපාරය

19 වන සියවස අගභාගයේ බෞද්ධ පුනරුද ව්‍යාපාරයට නායකත්වය සපයන ලද්දේ මෙරට භික්ෂූන් වහන්සේලා විසිනි. පසුව ගිහි උගත්හු ද මෙම කටයුතුවලට සහාය දැක්වූහ.

බෞද්ධ පුනර්ජීවන ව්‍යාපාරයේ කැපී පෙනෙන ලක්ෂණ කිහිපයකි.

- ❖ පිරිවෙන් පිහිටුවීම
- ❖ මුද්‍රණාල පිහිටුවීම හා මුද්‍රිත මාධ්‍ය යොදා ගැනීම
- ❖ වාදවිවාද පැවැත්වීම
- ❖ බෞද්ධ පාසල් පිහිටුවීම
- ❖ දේශීය සංස්කෘතිය ආරක්ෂා කර ගැනීමට කටයුතු කිරීම

### පිරිවෙන් පිහිටුවීම

උගත් භික්ෂූන් වහන්සේලා කිහිප දෙනෙකුගේ පුරෝගාමිත්වයෙන් නව පිරිවෙන් කිහිපයක් පිහිටුවීම බෞද්ධ පුනරුද ව්‍යාපාරයේ ඉතා වැදගත් සිදුවීමකි. මෙම පිරිවෙන්වලින් සිංහල, පාලි, සංස්කෘත වැනි භාෂා ක්‍රමානුකූලව හැදෑරූ උගතුන් පිරිසක් බිහි වූ අතර බෞද්ධ පුනරුදයට ඔවුන්ගේ දායකත්වය ලැබිණි.

| මූලික වූ භික්ෂූන් වහන්සේ | ආරම්භ කළ පිරිවෙන |
|---|---|
| පූජ්‍ය වලානේ සිද්ධාර්ථ හිමි | රත්මලානේ පරමධම්මචේතිය පිරිවෙන |
| පූජ්‍ය හික්කඩුවේ ශ්‍රී සුමංගල හිමි | මාලිගාකන්දේ විද්‍යෝදය පිරිවෙන |
| පූජ්‍ය රත්මලානේ ශ්‍රී ධර්මාලෝක හිමි | පෑලියගොඩ විද්‍යාලංකාර පිරිවෙන |

### පූජ්‍ය හික්කඩුවේ ශ්‍රී සුමංගල හිමි



1827 වර්ෂයේ දී ගාල්ල ප්‍රදේශයේ හික්කඩුවේ දී උපත ලැබූ මෙතුමා 1840 වසරේ දී හික්කඩුවේ ශ්‍රී සුමංගල යන නාමයෙන් පැවිදි බිමට ඇතුළත් විය. පූජ්‍ය වලානේ ශ්‍රී සිද්ධාර්ථ හිමියන්ගෙන් අධ්‍යාපනය ලැබූ සුමංගල හිමියෝ එවකට මෙරට සිටි කීර්තිමත් උගතෙකු බවට පත් වූහ. 1873 වර්ෂයේ දී මාලිගාකන්දේ විද්‍යෝදය පිරිවෙන පිහිටුවීම පූජ්‍ය සුමංගල හිමියන්ගෙන් සිදු වූ විශිෂ්ට සේවයකි. 19 වන සියවසේ අගභාගයේ පැවති බෞද්ධ පුනරුද ව්‍යාපාරයේ කැපී පෙනෙන නායකයෙකු ලෙස ද උන්වහන්සේ කටයුතු කළහ. සිදත් සඟරා සන්නස, කාව්‍යශේඛර සන්නස ආදී පොත්පත් රැසක් ද පූජ්‍ය සුමංගල හිමියන් විසින් රචනා කරන ලදි. එසේ ම 19 වන සියවස අග මෙරට අධ්‍යාපනයේ උන්නතිය වෙනුවෙන් ද සුමංගල හිමියන් අතින් විශාල සේවයක් සිදු විය.

### මුද්‍රණාල පිහිටුවීම හා මුද්‍රිත මාධ්‍ය යොදා ගැනීම

19 වන සියවසේ මුල් භාගය වන විට විවිධ මිෂනාරී සංවිධානවලට මුද්‍රණාල රැසක් තිබුණ නමුත්, බෞද්ධයන්ට කිසිදු මුද්‍රණාලයක් නොතිබුණි. මේ නිසා බුලත්ගම ධම්මාලංකාර සිරි සුමනතිස්ස හිමියෝ ඉතා අපහසුවෙන් අරමුදල් රැස් කර බෞද්ධයන් සඳහා මුද්‍රාණාලයක් පිහිටුවීමට කටයුතු කළහ. 1862 වර්ෂයේ දී ගාල්ලේ පිහිටවූ එය ලංකෝපකාර මුද්‍රණාලය ලෙස හැඳින්වේ. පසුව බෞද්ධයන් විසින් තවත් මුද්‍රණාල රැසක් පිහිටුවන ලදි.

මුද්‍රණාල පිහිටුවීම නිසා සඟරා, පුවත්පත් හා වෙනත් ප්‍රකාශන රැසක් මුද්‍රණ ද්වාරයෙන් එළිදැක්වීමට බෞද්ධයන්ට හැකියාව ලැබුණි. එබඳු බෞද්ධ ප්‍රකාශන කිහිපයක් පහත දැක්වේ.

| | |
|---|---|
| ලක්මිණි පහන | සරසවි සඳරැස |
| සිංහල ජාතිය | සිංහල බෞද්ධයා |




**3.2 රූපය - කතළුව රන්වැල්ල පුරාණ විහාරයේ තිබෙන පැරණි මුද්‍රණ යන්ත්‍රය සහ "සරසවි සඳරැස" මුල් පිටුවේ චිත්‍රය**

මිෂනාරීන් සමග තරගයට මෙන් බෞද්ධයන් විසින් පළ කරන ලද මෙකී පුවත්පත්, සඟරා හා වෙනත් ප්‍රකාශන මගින් බෞද්ධ ජනතාව තුළ ප්‍රබෝධයක් ඇති කිරීමටත්, ප්‍රතිවාදීන්ගේ විවේචනවලට පිළිතුරු ලබා දීමටත් හැකි විය.

### වාදවිවාද පැවැත්වීම

ඉහත සඳහන් පරිදි මුද්‍රිත මාධ්‍ය යොදා ගැනීමට අමතරව ඇතැම් භික්ෂූන් වහන්සේලා මිෂනාරි පූජකතුමන්ලා සමග ප්‍රසිද්ධ වාදවිවාද පැවැත්වීමටත් කටයුතු කළහ. පූජ්‍ය මිගෙට්ටුවත්තේ ගුණානන්ද හිමියෝ මෙම වාද විවාදවල මූලිකත්වය ගත්හ. පූජ්‍ය හික්කඩුවේ ශ්‍රී සුමංගල හිමි, පූජ්‍ය වස්කඩුවේ සුභූති හිමි, පූජ්‍ය රත්මලානේ ධර්මාලෝක හිමි වැනි උගත් හිමිවරු ද ඊට සහාය දුන්හ. ලංකාවේ ස්ථාන පහක පැවැත්වූ මෙබඳු ප්‍රසිද්ධ වාද පහක් පංච මහාවාද ලෙස හැඳින්වේ. මේවා නැරඹීමට විශාල පිරිසක් මහත් ඕනෑකමින් සහභාගි වී තිබේ. මෙම වාද විවාද නිසා බෞද්ධ ජනතාව තුළ විශාල ප්‍රබෝධයක් ඇති විය.

## පංචමහා වාද

1. බද්දේගම වාදය - 1865
2. වරාගොඩ වාදය - 1865
3. උදන්විට වාදය - 1866
4. ගම්පොළ වාදය - 1871
5. පානදුරාවාදය - 1873

මෙම වාද අතුරින් පානදුර ප්‍රදේශයේ පැවැත්වූ පානදුරාවාදය ජාත්‍යන්තර වශයෙන් ද ප්‍රසිද්ධියට පත් විය. මෙම වාදය පිළිබඳව ලියවුණ කුඩා පොතක් කියවීමෙන් පැහැදුණ ඇමරිකානු ජාතික හෙන්රි ස්ටීල් ඕල්කොට්තුමා හා බ්ලැවැට්ස්කි මැතිණිය ලංකාවට පැමිණියහ.

### පූජ්‍ය මිගෙට්ටුවත්තේ ගුණානන්ද හිමි



දකුණු ප්‍රදේශයේ බලපිටියට නුදුරු මොහොට්ටිවත්ත හෙවත් මිගෙට්ටුවත්ත පූජ්‍ය ගුණානන්ද හිමියන්ගේ ගම් ප්‍රදේශය විය. පසුව පූජ්‍ය මිගෙට්ටුවත්ත ගුණානන්ද හිමි යන නාමයෙන් රට පුරා ප්‍රසිද්ධියට පත් වූ උන්වහන්සේ බෞද්ධ පුනරුද ව්‍යාපාරයේ කැපී පෙනෙන නායකයෙකු බවට පත් වූ සේක. මිෂනාරී පූජකතුමන්ලා සමග බුදුදහම පිළිබඳ ප්‍රසිද්ධ වාද විවාද පැවැත්වීම පූජ්‍ය ගුණානන්ද හිමියන්ගේ ජීවිතයේ කැපී පෙනෙන සිදුවීමකි. ඒ හිමියන්ගේ ප්‍රධානත්වයෙන් 1873 වර්ෂයේ දී මිෂනාරීන් සමඟ පැවති පානදුරාවාදයට ජාත්‍යන්තර ප්‍රසිද්ධියක් ලැබුණි. උන්වහන්සේ විසින් එසේ පවත්වන ලද වාද පහක් පංචමහා වාද වශයෙන් හැඳින්වේ. කොළඹ පරම විඥානාර්ථ සමාගම පිහිටුවීමේ දී මෙන් ම බෞද්ධ පාසල් පිහිටුවීමේ ව්‍යාපාරයේ දී ද පූජ්‍ය මිගෙට්ටුවත්තේ ගුණානන්ද හිමියන්ගෙන් විශාල සේවයක් සිදු විය.

## බෞද්ධ පාසල් පිහිටුවීම

ක්‍රි. ව. 1880 දී, ඇමරිකානු ජාතික හෙන්රි ස්ටීල් ඕල්කොට්තුමා හා හෙලේනා බ්ලැවැට්ස්කි මැතිනිය ලංකාවට පැමිණ බුදුදහම වැළඳ ගත්හ. ඕල්කොට්තුමාගේ මගපෙන්වීම මත පරම විඥානාර්ථ සමාගම නමින් සංවිධානයක් මෙරට පිහිටුවූ අතර එය ගිහි පැවිදි දෙපිරිසට ම එක්ව කටයුතු කළ හැකි පොදු සංවිධානයක් බවට පත් විය.

පාසල් පිහිටුවීමට හා පවත්වාගෙන යාමට අවශ්‍ය අරමුදල් නොමැති වීම හා සංවිධාන ශක්තිය ප්‍රමාණවත් නොවීම නිසා එතෙක් කල් බෞද්ධයන්ට පාසල් පිහිටුවීමට හැකියාවක් නොතිබුණි. හෙන්රි ස්ටීල් ඕල්කොට්තුමා මෙරට බෞද්ධ පාසල් පිහිටුවීමට පෙරමුණ ගෙන ක්‍රියා කළේ ය. ගිහි පැවිදි උගතුන් රාශියක් ද මේ සඳහා ක්‍රියාකාරීව කටයුතු කළහ. එබඳු නායකයන් කිහිප දෙනෙකුගේ නම් පහත දැක්වේ.



**3.3 රූපය - ඕල්කොට්තුමා හා හෙලේනා බ්ලැවැට්ස්කි මැතිනිය**

- පූජ්‍ය හික්කඩුවේ ශ්‍රී සුමංගල හිමි
- පූජ්‍ය මිගෙට්ටුවත්තේ ගුණානන්ද හිමි
- පූජ්‍ය රත්මලානේ ධර්මාලෝක හිමි
- අනගාරික ධර්මපාලතුමා

බෞද්ධ පුනරුදය සමග බෞද්ධ පාසල් පිහිටුවීමේ ව්‍යාපාරයක් ආරම්භ කළ නිසා මෙරට ප්‍රධාන නගර කිහිපයක පරමවිඥානාර්ථ සමාගමේ මැදිහත් වීමෙන් බෞද්ධ පාසල් රැසක් පිහිටුවීමට හැකියාව ලැබුණි. එබඳු පාසල් කිහිපයක් මෙසේ ය.

- ❖ කොළඹ ආනන්ද විද්‍යාලය
- ❖ මහනුවර ධර්මරාජ විද්‍යාලය
- ❖ ගාල්ල මහින්ද විද්‍යාලය
- ❖ නාවලපිටිය අනුරුද්ධ විද්‍යාලය
- ❖ කොළඹ මියුසියස් විද්‍යාලය

බෞද්ධ පාසල් ආරම්භ වීමත් සමග නව පාසල් පොත්පත් මුද්‍රණය කොට දරුවන් අතට පත්කිරීම, බෞද්ධ දූ දරුවන්ට ඉංග්‍රීසි අධ්‍යාපනය ලබාදීම ආදිය පිණිස ද කටයුතු කෙරිණි. ඉරුදින දහම් පාසල් ඇරඹීම, වෙසක් පොහොය දිනය නිවාඩු දිනයක් බවට පත් කිරීම, බෞද්ධ කොඩිය නිර්මාණය කිරීම යන සිදුවීම් බෞද්ධ පුනරුද ව්‍යාපාරයේ තවත් වැදගත් කටයුතු කිහිපයකි.

## හෙන්රි ස්ටීල් ඕල්කට්තුමා



කර්නල් හෙන්රි ස්ටිල් ඔල්කට්තුමා 1832 වර්ෂයේ දී ඇමරිකාවේ නිව් ජර්සි ප්‍රාන්තයේ උපත ලබා ඇත. නිව්යෝර්ක්හි පාසලකින් මූලික අධ්‍යාපනය ලැබූ මෙතුමා පසුව කොලොම්බියා විශ්වවිද්‍යාලයට ඇතුළත්ව සිය උපාධිය ලබා ගත්තේ ය. ඔල්කට්තුමා මුල් කාලයේ දී ඇමරිකානු නාවුක දෙපාර්තමේන්තුවේ කර්නල්වරයෙක් ලෙස හමුදා සේවයේ නියැළී ඇත. පසුව හෙලේනා බ්ලැවැට්ස්කි නම් කාන්තාව සමග එක් ව නිව්යෝර්ක් ප්‍රදේශයේ සමාජසේවා කටයුතු සඳහා පරමවිඥානාර්ථ සමාගම ඇරඹීමට එතුමා පුරෝගාමී වී ඇත. පානදුරාවාදය ගැන ලියවුණු කුඩා පොතක් කියවීමෙන් පැහැදුණු හෙන්රි ස්ටීල් ඕල්කට් තුමා පූජ්‍ය හික්කඩුවේ නාහිමියන් හා පූජ්‍ය මිගෙට්ටුවත්තේ ගුණානන්ද හිමියන් සමග ලිපි හුවමාරු කරගෙන ඇත. මෙහි ප්‍රතිඵලයක් ලෙස 1880 වර්ෂයේ දී එතුමා ලංකාවට පැමිණියේ ය.

### ඕල්කට්තුමාගෙන් සිදු වූ සේවය

- බෞද්ධ පාසල් අරමුදලක් පිහිටුවීමට පුරෝගාමී වීම
- ඉරුදින දහම් පාසල් ඇරඹීම
- වෙසක් පොහොය දිනය රජයේ නිවාඩු දිනයක් බවට පත් කිරීමට පුරෝගාමී වීම
- බෞද්ධ කොඩිය නිර්මාණය කිරීම යන කාර්යන් සඳහා ද බෞද්ධ භික්ෂූන් වහන්සේලා හා ගිහි නායකයන් සමග මෙතුමා ද පෙරමුණ ගෙන කටයුතු කොට ඇත

## දේශීය සංස්කෘතිය ආරක්ෂා කරගැනීමට කටයුතු කිරීම

බ්‍රිතාන්‍ය පාලන සමයේ දේශීය සංස්කෘතියට එල්ල වූ අභියෝග නිසා ඇති වී තිබූ අභාග්‍ය සම්පන්න තත්වය පිළිබඳව අනගාරික ධර්මපාලතුමා ඇතුළු බෞද්ධ නායකයෝ අවධානය යොමු කළහ. ඒ අනුව ජාතිකාභිමානය නැවත නගා සිටුවා දේශීය සංස්කෘතියේ අගය වටහා දීමට ඔවුහු කැප වූහ. අනගාරික ධර්මපාලතුමාට අමතරව වලිසිංහ හරිස්චන්ද්‍ර, පියදාස සිරිසේන හා ජෝන් ද සිල්වා වැනි උගතුන් ද දේශීය සංස්කෘතියේ අගය ජනතාවට වටහා දුන් නායකයන් අතර කැපී පෙනෙන කිහිප දෙනෙකි.

ඩී. බී. ජයතිලක මැතිතුමා කොළඹ තරුණ බෞද්ධ සංගමය පිහිටුවීමට පුරෝගාමී වෙමින් තරුණ පිරිස තුළ ජාතික හැඟීමක් ඇති කිරීමට කටයුතු කළේ ය. එමෙන් ම ඉංග්‍රීසි රජය විසින් රට පුරා සුරාසැල් විවෘත කිරීමට විරුද්ධව භික්ෂූන් වහන්සේලා හා ප්‍රභූන් අමද්‍යප ව්‍යාපාරයක් ආරම්භ කළ අතර දේශීය ජනතාව මද්‍යසාර පානයට පුරුදුවීම වලක්වා ගැනීමට එමගින් විශාල සේවයක් සිදු විය.

මීට අමතරව රට පුරා නටබුන්ව ගිය දාගැබ්, පිළිම ආදිය ප්‍රතිසංස්කරණය කොට යළි ඒවා නගා සිටුවීමේ ව්‍යාපාරයක් ද ඇරඹිණ. මේ අතර වලිසිංහ හරිස්චන්ද්‍ර මහතා අනුරාධපුරයේ නටබුන්ව ගිය බෞද්ධ පූජනීය ස්ථාන ආරක්ෂා කරගැනීමේ ව්‍යාපාරයක් ආරම්භ කළේ ය. අනගාරික ධර්මපාලතුමා ඉන්දියාවට ගොස් එරට පවතින බෞද්ධ පූජනීය ස්ථාන රැක ගැනීමට පියවර ගත්තේ ය. තව ද ජෝන් ද සිල්වා වැනි සුප්‍රකට නාට්‍යවේදීන් ඓතිහාසික හා බෞද්ධ ප්‍රවෘත්තීන් ඇතුළත් නාට්‍ය රචනා කොට රඟ දැක්වී ය. පියදාස සිරිසේන මහතා ප්‍රබන්ධ කතා රචනා කරමින් හා පුවත්පත් යොදා ගනිමින් දේශීය සංස්කෘතියේ අගය මතු කොට දැක්වීමට කටයුතු කළේ ය.

### අනගාරික ධර්මපාල තුමා



**3.4 රූපය - අනගාරික ධර්මපාලතුමා හා එතුමා භාවිත කළ වාහනය**

අනගාරික ධර්මපාලතුමා 1864 වසරෙහි කොළඹ දී උපත ලැබූ අතර එතුමාගේ මුල් නාමය දොන් ඩේවිඩ් හේවාවිතාරණ විය. මෙතුමා ශාන්ත තෝමස් විද්‍යාලයෙන් මූලික අධ්‍යාපනය ලබා, පසුව ශාන්ත බෙනඩික් විද්‍යාලයෙන් හා කොළඹ රාජකීය විද්‍යාලයෙන් ද්විතීයක අධ්‍යාපනය ලබා ගත්තේ ය.

පූජ්‍ය හික්කඩුවේ ශ්‍රී සුමංගල හිමි ඇතුළු භික්ෂූන් වහන්සේලාගෙන් පාලි භාෂාව හා ත්‍රිපිටකය හැදෑරීමට එතුමා කටයුතු කොට ඇත. පසුව බෞද්ධ පරමවිඥානාර්ථ සමාගමට බැඳුණු එතුමා ස්වකීය නාමය ධර්මපාල ලෙස වෙනස් කර ගනිමින් අනගාරික ජීවිතයක් ගත කළේ ය. සිය ජීවිතය බුදු දහම වෙනුවෙන් කැප කළ මෙතුමා ලාංකිකයන්ගේ භාෂාව, සංස්කෘතිය ඇතුළු සාම්ප්‍රදායික උරුමයන් රැක ගැනීමේ වැදගත්කම රටවැසියන්ට පහදා දෙමින් කටයුතු කළේ ය. එතුමා සිය ජීවිත කාලය අවසානයේ දී සිරි දේවමිත්ත නමින් ඉන්දියාවේ දී පැවිදි භාවය ලබා ගත්තේ ය. 1933 වර්ෂයේ දී ඉන්දියාවේ සාරානාත්හි දි සිරි දේවමිත්ත හිමියෝ අපවත් වූහ.

**ධර්මපාලතුමාගේ ජාතික සේවාවන්**

- ❖ බෞද්ධ පාසල් පිහිටුවීමට කටයුතු කිරීම
- ❖ දේශීය සංස්කෘතිය රැක ගැනීමට ක්‍රියා කිරීම
- ❖ ලාංකිකයන් මද්‍යසාර පානයෙන් මුදවා ගැනීමට අමද්‍යප නායකයෙකු ලෙස ක්‍රියා කිරීම
- ❖ බුද්ධගයාව ඇතුළු ඉන්දියාවේ පූජනීය ස්ථාන රැක ගැනීමට ක්‍රියා කිරීම
- ❖ සිංහල බෞද්ධයා පුවත්පත හා මහාබෝධි සඟරාව වැනි ප්‍රකාශන ආරම්භ කිරීම

## 3.3 හින්දු පුනර්ජීවන ව්‍යාපාරය

මිෂනාරී සංවිධානවල ක්‍රියාකාරකම් හේතුවෙන් මෙරට හින්දු ආගමිකයන්ට ද පහර වැදුණි. විශේෂයෙන් යාපන ප්‍රදේශයේ ඉතා ප්‍රබල ලෙස මිෂනාරී ව්‍යාපාරය පැතිරයාම නිසා හින්දු ආගමට අභියෝග එල්ල විය. මීට ප්‍රතිචාර ලෙස හින්දු ආගමික නායකයන් ගත් ක්‍රියාමාර්ග නිසා හින්දු ආගමික හා සංස්කෘතික පිබිදීමක් ඇති විය. මුද්‍රණාල පිහිටුවීම, මුද්‍රිත පොත්පත් හා ප්‍රසිද්ධ දේශන මගින් හින්දු ජනතාව දැනුම්වත් කිරීම හා හින්දු ශිෂ්‍යයන් සඳහා නව පාසල් පිහිටුවීම ආදිය හින්දු පුනරුද ව්‍යාපාරයේ කැපී පෙනෙන ලක්ෂණ වේ. හින්දු පුනරුද ව්‍යාපාරයට නායකත්වය සපයන ලද්දේ ආරුමුග නාවලර්තුමන් විසිනි. මුලින් ම ''උදයභාණු'' නමින් පුවත්පතක් ආරම්භ කොට හින්දු ආගම හා සංස්කෘතියේ වැදගත්කම පිළිබඳව දෙමළ ජනතාව දැනුම්වත් කිරීමට එතුමා කටයුතු කළේ ය. අනතුරුව වන්නාර්පන්නෙයි ''ශෛව ප්‍රකාශ'' විද්‍යාලය පිහිටුවා හින්දු සිසුන්ට සමයානුගත අධ්‍යාපනයක් ලබා දීමට හින්දු පාසල් පිහිටුවීමේ ව්‍යාපාරයක් ද එතුමා ආරම්භ කළේ ය. එතුමාගේ අභාවයෙන් පසුව ද පොන්නම්බලම් අරුණාචලම් හා පොන්නම්බලම් රාමනාදන් වැනි නායකයෝ හින්දු පාසල් පිහිටුවීමේ ව්‍යාපාරය තවදුරටත් ඉදිරියට මෙහෙයවූහ.

## ආරුමුග නාවලර් තුමා



ක්‍රි. ව. 1822 දී උපත ලද ආරුමුග නාවලර්තුමා මිෂනාරී පාසලක මූලික අධ්‍යාපනය ලැබුවේ ය. පසුව මෙතෝදිස්ත සභාවේ දේවගැතිවරයෙකු යටතේ එතුමා සේවය කළේ ය. මේ නිසා මිෂනාරී කටයුතු පිළිබඳ එතුමාට හොඳ අවබෝධයක් තිබුණි. හින්දු දරුවන්ට කුඩා අවධියේ සිට ම ආගම ඉගැන්වීමට හා පුද පූජා කියා දීමට හින්දු පාසල් ආරම්භ කිරීම හා පොත්පත් මුද්‍රණය සඳහා මුද්‍රණාලයක් පිහිටුවීමේ අවශ්‍යතාව ආරුමුග නාවලර්තුමා නිරන්තරයෙන් අවධාරණය කළේ ය. ඒ අනුව පරිත්‍යාගශීලීන්ගේ ආධාරයෙන් යාපනයේ ශෛව ප්‍රකාශ් විද්‍යාශාලෛ යනුවෙන් පාසලක් ඇරඹීමට ආරුමුග නාවලර්තුමා පියවර ගත්තේ ය. මිෂනාරී පාසල්වලින් ලද අත්දැකීම් නිසා එතුමා එහි විෂයමාලා නූතනයට ගැළපෙන අයුරින් සකස් කළේ ය. පසුකලෙක යාපනය පුරා හින්දු පාසල් රැසක් ආරම්භ වූ අතර නාවලර්තුමා පිහිටුවූ පාසල එහි මූලිකත්වයට පත් විය. ශෛව පරිපාලන සභාව හා හින්දු අධ්‍යාපන සභාව ආරම්භ කොට එමගින් හින්දු පාසල් ඉදි කිරීමට පියවර ගැනුණි. දෙමළ සිසුන්හට ඉංග්‍රීසි අධ්‍යාපනය ලබාදීම පිණිස 1872 වර්ෂයේ දී යාපනයේ ශිවන්ගල විද්‍යාලය ආරම්භ කළේ ය. පසුව එය යාපනයේ හින්දු විද්‍යාලය ලෙස ප්‍රචලිත විය. මෙසේ හින්දු ජනතාව වෙනුවෙන් මහත් සේවයක් සිදු කළ මෙතුමා 1879 වර්ෂයේ දී අභාවයට පත් විය.

### ආරුමුග නාවලර්තුමාගේ ජාතික සේවය

- ❖ ශ්‍රී ලංකාවේ හින්දු ආගමික පුනරුදයට නායකත්වය සැපයීම.
- ❖ හින්දු පාසල් පිහිටුවීමට පුරෝගාමී වීම.
- ❖ හින්දු භාෂාව, සාහිත්‍ය හා සංස්කෘතිය රැක ගැනීමට ක්‍රියා කිරීම.
- ❖ බාල පාඨම් නම් පෙළපොත් රචනය සහ ස්කන්ද පුරාණම්, පෙරිය පුරාණම් වැනි ග්‍රන්ථ දෙමළ භාෂාවට පරිවර්තනය කිරීම.




**3.5 රූපය - යාපනය හින්දු විද්‍යාලය**



## පොන්නම්බලම් රාමනාදන් මහතා

1851 වර්ෂයේ දී උපත ලද පොන්නම්බලම් රාමනාදන් මහතා කොළඹ රාජකීය විද්‍යාලයෙන් අධ්‍යාපනය ලැබූ අතර, පසුව නීතිවේදියෙකු ලෙස කටයුතු කළේ ය. මොහු හින්දු දරුවන්ගේ අධ්‍යාපනය නගා සිටුවීම සඳහා පාසල් ආරම්භ කිරීමට සිය පෞද්ගලික ධනය නොමසුරුව පරිත්‍යාග කළ ශ්‍රේෂ්ඨ නායකයෙකි. පරමේශ්වර විද්‍යාලය, රාමනාදන් විද්‍යාලය ආදි පාසල් පිහිටුවා හින්දු දරුවන්ගේ අධ්‍යාපන උන්නතියට රාමනාදන්තුමා ක්‍රියා කළේ ය.

මෙතුමා 1879 වර්ෂයේ දී ව්‍යවස්ථාදායක සභාවේ සමාජිකයෙකු ලෙස පත් විය. 1910 කෲව් මැකලම් ප්‍රතිසංස්කරණ අනුව ප්‍රථම උගත් ලාංකික මන්ත්‍රීවරයා වශයෙන් 1912 වසරේ දී එතුමා තේරී පත් විය.

1915 දී සිංහල - මුස්ලිම් කෝලාහල අවස්ථාවේ දී ආණ්ඩුවෙන් බෞද්ධයන්ට සිදු වූ අසාධාරණ හා අයුක්ති සහගත තත්වය පිළිබඳව බෞද්ධයන් වෙනුවෙන් ද එතුමා හඬ නැගුවේ ය.

### පොන්නම්බලම් අරුනාචලම් මහතා

1853 වර්ෂයේ දී ශ්‍රීමත් පොන්නම්බලම් අරුනාචලම් මහතා උපත ලැබී ය. මෙතුමා පොන්නම්බලම් රාමනාදන් මහතාගේ සහෝදරයෙකි. කොළඹ රාජකීය විද්‍යාලයෙන් මූලික අධ්‍යාපනය ලැබූ මෙතුමා බ්‍රිතාන්‍යයේ කේම්බ්‍රිජ් විශ්වවිද්‍යාලයෙන් සිය උපාධිය ලබා ගත්තේ ය. ඔහු සිය උපාධිය සඳහා නීතිය හා ඉතිහාසය යන විෂයන් හදාරා ඇත. මෙතුමා දේශපාලනඥයෙකු හා සමාජ සේවකයෙකු ලෙස ද වඩාත් ප්‍රචලිත විය.






**3.6 රූපය - හින්දු හා මුස්ලිම් ආගමික පුනර්ජීවන සමයේ ආරම්භ කල ඉන්දු සාදනම් පුවත්පතේ (වම් පසින්) සහ මුස්ලිම් නෙයිසන් පුවත් පතේ මුල් පිටු (දකුණු පසින්)**

## 3.4 ඉස්ලාම් පුනර්ජීවන ව්‍යාපාරය



**3.7 රූපය - මරදාන සහිරා විද්‍යාලය**

ශ්‍රී ලංකාවේ බෞද්ධ හා හින්දු පුනරුදයට සමකාලීනව ඉස්ලාම් ජනතාව අතරත් ආගමික හා සංස්කෘතික පුනරුදයක් ඇති විය. මෙරට ඉස්ලාම් පුනරුදයට නායකත්වය සපයන ලද්දේ වෘත්තියෙන් නීතිඥයෙකු වූ ඇම්. සී. සිද්ධිලෙබ්බේ මහතා විසිනි. ඉංග්‍රීසින් විසින් ඊජිප්තුවෙන් පිටුවහල් කරන ලද ඔරබි පාෂා 1883 වර්ෂයේ දී මෙරටට පැමිණ ඉස්ලාම් පුනරුද ව්‍යාපාරය සඳහා සිද්දි ලෙබ්බේ මහතාට සහයෝගය ලබා දුන්නේ ය. ඉස්ලාම් ජනතාව මුද්‍රිත මාධ්‍යයෙන් දැනුම්වත් කිරීම සඳහා සිද්ධිලෙබ්බේ මහතා විසින්



3.8 රූපය ඇම්. සී. සිද්දිලෙබ්බේ මහතා

මුස්ලිම් නෙයිසන් නමින් සඟරාවක් ආරම්භ කරන ලදි. අනතුරුව කොළඹ සහිරා විද්‍යාලය වැනි පාසල් පිහිටුවමින් ඉස්ලාම් දහමට අනුගත අධ්‍යාපනයක් මුස්ලිම් දරුවන්ට ලබා දීමට සිද්දි ලෙබ්බෙ මහතා කටයුතු කළේ ය. ඔහුට පසුව ටී. බී. ජයා වැනි නායකයෝ ඉස්ලාම් ආගමික අධ්‍යාපන ක්‍රමය ඉදිරියට ගෙන යාමට කැප වී ක්‍රියා කළහ.

## ටී. බී. ජයා මහතා



1890 වර්ෂයේ ජනවාරි මාසයේ ගලගෙදර ප්‍රදේශයේ දී උපත ලැබී ය. සිය මූලික අධ්‍යාපනයෙන් පසුව වෙල්ස් කුමාර විද්‍යාලය, ආනන්ද විද්‍යාලය වැනි පාසල් කිහිපයක ගුරුවරයෙකු ලෙස සේවය කළ මෙතුමා අධ්‍යාපන ක්ෂේත්‍රයේ ලැබූ අත්දැකීම් යොදා ගනිමින් ඉස්ලාම් පාසල් පිහිටුවීම හා දියුණු කිරීමේ ව්‍යාපාරයට දායකත්වය දැක්වී ය. කොළඹ සහිරා විද්‍යාලයේ විදුහල්පති තනතුරට පත් වූ මෙතුමා එහි ශාඛා දිවයිනේ විවිධ ප්‍රදේශවල පිහිටුවීමට කටයුතු කළේ ය. ව්‍යවස්ථාදායකයේ නියෝජිතයෙකු ලෙස කටයුතු කළ ජයා මහතා සිංහල හා දෙමළ නායකයන් සමග එකතු වී ජාතික සමගිය ගොඩනැගීමට ද කැපවීමෙන් කටයුතු කළේ ය.

### ක්‍රියාකාරකම



**ලංකාවේ ආගමික හා ජාතික පුනරුදයේ නායකයන් පිළිබඳ කතාවක් පන්තියට ඉදිරිපත් කරන්න.**

# 04 ඉන්දියානු නිදහස් සටන් ව්‍යාපාරය



## හැඳින්වීම

දේශ ගවේෂණවල ප්‍රතිඵලයක් වශයෙන් **1498** වර්ෂයේ දී පෘතුගීසි ජාතික වස්කෝ ද ගාමා ඇතුළු පිරිස ඉන්දියාවට පැමිණීම, ආසියානු දේශපාලන ඉතිහාසයේ වැදගත් සිදුවීමකි. මෙම ගමනෙන් පසුව විවිධ කාල වකවානුවල පෘතුගීසි, ලන්දේසි, ඉංග්‍රීසි හා ප්‍රංශ ජාතිකයෝ ඉන්දියාවට පැමිණ එහි වෙරළබඩ ප්‍රදේශවල තම බල කඳවුරු ගොඩනැගූහ. මෙකී යුරෝපීයන් අතරෙන් ඉන්දියාව තුළ ස්ථාවර දේශපාලන බලයක් ගොඩනගන ලද්දේ ඉංග්‍රීසින් විසිනි. විවිධ උපක්‍රම භාවිත කරමින් සමස්ත ඉන්දියාවෙහි ම තම බලය පතුරුවා ඉංග්‍රීසීහු එය බ්‍රිතාන්‍ය යටත් විජිතයක් බවට පත් කර ගත්හ. ඉන්දියාව තුළ ඉංග්‍රීසින් ගෙන ගිය පාලනයට එරෙහිව **19** වන ශතවර්ෂය අග භාගයේ ජාතික නිදහස් ව්‍යාපාරයක් ආරම්භ වූ අතර **20** වන ශතවර්ෂයේ මුල් භාගය වන විට එය දැඩි දේශානුරාගී ව්‍යාපාරයක් බවට වර්ධනය විය. විවිධ භාෂා කතා කළ විවිධ ජන වර්ගවලට අයත් වූ ඉන්දියානුවෝ සිය මාතෘභූමියේ නිදහස වෙනුවෙන් දේශානුරාගයෙන් යුතුව එක්සත්ව නැගී සිටීම ඉන්දියානු නිදහස් සටනේ කැපී පෙනෙන ලක්ෂණයකි. මෙබඳු හේතු නිසා එය සෙසු ආසියාතික යටත් විජිතවල නිදහස් ව්‍යාපාරවලට ද ආදර්ශයක් විය. මෙම පරිච්ඡේදයේ දී ඉන්දියාව කෙරෙහි එල්ල වූ යුරෝපීය බලපෑම්, ඉංග්‍රීසින් ඉන්දියාව තුළ බලය පැතිරවීම, ඉන්දියානු නිදහස් සටනේ ස්වරූපය හා එම සටනේ කැපී පෙනෙන නායකයන් පිළිබඳව ද අවධානය යොමු කෙරේ.

## 4.1 ඉන්දියාව තුළ යුරෝපීය බලපෑම්

පෘතුගීසීන් ඉන්දියාවට පැමිණීමෙන් පසු ඉන්දියානු සාගරය ආශ්‍රිතව එතෙක් පැවති අරාබි වෙළෙඳ කටයුතු බෙහෙවින් අඩපණ විය. පෘතුගීසීන්ට පසුව ලන්දේසි, ඉංග්‍රීසි හා ප්‍රංශ ජාතිකයන් ඉන්දියාවට පැමිණීම නිසා වෙළෙඳ කටයුතු හා දේශපාලන බල ව්‍යාප්තිය සම්බන්ධයෙන් යුරෝපීයන් අතර ම ගැටුම් ඇති විය. ඒ වන විට යුරෝපා ජාතිකයන් කිහිපයක් ඉන්දියානු වෙරළබඩ ප්‍රදේශවල වෙළෙඳ ගබඩා හෝ බලකොටු පිහිටුවාගෙන සිටි හෙයින් ඔවුනොවුන් අතර ඇති වූ ගැටුම් ඉන්දියාව කෙරෙහි ද බලපෑවේ ය. ආසියාවට පැමිණි මුල් කාලයේ දී වෙළෙඳාමෙන් වාසි ලබා ගැනීම, ආගම පැතිරවීම වැනි අරමුණු කෙරෙහි යුරෝපීයන්ගේ ප්‍රමුඛ අවධානය යොමුව පැවතියත් යුරෝපීයන් අතර ම ගැටුම් ඇතිවීමත් සමග දේශපාලන බල ව්‍යාප්තිය කෙරෙහි ද ඔවුනොවුන් අතර ප්‍රබල උනන්දුවක් ඇති විය. ඉන්දියාව තුළ දේශපාලන බල ව්‍යාප්තියේ දී ඉංග්‍රීසීහු සෙසු යුරෝපීයන්ට වඩා ඉදිරියෙන් සිටියහ. එහි ප්‍රතිඵලයක් වශයෙන් ඉන්දියාව බ්‍රිතාන්‍ය යටත් විජිතයක් බවට පත් විය.

### පෘතුගීසි, ලන්දේසි, ඉංග්‍රීසි හා ප්‍රංශ ජාතිකයන් ඉන්දියාවට පැමිණීම

වස්කෝද ගාමා ඉන්දියාවට පැමිණි අවධිය වන විට එරට දේශපාලන එක්සත්කමක් නොතිබුණි. දකුණේ පැවති විජය නගර රාජ්‍ය හැරුණුවිට රට ඇතුළත ප්‍රදේශ රැසක ස්වාධීන රාජධානි පැවතුණි. එසේ ම ඉන්දියාවේ වෙරළබඩ ප්‍රදේශවල කැලිකට්, ගෝව ආදි කුඩා රාජධානි කිහිපයක් දක්නට ලැබුණි. මෙම රාජධානි අතර එක්සත්කමක් නොතිබීම පෘතුගීසීන්ට ඉන්දියාවේ වෙරළබඩ ප්‍රදේශ කිහිපයක බලය පතුරුවා ගැනීමට උපකාරි විය.

1509 වර්ෂයේ දී පෙරදිග පෘතුගීසි ප්‍රතිරාජයා වශයෙන් පත්ව ආ අපොන්සෝ ද අල්බ්‍යුකර්ක් ඉන්දියාව හා ඉන්දියානු සාගර කලාපයේ පෘතුගීසි බලය පැතිරවීමට විශාල සේවයක් කළේ ය. ඔහු 1510 වර්ෂයේ දී ගෝව යටත් කර එය පෙරදිග පෘතුගීසි මධ්‍යස්ථානය බවට පත් කර ඉන් නොනැවතී ඉන්දියානු සාගරයේ පෘතුගීසි වෙළෙඳ බලයක් ගොඩනැගීමට ද පියවර ගත්තේ ය. අනතුරුව ගත වූ කාලයේ දී ඉන්දියාවේ ප්‍රදේශ රැසක පෘතුගීසීහු තම බලය ගොඩනැගූහ. කෙසේ හෝ පෘතුගීසීන්ට ඉන්දියාවේ වෙරළබඩ ප්‍රදේශවලින් ඔබ්බට රට ඇතුළත බලයක් ගොඩනැගීමට හැකියාව නොලැබුණි. එහෙත් ගෝව මධ්‍යස්ථානය කරගෙන ශතවර්ෂයකට වැඩි කාලයක් ඔවුහු ඉන්දියානු සාගරයේ වෙළෙඳ ඒකාධිකාරයක් පවත්වාගෙන ගියහ.

ඉන්දියානු වෙරළබඩ පැවති පෘතුගීසි බලයට මුල්වරට තර්ජන එල්ල වූයේ ලන්දේසීන්ගෙනි. ලන්දේසීහු 1602 වර්ෂයේ දී පෙරදිග ඕලන්ද වෙළෙඳ සමාගම පිහිටුවාගෙන (**VOC** සමාගම) ඉන්දියානු සාගරයට ශක්තිමත් නැව් කණ්ඩායමක් එවීමට කටයුතු කළහ. ලන්දේසීන්ගේ පැමිණීමත් සමග වෙළෙඳාම හා දේශපාලන බලය පැතිරවීම සම්බන්ධයෙන් පෘතුගීසීන් සමග ගැටුම් ඇති විය. ලන්දේසීන් මුලින් ම අවධානය යොමු කළේ කුළුබඩු බහුලව වැවෙන අග්නිදිග ආසියාතික ප්‍රදේශ කෙරෙහි ය. කුළු බඩු දිවයින්වලින් පෘතුගීසීන් පලවා හැරීමෙන් පසුව ඔවුහු ඉන්දියාව කෙරෙහි ද තම

අවධානය යොමු කළහ. පෘතුගීසි බලය පැතිරවීමට අල්බුකර්ක් කටයුතු කළ පරිද්දෙන් ආසියාවේ ලන්දේසි බලය පැතිරවීමේ දී පීටර්සර් කුන් නම් ලන්දේසි ජාතිකයාගෙන් විශාල සේවයක් සිදු විය. මේ අනුව ඉන්දියාවේ ගුජරාට්, බෙංගාල, ඔරිස්සා, බිහාර් වැනි ප්‍රදේශවල ලන්දේසි බලය පැතිරුණි.

බ්‍රිතාන්‍ය, තම මව්රට කරගත් ඉංග්‍රීසීහු පෙරදිග ඉන්දියානු ඉංග්‍රීසි වෙළෙඳ සමාගම පිහිටුවාගෙන 17 වන සියවස ආරම්භයේ දී ආසියාවට පැමිණියහ. ඉංග්‍රීසින් මුල් කාලයේ දී ජාවා, සුමාත්‍රා වැනි ප්‍රදේශ කෙරෙහි අවධානය යොමු කළත් ලන්දේසීන් සමග ගැටුම් ඇති වීමත් සමඟ ඔවුන්ගේ අවධානය ඉන්දියාව දෙසට යොමු විය. ඉංග්‍රීසින් ඉන්දියාවට පැමිණෙන විට එහි මූගල් අධිරාජ්‍ය ශක්තිමත්ව පැවතුණි. මේ නිසා මූගල් අධිරාජයා වූ ජහන්ගීර්ගේ අවසරය පරිදි 1613 වර්ෂයේ දී ඔවුහු සුරාට්වල වෙළෙඳ ගබඩාවක් පිහිටුවා ගත්හ. මෙසේ කාලයක් ගත වන විට ඉන්දියාවේ අහමදාබාද්, අග්‍රා, මදුරාසි ආදි ප්‍රදේශ රැසක ම බලය පිහිටුවා ගැනීමට ඉංග්‍රීසීහු සමත් වූහ. එංගලන්තයේ දෙවන චාල්ස් රජු පෘතුගාලයේ කැතරින් කුමරිය විවාහ කර ගත් අතර එහි ප්‍රතිඵලයක් වශයෙන් පෘතුගීසීහු තමන් සතු වූ බොම්බාය දායාද වශයෙන් ඉංග්‍රීසින්ට පැවරූහ.

ප්‍රංශ ජාතිකයන් ඉන්දියාව කෙරෙහි අවධානය යොමු කළේ සෙසු යුරෝපීයන්ට පසුව ය. 1664 වර්ෂයේ දී පෙරදිග ප්‍රංශ වෙළෙඳ සමාගම පිහිටුවාගෙන 1668 වර්ෂයේ දී ඉන්දියාවට පැමිණි ප්‍රංශ ජාතිකයෝ සුරාට්හි වෙළෙඳ ගබඩාවක් ඉදි කළහ. අනතුරුව පොන්ඩිචේරි, කරිකාල් හා චන්ද්‍රනගර් වැනි ප්‍රදේශ රැසක ප්‍රංශ බලකොටු ඉදි කෙරිණ.

### මූගල් අධිරාජ්‍ය



මූගල් අධිරාජ්‍යයට පදනම දමන ලද්දේ බාබුර් නමැති පාලකයා විසිනි. 1526 වර්ෂයේ දී උතුරු ඉන්දියානු ප්‍රදේශ කිහිපයක් ආක්‍රමණය කළ හෙතෙම එහි වෙන ම පාලනයක් පිහිටුවී ය. බාබුර්ගේ මුණුපුරෙකු වූ මහා අක්බාර් රජු මූගල් බලය අධිරාජ්‍ය තත්වයට ව්‍යාප්ත කළේ ය. 1556-1605 කාලයේ දී පාලන බලය දැරූ ඔහු උතුරු ඉන්දියාවේ විශාල ප්‍රදේශයක තම බලය පැතිරවී ය. අක්බාර්ට පසුව බලයට පැමිණි ජහන්ගීර් හා ෂා ජහන් යන රජවරුන් ද කැපී පෙනෙන මූගල් අධිරාජ්‍යයෝ වෙති. ෂා ජහන් රජු විසින් ටජ්මහල් නම් සුප්‍රකට නිර්මාණය ඉදි කරවන ලදි. ඔහුගෙන් පසු බලයට පැමිණි ඖරංසෙබ්ගේ කාලයේ දී මූගල් අධිරාජ්‍යය පරිහානිය කරා ගමන් කළේ ය.




**4.1 සිතියම - ඉන්දියාවේ යුරෝපීය බල ව්‍යාප්තිය**

## ඉන්දියාව බ්‍රිතාන්‍ය යටත් විජිතයක් බවට පත් වීම

ඉංග්‍රීසින් හා ප්‍රංශ ජාතිකයන් යුරෝපයේ දී නොයෙක් විට ගැටුම් ඇති කර ගත් දෙපිරිසකි. මේ නිසා ප්‍රංශ ජාතිකයන් ඉන්දියාවට පැමිණීම එහි ඉංග්‍රීසි බලයට අභියෝග යක් විය. 18 වන සියවස මැද වන විට පෙරදිග පෘතුගීසි හා ලන්දේසි බලය පිරිහෙමින් තිබුණි. මේ නිසා ඉන්දියාවේ අභ්‍යන්තර බලය පතුරුවා ගැනීම ඉංග්‍රීසින් හා ප්‍රංශ ජාතිකයන් අතර ගැටුමක් බවට පත් විය.

ඉන්දියාවේ අවසන් මුගල් අධිරාජයා වූ ඖරංසෙබ් 1707 වර්ෂයේ දී මිය යාමත් සමග එතෙක් ඉන්දියාවේ විශාල ප්‍රදේශයක බලය පතුරුවාගෙන සිටි මුගල් අධිරාජ්‍යය කැඩී බිඳී යෑමට කරුණු සැලසුණි. එහි ප්‍රතිඵල වශයෙන් එතෙක් කල් මුගල් බලය ඉවසා සිටි ඉන්දියාවේ විවිධ ජාතීන් ස්වාධීන රාජ්‍ය බිහි කර ගත් හෙයින් ඉන්දියාව තුළ ප්‍රාදේශීය රාජධානි රැසක් බිහි විය. මෙම කුඩා රාජධානි අතර එක්සත්කමක් නොතිබීම ඉංග්‍රීසින්ට බෙහෙවින් වාසිදායක විය. ඉංග්‍රීසින් සතු වූ නාවික ශක්තියත් එංගලන්ත ආණ්ඩුව ඉංග්‍රීසි වෙළෙඳ සමාගමට අවශ්‍ය සහය ලබා දීමත් ප්‍රංශ ජාතිකයන්ට එරෙහිව සටන් කිරීමේ දී ඉංග්‍රීසින්ට උපකාරී විය.

මේ අනුව මදුරාසිය මුල් කරගෙන ඉංග්‍රීසින් ද පොන්ඩිචේරිය මුල් කරගෙන ප්‍රංශ ජාතිකයෝ ද ඉන්දියානු වෙරළබඩ ප්‍රදේශවල බලය පතුරුවා ගැනීමට සටන් වැදුණහ. ඉංග්‍රීසින් හා ප්‍රංශ ජාතිකයන් අතර ඇති වූ සටන් මාලාව අවසන් වූයේ 1761 වර්ෂයේ දී පොන්ඩිචේරිය ඉංග්‍රීසින්ට යටත් වීමෙනි. ඒ සමග ම ඉන්දියාවේ ප්‍රංශ බලය බෙහෙවින් දුර්වල විය.

ඉන්දියාව අභ්‍යන්තරයෙහි ඉංග්‍රීසි බලය පිහිටුවීමේ ක්‍රියාවලිය බෙංගාලයෙන් ඇරඹිණ. බෙංගාලය හා අවට ප්‍රදේශ අතර පැවති අසමගිතා හා බල අරගලවලින් ප්‍රයෝජන ගත් ඉංග්‍රීසීහු 18 වන ශතවර්ෂයේ අග භාගය වන විට බෙංගාලය ඉංග්‍රීසි වෙළෙඳ සමාගමේ පාලනයට නතු කර ගත්හ. ඊට පසු ඉන්දියාවට පත්ව ආ ඉංග්‍රීසි ආණ්ඩුකාරවරු යුද්ධ මගින් මෙන් ම වෙනත් උපායශීලි කටයුතු මගින් ද ඉන්දියාව තුළ තම බලය පැතිරවීමට ක්‍රියා කළහ. මෙහි දී යුද්ධ මගින් ප්‍රදේශ යටත් කර ගැනීමට අමතරව උපකාරක ගිවිසුම් ක්‍රමය හා අස්වාමික න්‍යාය නම් උපායශීලි ප්‍රතිපත්ති යොදා ගැනීම ද කැපී පෙනේ.



**4.1 රූපය - සිපොයි භටයන් පිරිසක්**

**උපකාරක ගිවිසුම් ක්‍රමය** යටතේ අභ්‍යන්තර බල අරගල හෝ බාහිර සතුරු තර්ජන තිබූ ස්වදේශීය පාලකයන් සමග ඉංග්‍රීසි වෙළෙඳ සමාගම ගිවිසුම් ඇති කරගෙන එකී රාජධානිවල ආරක්ෂාවට ඉංග්‍රීසි හමුදාව නතර කෙරිණ. ගිවිසුම පරිදි ඉංග්‍රීසින්ගේ සේවය වෙනුවෙන් සේවය ලබා ගත් රාජ්‍යය නියමිත මුදල් ගෙවීමට අපොහොසත් වූ විට එම රාජධානියේ කොටසක් වෙළෙඳ සමාගමට අයත් විය. මෙම උපාය අනුව ඉංග්‍රීසීහු හයිද්‍රාබාද්, මයිසූර් ඇතුළු ඉන්දියානු ප්‍රදේශ රැසක් අත්පත් කර ගත්හ.

**අස්වාමික න්‍යාය** අනුව, නීත්‍යානුකූල රජ පරපුරට අයත් රාජ්‍ය උරුමකරුවෙකු නොමැතිව මිය යන පාලකයන්ගේ රාජධානි වෙළෙඳ සමාගමට අයත් ලෙස පිළිගැනුණි. මේ ක්‍රමය යටතේ ජායිපූර්, නාග්පූර් වැනි කුඩා රාජධානි රැසක් ඉංග්‍රීසීහු අත්පත් කර ගත්හ. මෙසේ යුද්ධ බලයෙන් ද විවිධ උපායශීලි කටයුතු මගින් ද 19 වන සියවස මැද වන විට සමස්ත ඉන්දියාව ම බ්‍රිතාන්‍ය පාලනයට නතු කර ගැනීමට ඉංග්‍රීසීහු සමත් වූහ.

## 4.2 1857 සිපොයි කැරැල්ල

ඉංග්‍රීසීන් යටතේ හමුදා සේවයට බඳවාගෙන සිටි ඉන්දියානුවන්, සිපොයි හමුදාව වශයෙන් හැඳින්වේ. ඉන්දියාව විශාල රටක් වූ බැවින් ඉංග්‍රීසි හමුදාව පමණක් එරට ආරක්ෂක කටයුතු සඳහා ප්‍රමාණවත් නොවී ය.




**4.2 සිතියම - සිපොයි කැරැල්ල ව්‍යාප්ත වූ ප්‍රදේශ**

මේ නිසා ඉන්දියාවේ සිටි ඉංග්‍රීසි හමුදාව මෙන් තුන් ගුණයක් පමණ ඉන්දියානුවන් පිරිසක් එරට හමුදාවට බඳවාගෙන තිබුණි.

සිපොයි හමුදාව වශයෙන් හඳුන්වන එකී ඉන්දියානුවන් වැඩි පිරිස හින්දු හා මුස්ලිම් භක්තිකයෝ වූහ. මෙම සිපොයි භටයන් විසින් 1857 වර්ෂයේ දී ඉංග්‍රීසි පාලනයට විරුද්ධව විශාල කැරැල්ලක් ආරම්භ කරන ලදි. එය සිපොයි කැරැල්ල වශයෙන් හැඳින්වේ.

පෙරදිග ඉන්දියානු වෙළෙඳ සමාගම ගෙන ගිය පාලනය පිළිබඳව මුල සිට ම ඉන්දියානුවන් තුළ විරෝධයක් තිබුණි. මේ නිසා වෙළෙඳ සමාගමේ පාලනයට විරුද්ධව ඉන්දියාව තුළ වරින් වර කැරලි ඇති විය. 1763 - 1856 අතර කාලයේ එබඳු කැරලි විසි-පහකට වැඩිය ඇති වී තිබේ. ඉන්දියාවේ විවිධ ප්‍රදේශවල වරින් වර ඇති වූ එම කැරලි වැඩි දුර ව්‍යාප්ත වීමට පෙර ඉංග්‍රීසීන් විසින් මර්දනය කරන ලදි. එහෙත් 1857 වර්ෂයේ දී සිපොයි භටයන් විසින් ආරම්භ කරන ලද කැරැල්ල හමුදාව තුළට පමණක් සීමා නොවී මහජනතාව අතරටත් පැතිරිණ. ඉංග්‍රීසීන්ට එම කැරැල්ල මර්දනය කිරීමට විශාල වෙහෙසක් දැරීමට සිදු විය. ඇතැම් ප්‍රදේශවල පොදු ජනතාව සමග එක් වෙමින් ඉංග්‍රීසීන් පලවාහැර ස්වදේශිකයන්ගේ පාලනයක් පිහිටුවා ගැනීමට සිපොයි භටයෝ උත්සාහ කළහ.



**4.2 රූපය - සිපොයි කැරැල්ලේ අවස්ථාවක් චිත්‍ර ශිල්පියෙකුගේ ඇසින්**

1857 වර්ෂයේ කැරැල්ල ඉන්දියානුවන් තුළ නිදහස පිළිබඳ හැඟීම් වර්ධනය වීමට හේතු වූ අතර එය ඉන්දියානු නිදහස් සටනේ වැදගත් සන්ධිස්ථානයක් වශයෙන් ද සලකණු ලැබේ. 1857 වර්ෂයේ සිපොයි කැරැල්ල ඇති වීමට බල පෑ හේතු රැසකි.

### කැරැල්ල ඇති වීමට බල පෑ හේතු

- ❖ ඉංග්‍රීසීන් ඉන්දියානු ප්‍රදේශ අත්පත් කර ගැනීමේ දී අනුගමනය කළ ප්‍රතිපත්තිය කෙරෙහි ඉන්දියානුවන් තුළ පැවති විරෝධය
- ❖ ඉංග්‍රීසි වෙළෙඳ සමාගමේ වාසි තකා, ගෙන ගිය පාලනය පිළිබඳ ඉන්දියානුවන් තුළ පැවති කලකිරීම
- ❖ වෙළෙඳ සමාගමේ ආර්ථික ප්‍රතිපත්ති නිසා දේශීය කර්මාන්ත අභාවයට යාම හා රැකියා හිඟවීම
- ❖ ස්වදේශිකයන්ගේ ඇදහිලි, විශ්වාස නොසලකා හැර ක්‍රිස්තියානි ආගම පැතිරවීමට ඉංග්‍රීසීන්ගේ සහාය ලැබීම
- ❖ සිපොයි භටයන් තුළ ඉංග්‍රීසීන් කෙරෙහි පැවති කලකිරීම

### කැරැල්ලේ ස්වරූපය



**4.3 රූපය - මංගල් පාණ්ඩේ**

සිපොයි කැරැල්ල ඇති වීමට බල පෑ ආසන්නතම හේතුව හමුදාව තුළින් ම නිර්මාණය වූවකි. අලුතෙන් නිපදවන ලද එන්ෆීල්ඩ් නම් රයිපල් වර්ගයක් සිපොයි හමුදාවේ භාවිතය සඳහා ඉංග්‍රීසීන් විසින් හඳුන්වා දෙන ලදි. එම රයිපල්වලට යොදන පතරොම් කවරයක බහා තිබූ අතර පතරොම පිටතට ගැනීම සඳහා එම කවරය කටින් කඩා විවෘත කළ යුතු විය. මේ අතර අදාළ පතරොම්වලට ග්‍රීස් තැවරීමේ දී ගව තෙල් හෝ ඌරු තෙල් මිශ්‍ර කර ඇතැයි සිපොයි භටයන් තුළ විශ්වාසයක් පැතිරිණ. හින්දුවරුන් ගවයා පූජනීය සත්වයෙකු ලෙස සැලකූ අතර මුස්ලිම් ජාතිකයෝ ඌරා අපිරිසිදු සතෙකු ලෙස සැලකූහ. එබඳු සතුන්ගේ තෙල් තැවරුණු කවර කටින් කැඩීමට සැලැස්වීම ඉංග්‍රීසීන් තමන් අවමානයට ලක් කිරීමකැයි එම සෙබළු විශ්වාස කළහ. මේ නිසා සිපොයි භටයෝ එම නව රයිපල් භාවිතය ප්‍රතික්ෂේප කළහ. ඉංග්‍රීසි හමුදා නිලධාරීන් එබඳු භටයන්ට දඬුවම් පැමිණවීම නිසා ගැටුම ක්‍රමයෙන් උත්සන්න විය. එය සිපොයි කැරැල්ලට බල පෑ ආසන්නතම හේතුව වේ. මේ අතර **මංගල් පාණ්ඩේ** නම් සිපොයි භටයෙක් ඉංග්‍රීසි හමුදා නිලධාරියෙකුට වෙඩි තැබී ය. ඉංග්‍රීසීන් මංගල් පාණ්ඩේට දඬුවම් පැමිණවීම නිසා සිපොයි හමුදාවේ කලකිරීම තවත් වැඩි වූ බව පෙනේ. එහි ප්‍රතිඵලයක් වශයෙන් 1857 වර්ෂයේ මැයි 10 දින මීරුට් හමුදා කඳවුරෙහි සිපොයි භටයෝ ඉංග්‍රීසි හමුදා නිලධාරීන්ට වෙඩි තබා සිර කොට සිටි සෙසු ඉන්දියානු භටයන් නිදහස් කරගෙන කැරැල්ල ආරම්භ කළහ.

ඉංග්‍රීසි හමුදාවට එරෙහිව නැගී සිටි සිපොයි භටයන් දිල්ලියට කඩා වැදී කෙටි කලකින් ම දිල්ලි නගරය අල්ලා ගැනීම නිසා හමුදාව තුළ ඇති වූ කැරැල්ල මහජනතාව අතරට ද ව්‍යාප්ත විය. දිල්ලියේ සිටි මූගල් පාලකයෙකු වූ **බහදූර් ෂා** ඉන්දියාවේ අධිරාජයා බව ප්‍රකාශයට පත් කළ කැරලිකරුවෝ ඉංග්‍රීසි පාලනයට එරෙහිව නැගී සිටියහ. දිල්ලියේ ඇති වූ මෙම දේශපාලන පෙරළිය ඉන්දියාව පුරා ප්‍රචාරය වූ හෙයින් උතුරු ඉන්දියාවේ ප්‍රදේශ රැසක ම කැරැල්ල ව්‍යාප්ත විය. එබඳු ප්‍රදේශවල සිටි ස්වදේශීය පාලකයන් කැරලිකරුවන් හා එක්ව ඉංග්‍රීසි පාලනයට එරෙහිව සටනට පිවිසීම නිසා ඉංග්‍රීසීහු බලවත් දුෂ්කරතාවලට මුහුණ දුන්හ. මෙසේ වසරකට ආසන්න කාලයක් උතුරු ඉන්දියාවේ ප්‍රදේශ රැසක් කැරලිකරුවන්ගේ පාලනය යටතේ පැවතුණි.

දිල්ලිය වැනි නගරයක් කැරලිකරුවන් යටතට පත් වීම ඉංග්‍රීසීන්ට අවමානයක් විය. මේ නිසා සියලු ශක්තිය යොදා සටන් කොට ඉංග්‍රීසි හමුදාව විසින් දිල්ලිය යළි

අත්පත් කරගන්නා ලදි. එහි දී කැරලිකරුවන්ට මහත් විනාශයක් සිදු විය. අනතුරුව ඉංග්‍රීසි පාලනයෙන් ගිලිහී තිබුණු එකිනෙක ප්‍රදේශවල කැරලි මැඩපවත්වා එම ප්‍රදේශ යළි තම පාලනයට නතු කර ගැනීමට ඉංග්‍රීසීහු සමත් වූහ. මෙසේ 1858 වර්ෂයේ ජූලි මාසය වන විට කැරැල්ල අසාර්ථක වී නැවත වරක් උතුරු ඉන්දියානු ප්‍රදේශවල ඉංග්‍රීසි බලය ස්ථාපිත විය.

## කැරැල්ල අසාර්ථක වීමට හේතු

ඉංග්‍රීසීන්ගේ පාලනයට එරෙහිව ඉන්දියානුවන් තුළ පැවති පොදු අප්‍රසාදය නිසා කැරැල්ල වේගයෙන් පැතිර ගියත් තමන් අල්ලා ගත් ප්‍රදේශ දිගට ම ආරක්ෂා කර ගැනීමට කැරලිකරුවෝ අසමත් වූහ. අල්ලා ගත් ප්‍රදේශවල ස්ථාවර පාලනයක් පිහිටුවීමට අවශ්‍ය දර්ශනයක් හෝ දිගු කාලීන වැඩ පිළිවෙළක් කැරලිකරුවන්ට නොතිබුණි. ඉංග්‍රීසීන්ගේ අවි ගබඩාවලින් පැහැරගත් ගිනි අවි හැරුණු විට අවශ්‍ය අවි ආයුධ සපයා ගැනීමේ ක්‍රමවේදයක් ද කැරලිකරුවන් සතු නොවී ය. මේ නිසා ඉංග්‍රීසි හමුදා පැමිණි විට බොහෝ අවාසිදායක තත්වයන් යටතේ සටන් කිරීමට කැරලිකරුවන්ට සිදු විය. ඉන්දියානු සෙබළුන්ගෙන් හරි අඩක් පමණ තවදුරටත් ඉංග්‍රීසීන්ට සහාය ලබාදීම ද ඉන්දියානු ජනතාවගෙන් කොටසක් කැරැල්ලට එකතු නොවීම ද එහි අසාර්ථකත්වයට තුඩු දුන් කරුණකි. කැරැල්ලට සම්බන්ධ වූ ඉන්දියානුවන් තුළ ඉංග්‍රීසි විරෝධය, කැපවීම හා සටන්කාමීත්වය නොඅඩුව පැවති නමුත් ඔවුන්ගේ වීරත්වයට පමණක් ඉංග්‍රීසීන්ගේ ප්‍රහාර වැළැක්වීමට හැකි නොවී ය. මේ තත්වය යටතේ කැරැල්ල අසාර්ථක වීමට බල පෑ හේතු කිහිපයක් පහත සඳහන් ලෙස කෙටියෙන් දැක්විය හැකි ය.

- ❖ පොදු සැලැස්මක් හෝ අනාගත වැඩපිළිවෙළක් කැරැලිකරුවන්ට නොතිබීම
- ❖ මධ්‍යගත නායකත්වයක් නොතිබීම
- ❖ ඉංග්‍රීසි හමුදාවට මුහුණදීමට අවශ්‍ය තරම් අවි ආයුධ නොමැතිවීම
- ❖ සටන්කාමීන් අතර පණිවිඩ හුවමාරුව හා සන්නිවේදනය දුර්වල වීම
- ❖ ඉන්දියානුවන් කොටසකගේ සහාය ඉංග්‍රීසීන්ට ලැබීම

## කැරැල්ලේ ප්‍රතිඵල

1857 වර්ෂයේ දී කැරැල්ල අසාර්ථක වුවත් ඉන්දියාවේ අනාගතය කෙරෙහි බලපාන ප්‍රතිඵල රැසක් එමගින් ඇති විය. එබඳු ප්‍රතිඵල කිහිපයක් පහත දැක්වේ.

- ❖ පෙරදිග ඉන්දියානු ඉංග්‍රීසි වෙළෙඳ සමාගමේ පාලනය අවසන් කර ඉන්දියාව පාලනය කිරීමේ වගකීම බ්‍රිතාන්‍ය රජය වෙතට පවරා ගැනීම
- ❖ තවදුරටත් ඉන්දියානු ප්‍රදේශ අත්පත් කර නොගැනීමට හා මහාරාජාවරුන්ගේ අයිතිවාසිකම් පිළිගැනීමට බ්‍රිතාන්‍ය එකඟ වීම
- ❖ ඉන්දියානුවන්ට ආගමික නිදහස ලබා දීම
- ❖ ඉන්දියානුවන් සංවිධානත්මකව ජාතික ව්‍යාපාරය මෙහෙයවීමට පෙළඹීම

## 4.3 ඉන්දියානු නිදහස් සටනේ කැපී පෙනෙන ලක්ෂණ

### ජාතික සංගමය පිහිටුවීමේ පසුබිම

සිපොයි කැරැල්ල අසාර්ථක වීමෙන් පසුව ගෙවුණු අඩ සියවසක පමණ කාලය ඒ ඒ ජනවර්ගවලට සුවිශේෂ වූ හැඟීම් අභිභවා ඉන්දියානු ජාතිකත්වය පිළිබඳ හැඟීම වර්ධනය වූ කාලයක් විය. ඉංග්‍රීසීන් යටතේ ඉන්දියාව තුළ බටහිර සංස්කෘතිය පැතිරයාම නිසා දේශීය සාම්ප්‍රදායික සංස්කෘතිය රැක ගැනීම පිළිබඳව මෙකල බලවත් උනන්දුවක් ඇති වූ බව පෙනේ. මේ නිසා ආගමික හා සමාජීය ප්‍රතිසංස්කරණ ඇති කර ගැනීමේ අරමුණෙන් සංවිධාන රාශියක් බිහි වන ආකාරය ද මෙකල දක්නට ලැබේ. එය ඉන්දියාව තුළ පැන නැගුණු ආගමික හා සංස්කෘතික පුනරුදයක් බවට පත් විය.

පෙරදිග මෙන් ම අපරදිග භාෂා ශාස්ත්‍රයෙහි නිපුණ පඬිවරයෙකු වූ රාම් මෝහන් රෝයි 19 වන සියවස මුල් භාගයේ දී ම ආගමික පුනරුදයකට අඩිතාලම දැමී ය. එතුමා විසින් පිහිටුවන ලද **බ්‍රහ්ම සමාජය** නැමැති සංවිධානය හින්දු ජනතාව තුළ ආගමික හා සංස්කෘතික පිබිදීමකට මග පෑදී ය. මේ නිසා රාම් මෝහන් රෝයි හින්දු පුනරුද ව්‍යාපාරයේ පුරෝගාමියා ලෙස සලකනු ලැබේ. එසේ ම **ප්‍රාර්ථනා සමාජය**, **ආර්ය සමාජය** ආදිය හින්දු ආගම හා සමාජ ප්‍රතිසංස්කරණ කෙරෙහි අවධානය යොමු කළ සංවිධාන අතර කැපී පෙනේ. මීට අමතරව **අහමඩියා** සහ **අලිගාර්** ව්‍යාපාර මුස්ලිම් ජනතාව අතර ද **සිං සභා** වැනි ව්‍යාපාර සීක් ජනතාව අතර ද සංස්කෘතික ප්‍රබෝධයක් ඇති කිරීමට දායක විය. ඉහත කී සංවිධාන මානව හිතවාදීව කටයුතු කරමින් 19 වන සියවස අගභාගයේ දී කාලයට ගැළපෙන ලෙස ඉන්දියානු චින්තනය සැකසීමට ක්‍රියාකාරී විය. බ්‍රිතාන්‍ය පාලන සමයේ දී ඉන්දියාවේ මහාමාර්ග හා පණිවිඩ හුවමාරුව දියුණු වී පරිපාලන වශයෙන් රට ඒකාබද්ධ වී තිබුණි. මේ තත්වය එතෙක් පැවති හින්දු, මුස්ලිම්, බෙංගල්, පංජාබි ආදි ජන අනන්‍යතා අභිභවා යන ඉන්දියානු ජාතිකත්වයක් ගොඩනැගීමට උපකාරී විය. ආගමික පුනරුද සමයේ දී විවිධ ජනතාව එක්රැස් කර දේශන පැවැත්වීම, පුවත්පත් ඇතුළු මුද්‍රිත මාධ්‍ය යොදාගෙන ජනතාව දැනුම්වත් කිරීම ආදියට කටයුතු කෙරිණි. මේ නිසා ආගමික පුනරුදය සමග අධ්‍යාපන ප්‍රබෝධයක් ඇති විය. ඉන්දියාව තුළ නව පාසල් පිහිටුවීම, කාන්තාවන්ට අධ්‍යාපනය ලබා දීම, ඉන්දියානු කාන්තාවගේ සමාජ තත්වය නගා සිටුවීම වැනි කටයුතුවලට මෙකල ප්‍රබල උනන්දුවක් තිබුණි.

බ්‍රිතාන්‍ය පාලන සමයේ දී ඉන්දියාවේ ඇති වූ අධ්‍යාපන අවස්ථා නිසා ඇතැම් ඉන්දියානුවෝ යුරෝපා රටවලට ගොස් අධ්‍යාපනය ලැබූහ. එමගින් නිදහස, ප්‍රජාතන්ත්‍රවාදය හා මිනිස් අයිතිවාසිකම් ආදිය පිළිබඳ යුරෝපයේ පැවති ආකල්ප ගැන ඉන්දියානු උගතුන්ට අවබෝධයක් ලැබුණි. එංගලන්තය ප්‍රංශය වැනි රටවල අධ්‍යාපනය ලැබූ ඉන්දියානු උගත්තු යුරෝපා රටවල ජනතාව භුක්තිවිඳින නිදහස අගය කළහ. එහෙත් ඉන්දියාවේ බ්‍රිතාන්‍ය පාලනය නිසා මව්බිමේ ජනතාවට සිය නිදහස අහිමි වී ඇති ආකාරය ගැන ඔවුහු කම්පා වූහ. ඉන්දියානුවන් කෙතරම් ඉහළ අධ්‍යාපනයක් ලැබූ නමුත්

මේ වන විට ඔවුන්ට ඉන්දියාවේ සිවිල් සේවාවට හෝ ඇතුළු වීමට ඉංග්‍රීසීන් ඉඩ ලබා දී නොතිබුණි. මේ නිසා එකී උගත්තු ස්වකීය අයිතිවාසිකම් ලබා ගැනීම සඳහා කටයුතු කිරීමට විවිධ සංවිධාන පිහිටුවීමටත් ජනතාව සංවිධානය කිරීමටත් ඉදිරිපත් වූහ. ඉහතින් සාකච්ඡා කළ කරුණු අනුව 20 වන සියවස ආරම්භ වන විට ඉන්දියාව තුළ දේශානුරාගී හැඟීම් වර්ධනය වීමට බල පෑ කරුණු රැසක් හඳුනාගත හැකි ය.



4.4 රූපය - ඇලන් ඔක්ටවියන් හියුම්

**ඉන්දියානුවන් තුළ දේශානුරාගය වර්ධනය වීමට බල පෑ හේතු,**

- ❖ බ්‍රිතාන්‍ය පාලනය යටතේ ඉන්දියාව දේශපාලන වශයෙන් එක්සත්වීම, මහාමාර්ග හා පණිවිඩ හුවමාරු පහසුකම් දියුණු වීම නිසා එකමුතුකම පිළිබඳ හැඟීම් වර්ධනය වීම
- ❖ ඉංග්‍රීසීන් ඉන්දියානුවන් පහත් කොට සැලකීම
- ❖ බටහිර අධ්‍යාපනය ලැබූ ඉන්දියානු උගතුන් මගින් නිදහස, සමානාත්මතාව, ප්‍රජාතන්ත්‍රවාදය ආදිය පිළිබඳ බටහිර දැනුම ඉන්දියාවට ලැබීම
- ❖ ඉන්දියානු උගත් මධ්‍යම පන්තිය විවිධ සංවිධාන පිහිටුවමින් හා ජනමාධ්‍ය යොදා ගනිමින් ජනතාව තුළ දේශානුරාගය ඇවිළවීමට ක්‍රියා කිරීම

**ඉන්දියානු ජාතික සංගමය පිහිටුවීම**

19 වන සියවසේ අගභාගය වන විට ඉන්දියානු උගතුන් හා ව්‍යාපාරික ප්‍රජාව තුළ පැවති දේශපාලන උනන්දුව නිසා විවිධ දේශපාලන සංවිධාන රැසක් බිහිව තිබුණි. එහෙත් මෙම සංවිධාන කිසිවකට විශාල රටක් වූ ඉන්දියාව පුරා දේශපාලන කටයුතු මෙහෙයවීමට ශක්තියක් නොතිබූ අතර ඉන්දියාව තුළ විසිරී සිටි උගතුන්ගේ දේශපාලන අදහස් එක් වේදිකාවකට ගෙන ඒමට හැකියාවක් ද නොතිබිණ. මේ නිසා කිසි දු භේදයකින් තොරව සියලු ඉන්දියානුවන්ට සාමාජිකත්වය ලබා ගත හැකි සමස්ත භාරතය පුරා ම දේශපාලන කටයුතු මෙහෙයවීම තරම් ශක්තිමත් එක් සංවිධානයක් පිහිටුවීමේ අවශ්‍යතාවක් මතුව තිබුණි.

1885 වර්ෂය වන විට ඉන්දියානු උගතුන් අතර ජාතික සංගමයක් පිහිටුවා ගැනීමට අවශ්‍ය අන්‍යෝන්‍ය අවබෝධය හා එකමුතුකම ගොඩනැඟීමට හැකි විය. මේ අනුව



**4.5 රූපය - ඉන්දියානු ජාතික සංගමයේ ප්‍රථම රැස්වීම**

සමස්ත ඉන්දියාව ම නියෝජනය වන එබඳු සංගමයක් පිහිටුවීමට අවශ්‍ය පියවර ගන්නා ලද්දේ සිවිල් සේවාවෙන් විශ්‍රාම ලබා සිටි ඇලන් ඔක්ටවියන් හියුම් නැමැත්තා විසිනි. ඉන්දියානු ජාතික සංගමයේ නිර්මාණ ශිල්පියා වූ හියුම්ට ඉංග්‍රීසි ආණ්ඩුවෙන් ද ඊට අවශ්‍ය සහාය ලැබුණි. ඉන්දියානු උගතුන් එක් සංවිධානයකට යොමු වුවහොත් ඔවුන්ගේ මතය පහසුවෙන් ආණ්ඩුවට දැනගත හැකි යැයි ඉංග්‍රීසීහු කල්පනා කළහ. මේ අනුව හියුම්ගේ මගපෙන්වීම මත 1885 වර්ෂයේ දෙසැම්බර් මස ඉන්දියාවේ විවිධ සංවිධාන නියෝජනය කළ නියෝජිතයන් රැසක් බොම්බායට එක්ව ඉන්දියානු ජාතික සංගමය පිහිටුවී ය. එය ඉන්දියානු නිදහස් සටනේ ඉතා වැදගත් අවස්ථාවකි. බෙංගලි ජාතික නීතිඥයෙකු වූ ඩබ්ලිව්. සී. බෙනර්ජි ඉන්දියානු ජාතික සංගමයේ ප්‍රථම සභාපති තනතුරට පත් කර ගන්නා ලදි. එතැන් සිට එම සංගමය ඉන්දියානු දේශපාලන උද්ඝෝෂණ මෙහෙයවන ප්‍රධානතම දේශපාලන සංගමය බවට පත් විය.

## ඉන්දියානු ජාතික සංගමයේ අරමුණු

ඉන්දියානු ජාතික සංගමය එවකට ඉන්දියාවේ පැවති ජාති, ආගම්, කුල, භේද ආදිය නොසලකා කටයුතු කළ සංවිධානයකි. මුල් කාලයේ දී උගතුන් හා ව්‍යාපාරිකයන් වැනි පිරිසකට සීමා වී තිබූ එම සංවිධානය පසුව සමස්ත භාරතය පුරා ව්‍යාප්ත වූ පුළුල් ජනතා සහභාගිත්වයක් ලැබුණු ඉතා ශක්තිමත් සංගමයක් බවට පත් විය. එසේ ම ඉන්දියානු ජාතික සංගමය යනු 1885 වර්ෂයේ සිට 1947 වර්ෂයේ ඉන්දියාවට නිදහස ලැබෙන තෙක් එරට නිදහස් ව්‍යාපාරයේ කටයුතුවලට නායකත්වය දුන් සංවිධානය වේ. මෙසේ දශක හයකටත් වැඩි කාලයක් දේශපාලන උද්ඝෝෂණ මෙහෙයවූ එම සංවිධානයේ අරමුණු කලින් කලට පුළුල් විය. අවසාන කාලයේ දී එම සංවිධානයේ ප්‍රධානතම අරමුණ වූයේ

ඉන්දියාවට සම්පූර්ණ නිදහස ලබා ගැනීමයි. ජාතික සංගමය පිහිටවූ මුල් කාලයේ දී එහි අරමුණු නිදහස දිනා ගැනීම තෙක් වර්ධනය වී නොතිබුණි.

එකී මුල් කාලය තුළ ඉන්දියානු ජාතික සංගමයේ ප්‍රධානතම අරමුණු කිහිපයක් පහතින් දැක්වේ.

- ❖ සියලු ඉන්දියානුවන් තුළ මිත්‍රත්වය හා සහයෝගිත්වය වර්ධනයට කටයුතු කිරීම
- ❖ කුලය, ආගම, වර්ගය හා ප්‍රදේශ ආදි භේද නොසලකා ඉන්දියානුවන් තුළ ජාතික හැඟීම දියුණු කිරීමට ක්‍රියාකාරී වීම.
- ❖ ඉන්දියානු උගතුන් තුළ පවතින අදහස් හා යෝජනා එක් රැස් කොට සමාජ ගැටලු අධ්‍යයනයට කටයුතු කිරීම.
- ❖ ඉන්දියානු ජනතාවගේ සුබසෙත සඳහා ක්‍රියා කිරීමට අවශ්‍ය අනාගත සැලසුම් හා යෝජනා ඉදිරිපත් කිරීම.

**ඉන්දියානු ජාතික සංගමයේ ක්‍රියාකාරිත්වය**

ඉන්දියානු ජාතික සංගමය ආරම්භ කළ මුල් අවධියේ එය නීතිඥයන්, ඉංජිනේරුවන්, වෛද්‍යවරුන් වැනි උගත් බුද්ධිමත් පිරිසකට සීමා වී තිබුණි. එකල සංගමයේ නියෝජිතයන් ගම්වලින් නොව නගරවලින් පැමිණි පිරිසකි. ඉංග්‍රීසීන් ඉන්දියාවට යුක්තිය හා සාධාරණය ඉටු කරනු ඇතැයි කල්පනා කළ ඔවුහු හැකි තරම් ආණ්ඩුව සමග සහයෝගයෙන් කටයුතු කිරීමට උත්සාහ කළහ. මේ පිරිස ජාතික සංගමය තුළ සිටි මධ්‍යස්ථවාදීන් ලෙස හැඳින්වේ. ජාතික සංගමයේ ප්‍රථම සභාපති වූ ඩබ්ලිව්. සී. බෙනර්ජි, එහි දෙවන සභාපති වූ දඩාබායි නඖරෝජි හා සුරේන්ද්‍රනාත් බැනර්ජි වැනි අය එම පිරිසට උදාහරණ වෙති. 1885 -1905 අතර කාලයේ දී ජාතික සංගමය ඉහත කී මධ්‍යස්ථවාදීන්ගේ බලපෑමට ලක්ව තිබුණි. සංගමය පිහිටවූ මුල් කාලයේ දී ආණ්ඩුව වෙත ඉදිරිපත් කළ ඉල්ලීම් පහත සඳහන් පරිදි වේ.

- ❖ ව්‍යවස්ථාදායක සභාව පුළුල් කොට එහි බලතල වැඩි කිරීම
- ❖ විධායක සභා නියෝජනයට ඉන්දියානුවන්ට අවස්ථාව ලබා දීම
- ❖ සිවිල් සේවයට ඇතුළු කර ගන්නා ඉන්දියානුවන් පිරිස වැඩි කිරීම
- ❖ සිවිල් සේවයට බඳවා ගැනීමේ විභාග බ්‍රිතාන්‍ය තුළ පමණක් නොව ඉන්දියාව තුළත් පැවැත්වීම
- ❖ යුද්ධ හමුදා කටයුතු සඳහා රජය දරන වියදම අඩු කිරීම

ජාතික සංගමයේ මෙම ඉල්ලීම් දෙස බලන විට පාලන කටයුතුවලට සහභාගි වීමට ඉන්දියානුවන්ට ලැබෙන ඉඩකඩ පුළුල් කර ගැනීම වටා ඒවා ඉලක්කගතව තිබූ බව පෙනේ. ඉල්ලීම් දිනා ගැනීමට ක්‍රියා කිරීමේ දී ද සංගමය එකල අනුගමනය කළේ

බලධාරින්ට පෙත්සම් ඉදිරිපත් කිරීම, ඔවුන් සමග සාකච්ඡා කිරීම, රැස්වීම් පැවැත්වීම, ලේඛන මාධ්‍ය යොදා ගනිමින් තම කටයුතුවලට ප්‍රචාරයක් ලබා දීම වැනි රජය අපහසුතාවට පත් නොවන ආකාරයේ ප්‍රතිපත්තියකි. එහෙත් සංගමයේ ඉල්ලීම් ඉටු කිරීමට ආණ්ඩුව කටයුතු නොකිරීම නිසා ඉල්ලීම් දිනා ගැනීමට එබඳු සීමිත ක්‍රියාමාර්ග ප්‍රමාණවත් නොවන බව පැහැදිලි වෙමින් තිබුණි.

1905-1919 කාලයේ දී ජාතික සංගමයේ ප්‍රතිපත්තිවල මෙන් ම ක්‍රියාකාරිත්වයේ ද වෙනසක් ඇති විය. මේ කාලයේ දී සංගමයේ මධ්‍යස්ථවාදීන්ගේ බලය දුර්වල වී රැඩිකල් මත දරන තරුණ පිරිසක් එහි බලවත් වීම එබඳු වෙනසකට බල පෑ හේතුව බව පෙනේ. මධ්‍යස්ථවාදීන්ගේ ප්‍රතිපත්ති ප්‍රතික්ෂේප කළ එම පිරිස අන්තවාදීන් වශයෙන් හඳුන්වනු ලැබේ. ආණ්ඩුව සමග සහයෝගයෙන් කටයුතු කිරීමට වඩා ස්වකීය ඉල්ලීම් දිනා ගැනීමට නම් සටන්කාමී මාවතක් අනුගමනය කළ යුතු යැයි එකී අන්තවාදීහු කල්පනා කළහ.

ආණ්ඩුව වෙත පෙත්සම් ඉදිරිපත් කිරීම, සාකච්ඡා සඳහා නියෝජිතයන් යැවීම ආදියෙන් බලධාරීන් ඉදිරියේ බැගෑපත් වීම දේශපාලන හිඟාකෑමක් ලෙස විවේචනය කළ මෙම අන්තවාදීහු ජාතික සංගමය සටන්කාමී මාවතකට යොමු කිරීමට ක්‍රියා කළහ. ඉන්දියානු නිදහස් සටන ගැන පොත් පත් ලියූ ඇතැම් ග්‍රන්ථ කතුවරයෝ අන්තවාදී චින්තනය පෝෂණය කළේ ලාල්, බාල් හා පාල් යැයි සඳහන් කරති. එයින් අදහස් කළේ ලාල් ලජ්පත්රායි, බාල් ගංගාධාර් තිලක් හා බිපන් චන්ද්‍රපාල් යන අය අන්තවාදී පිරිසට නායකත්වය දුන් බවකි.

ජාතික සංගමය අන්තවාදීන්ගෙන් බලපෑමට ලක්ව තිබූ කාලයේ දී බ්‍රිතාන්‍ය භාණ්ඩ වර්ජනය කිරීමේ ව්‍යාපාරයක් ආරම්භ විය. බ්‍රිතාන්‍ය නිෂ්පාදන භාණ්ඩ වර්ජනය කොට ඉන්දියානු (ස්වදේශීය) නිෂ්පාදන භාවිතය ප්‍රචලිත කෙරුණු එය ස්වදේශීය ව්‍යාපාරය වශයෙන් හැඳින්වේ. බෙංගාලයෙන් ආරම්භ වූ ස්වදේශීය ව්‍යාපාරය රට පුරා ව්‍යාප්ත කිරීමට ජාතික සංගම් නායකයෝ ක්‍රියා කළහ.

ඉන්දියානු නිෂ්පාදන භාවිතයට ජනතාව හුරු කිරීමේ දී දේශීය කර්මාන්ත දියුණු කිරීම පිළිබඳව ද උනන්දුවක් ඇති විය. මේ නිසා ස්වදේශීය ව්‍යාපාරය තුළින් ආර්ථික නිදහස පිළිබඳ චින්තනය දියුණු විය. ඉන්දියානුවන් ඉන්දියානු භාණ්ඩ භාවිතයට හුරුවීම, නිදහස දිනාගැනීමෙන් පසුව ද ඉන්දියානු කර්මාන්ත හා වෙළෙඳ ව්‍යාපාරවල ප්‍රගතියට ඉවහල් විය.

ඉන්දියාවේ නිදහස් ව්‍යාපාරය ක්‍රියාත්මක වන විට ඉංග්‍රීසීන් විසින් යම් යම් ප්‍රතිසංස්කරණ ලබා දෙන ලදි. 1909 මෝර්ලි - මින්ටෝ ප්‍රතිසංස්කරණ හා 1919 මොන්ටේගු -චෙම්ස්ෆර්ඩ් ප්‍රතිසංස්කරණ ඊට උදාහරණ වේ. මෙම ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණ මගින් පාලන කටයුතුවලට ස්වදේශිකයන් සහභාගි කර ගැනීම ක්‍රමයෙන් වැඩි කෙරිණි. එහෙත් එම ප්‍රතිසංස්කරණවලින් ජාතික සංගමය සෑහීමට පත් නොවී ය. 1920 වර්ෂය වන විට සුළු ප්‍රතිසංස්කරණවලට වඩා ස්වරාජ්‍ය ලබා ගැනීම සංගමයේ අරමුණ විය. ස්වරාජ්‍ය යනු ඉන්දියාව බ්‍රිතාන්‍ය අධිරාජ්‍ය යටතේ පවතින අතර ම රටේ පාලන බලතල

ඉන්දියානුවන්ට පැවරූ පාලන ක්‍රමයකි. එය එක් අතකින් ඩොමීනියන් තත්වයට සමාන වේ. බාල් ගංගාධාර් තිලක් හා ඇනී බෙසන්ට් යන නායක නායිකාවෝ ස්වරාජ්‍ය සංකල්පය ප්‍රචලිත කළ අයට උදාහරණ වේ.

1919 වර්ෂයේ දී රෝලට් පනත යනුවෙන් විශේෂ පනතක් පනවමින් ඉංග්‍රීසි ආණ්ඩුව ඉන්දියානුවන්ගේ නිදහස සීමා කිරීමට උත්සාහ දැරී ය. රෝලට් පනත මගින් ඕනෑ ම පුද්ගලයෙකු නඩු විභාගයකින් තොරව වසර දෙකක් බන්ධනාගාර ගත කිරීමට රජයට බලය ලැබුණි. ජාතික සංගමය විසින් ඊට එරෙහිව මහත්මා ගාන්ධි තුමාගේ ද සහායෙන් සත්‍යග්‍රහ ව්‍යාපාරයක් ක්‍රියාත්මක කරන ලදි. **සත්‍ය හා සත්‍යයේ බලය පෙන්වීම මගින් විරුද්ධවාදියා සත්‍ය තේරුම් ගැනීමට පෙළඹවීම** සත්‍යග්‍රහ යනුවෙන් මෙහි දී විස්තර කෙරේ. එය මහත්මා ගාන්ධිතුමා හඳුන්වා දුන් අවිහිංසාවාදී සටන් ක්‍රමයකි. රෝලට් පනතට එරෙහි සත්‍යග්‍රහය රට පුරා පැතුරුණ අතර ප්‍රබල ජනතා විරෝධයක් එමගින් ගොඩනැගිණ. මේ අතර 1919 වර්ෂයේ අප්‍රේල් මස අම්රිත්සාර්හි ජලියන්වලා බාග් නගරයේ රැස්වීමකට පැමිණි දහස් සංඛ්‍යාත නිරායුධ ඉන්දියානු පිරිසකට හමුදාව විසින් වෙඩි තබන ලදි. මෙම වෙඩි තැබීම් හේතුවෙන් 400ක පමණ ඉන්දියානුවන් පිරිසක් මිය ගිය අතර තවත් විශාල පිරිසක් තුවාළ ලැබූහ. මෙය **ජලියන්වලා බාග් ඛේදවාචකය** වශයෙන් හැඳින්වේ.



**4.6 රූපය - ජලියන්වලා බාග් ඛේදවාචකය**

1920 වර්ෂය පමණ වන විට රෝලට් පනත, ජලියන්වලා බාග් ඛේදවාචකය සහ ආණ්ඩුව බෙංගාලයේ යුද්ධ නීතිය පැනවීම ආදිය නිසා ඉන්දියානු ජනතාව තුළ ආණ්ඩු විරෝධී හැඟීම් උත්සන්න වී තිබුණි. නිදහස් සටනේ නිරත වන ජනතාව මර්දනය කිරීමට හා අවමානයට පාත්‍ර කිරීමට රජය ගන්නා පියවරවලට එරෙහි නොවී තවදුරටත් අවමානය විඳ දරා ගැනීම බියසුලුකමක් ලෙස ඇතැම් ඉන්දියානුවෝ සැලකූහ. එවකට පැවති

දේශපාලන තත්වය තේරුම් ගත් ජාතික සංගමය 1920 වර්ෂයේ දෙසැම්බර් මාසයේ දී රජයට සහාය නොදැක්වීමේ වැඩපිළිවෙළක් හෙවත් සහයෝගිතා වර්ජනයක් ක්‍රියාත්මක කිරීමට සැලසුම් කළේ ය. 1921 වර්ෂයේ ජනවාරි මාසය වන විට එකී සහයෝගිතා වර්ජනය රට පුරා පැතුරුණි. ඉංග්‍රීසීන් ප්‍රදානය කර තිබූ පදවිනාම හා නම්බුනාම ආපසු දීම, විදේශීය භාණ්ඩ වර්ජනය, උසාවි ඇතුළු රජයේ කාර්යාල වර්ජනය, ව්‍යවස්ථාදායක සභාව වර්ජනය ඇතුළු ක්‍රියාමාර්ග රැසක් මෙහි දී ක්‍රියාත්මක කෙරිණි. මහත්මා ගාන්ධි තුමා සහ සී. ආර්. දාස් ඇතුළු නායකයෝ රට පුරා සංචාරය කරමින් මේ සඳහා ක්‍රියාකාරී වූහ. ජාතික සංගමය අනුගමනය කළ මෙබඳු අවිහිංසාවාදී සටන් උපක්‍රම නිසා රජය මහත් අපහසුතාවකට පත් විය. එම සටන් නිසා ජාතික සංගමයට වඩ වඩාත් ජනතාවට සමීප වීමට ඉඩ ලැබුණි. මෙසේ 1920 වර්ෂයේ සිට ඉන්දියාවට නිදහස දිනා ගැනීමේ සටනේ දී සමස්ත භාරත ජනතාව ම ජාතික සංගමය වටා ගොනු වී සිටියහ. 1920 වර්ෂයෙන් පසු ජාතික සංගමය අනුගමනය කළ ක්‍රියාමාර්ග කිහිපයක් පහත සඳහන් වේ.

- ❖ 1921 වර්ෂයේ සහයෝගිතා වර්ජන ව්‍යාපාරයක් ක්‍රියාත්මක කිරීම
- ❖ 1928 වර්ෂයේ ඉන්දියාවේ ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණ පිළිබඳව සොයාබලා නිර්දේශ ලබා දීමට බලධාරීන් පත් කළ සීමන් කොමිසමට එරෙහිව හර්තාල් ව්‍යාපාරයක් ක්‍රියාත්මක කිරීම
- ❖ 1928 වර්ෂයේ ඉන්දියාවේ සියලු පක්ෂ සහභාගි කර ගත් සර්වපාක්ෂික සමුළුවක් කැඳවා ඉන්දියාවට ගැළපෙන ව්‍යවස්ථාවක් සම්පාදනය කිරීමට කටයුතු කිරීම
- ❖ 1929 වර්ෂයේ පූර්ණ ස්වරාජ්‍ය සංකල්පය හෙවත් ඉන්දියාවට නිදහස ලබා ගැනීම ජාතික සංගමයේ අරමුණ බවට පත් කොට ඒ සඳහා ක්‍රියාත්මක වීම
- ❖ 1930 වර්ෂයේ රජයට එරෙහිව සිවිල් නීති කඩකිරීමේ ව්‍යාපාරයක් සංවිධානය කිරීම
- ❖ 1942 වර්ෂය වන විට 'ඉංග්‍රීසීන් ඉන්දියාවෙන් පිට වෙනු' යන සටන් පාඨය මුල් කර ගෙන සත්‍යග්‍රහයක් ක්‍රියාත්මක කිරීම

1920 - 1947 අතර කාලය ඉන්දියානු ජාතික සංගමයේ වඩාත් ක්‍රියාශීලී අවධිය වේ. මේ කාලයේ ජාතික සංගමය පමණක් නොව මුළු මහත් ඉන්දියානු නිදහස් සටනම මහත්මා ගාන්ධිතුමාගේ නායකත්වය යටතට පත්ව තිබුණි. ගාන්ධිතුමාගේ මග පෙන්වීම මත මෙම කාල පරිච්ඡේදයේ දී සත්‍යග්‍රහ පැවැත්වීම, රජයට සහාය නොදැක්වීම, විරෝධතා පාගමන් සංවිධානය හා සිවිල් නීති කඩකිරීම වැනි අවිහිංසාවාදී සටන් උපක්‍රම කෙරෙහි ජාතික සංගමය යොමු වූ බව දැකිය හැකි ය. මේ නිසා එම සංගමය වඩ වඩාත් ඉන්දියානු පොදු ජනතාවට සමීප වෙමින් මෙකල ඉන්දියාවට නිදහස දිනා ගැනීමේ ඉලක්කය වෙත ළඟා වූ බව ද දක්නට ලැබේ.

### මුස්ලිම් ලීගය පිහිටුවීම

ඉංග්‍රීසීන් විසින් යටත් විජිත පාලනය කිරීමේ දී රටවැසියන් තම පාලනයට එරෙහිව එක්සත් වීම වැළැක්වීම සඳහා ජනතාව අතර භේද ඇති කර පාලනය කිරීමේ

ප්‍රතිපත්තියක් අනුගමනය කරන ලදි. ඒ ඒ රටවල පවතින ප්‍රදේශීය හා වාර්ගික භේද අනුව ජනතාව අතර බෙදීම් ඇති කළ විට බහුතරය රජයට එරෙහි වන විට සුළුතරයේ සහාය තමන්ට ලබා ගත හැකි බව ඉංග්‍රීසීහු දැන සිටියහ.

ඉන්දියාවේ බහුතර ජන කොටස හින්දු භක්තිකයන් වන අතර සැලකිය යුතු ඉස්ලාම් භක්තික මුස්ලිම් ජාතිකයන් පිරිසක් ද එරට වාසය කරති. ඉන්දියානු ජාතික සංගමය ආරම්භ කළ අවධියේ දී එරට සිටි හින්දු, මුස්ලිම්, උගතුන් පොදු ගැටලු කිහිපයකට මුහුණ දී සිටි හෙයින් ජාතික ව්‍යාපාරය තුළ එක්සත්ව කටයුතු කළ බවක් දක්නට ලැබේ. එහෙත් ජාතික සංගමය ක්‍රියාත්මක වීමේ දී හින්දු ජනතාවට තරම් මුස්ලිම් ජනතාවගේ අයිතිවාසිකම් කෙරෙහි සැලකිල්ලක් නොදක්වන්නේ යැයි ඇතැම් මුස්ලිම් නායකයෝ කල්පනා කළහ. ජාතික සංගමයට පසුව එකතු වූ තරුණ පිරිස් තුළ නූතන බටහිර සංස්කෘතියට වඩා පැරණි හින්දු සභ්‍යත්වය ආධ්‍යාත්මික වශයෙන් උසස් යැයි පිළිගත් කණ්ඩායමක් ද සිටියහ. මෙබඳු කරුණු නිසා මුස්ලිම් ජනතාවගේ අයිතිවාසිකම් දිනාගැනීමට වෙන ම සංවිධානය විය යුතු යැයි ඇතැම් මුස්ලිම් නායකයන් කල්පනා කළ බව පෙනේ. එහි ප්‍රතිඵලයක් වශයෙන් අගාඛාන්ගේ මූලිකත්වයෙන් 1906 වර්ෂයේ දෙසැම්බර් මස සමස්ත ඉන්දියානු මුස්ලිම් සංගමය හෙවත් මුස්ලිම් ලීගය පිහිටුවන ලදි.

ආරම්භයේ දී මුස්ලිම් ලීගයට ඉන්දියාවේ මධ්‍යම පාන්තික මුස්ලිම් උගතුන්ගේ සහාය ලැබුණි. ඉන්දියානු මුස්ලිම් ජනතාවගේ හඬ ඒකරාශී කොට ඔවුන් සංවිධානය කිරීම, සිවිල් සේවයට ඇතුළු වීමට මුස්ලිම් ජාතිකයන්ට ඇති ඉඩකඩ පුළුල් කර ගැනීම, ව්‍යවස්ථාදායක නියෝජනයේ දී ඔවුන්ට ප්‍රමාණවත් නියෝජනයක් ලබා ගැනීම ආදිය මුල් කාලයේ එම සංගමයේ අරමුණ වී තිබුණි.

### ඉංග්‍රීසීන් අනුගමනය කළ උපාය මාර්ග

ඉන්දියාව බ්‍රිතාන්‍ය බලයට යටත් කර ගැනීමේ දී උපායශීලිව කටයුතු කළ අයුරින් ම නිදහස් සටන අඩපණ කිරීම පිණිස ද යොදා ගත හැකි සෑම උපායක් ම ඉංග්‍රීසීහු යොදා ගත්හ. ජනතාව බිය වැද්දීමට මෙන් ම නිදහස් සටන අඩපණ කිරීමට ද ඉංග්‍රීසීන් බහුලව යොදාගත් උපාය වූයේ අත්අඩංගුවට ගෙන බන්ධනාගාර ගත කිරීමයි. මේ නිසා ඉන්දියානුවන් දහස් ගණනින් අත්අඩංගුවට පත් වූ අතර ජාතික සංගම් නායකයන්ට ද එම ඉරණමට මුහුණදීමට සිදු විය. බාල් ගංගාධාර් තිලක්, මහත්මා ගාන්ධි, ජවහර් ලාල් නේරු වැනි කැපී පෙනෙන නායකයන් හැම දෙනෙකු ම විටින් විට ඉංග්‍රීසීන් විසින් අත්අඩංගුවට ගෙන බන්ධනාගාර ගත කරන ලදි. එබඳු ක්‍රියා සටන අඩපණ වීමට වඩා විරෝධතා උග්‍ර වීමට ද හේතු විය. 1921 වර්ෂයේ සහයෝගිතා වර්ජනය පැවති සමයේ දී එයට නායකත්වය දුන් එක් නායකයෙකු වූ සී. ආර්. දාස් අත්අඩංගුවට ගත් විට බෙංගාල තරුණයන් කෙතෙක් කුපිත වී ද යත් තමන් අත් අඩංගුවට ගන්නා ලෙස ඉල්ලමින් දහස් ගණනින් ඉදිරියට පැමිණි බව වාර්තා වේ. මේ නිසා අත්අඩංගුවට ගැනීම නිදහස් සටන අඩපණ කිරීමේ උපායක් වශයෙන් සාර්ථක නොවී ය.

## බෙංගාලය බෙදීම



ඊසාන දිග ඉන්දියාවේ පිහිටි බෙංගාලය 20 වන සියවස ආරම්භ වන විට ඉන්දියාවේ පැවති විශාලතම පළාත විය. බෙංගාලය තුළ හින්දු ජනතාව මෙන් ම මුස්ලිම් හා තවත් සුළු ජන කොටස් කිහිපයක් ද ජීවත් විය. භූමි ප්‍රමාණය අතින් විශාල ප්‍රදේශයක් වූ බෙංගාලය තුළ මිලියන ගණනක් ජනතාව ජීවත් වූ හෙයින් පාලන පහසුව තකා එය ප්‍රදේශ දෙකකට බෙදිය යුතු යැයි ඉංග්‍රීසි ආණ්ඩුව තීරණය කළේ ය. මේ කාලය වන විට ඉන්දියානු නිදහස් සටනේ කටයුතු බෙංගාලය තුළ සරුවට ව්‍යාප්ත වී තිබිණි. එබැවින් ජන වර්ග අතර භේද අවුළුවා නිදහස් සටන දුර්වල කිරීම පිණිස ඉංග්‍රීසීන් බෙංගාලය බෙදීමට සැරසෙතැයි මතයක් ඉන්දියානුවන් තුළ ඇති විය. එහි ප්‍රතිඵල වශයෙන් බෙංගාලය බෙදීමට එරෙහිව ප්‍රබල උද්ඝෝෂණයක් ක්‍රියාත්මක කෙරිණ. එහෙත් ඉන්දියානුවන්ගේ අදහස් ගැන සැලකිල්ලක් නොදැක්වූ ආණ්ඩුව 1905 වර්ෂයේ දී බෙංගාලය බෙදා වෙන් කළේ ය.

අත්අඩංගුවට ගැනීම හැරුණුවිට පොලීසිය හා හමුදාව යොදවා උද්ඝෝෂණ හා රැස්වීම් කඩාකප්පල් කිරීම, වෙඩි තැබීම, පුවත්පත් තහනම, මුද්‍රණාල සීල් තැබීම, යුද්ධ නීතිය ප්‍රකාශ කිරීම වැනි උපක්‍රම ද විවිධ අවස්ථාවල ඉංග්‍රීසීන් විසින් යොදා ගන්නා ලදි. ඉංග්‍රීසීන්ට එරෙහිව ස්වදේශිකයන් එකමුතුව නැගී සිටීම වැළැක්වීම සඳහා ජාති භේද ඇවිළවීමට ද පාලකයෝ කටයුතු කළහ.

1905 වර්ෂයේ දී බෙංගාලය බෙදීම ඊට එක් උදාහරණයකි. හින්දු ජනතාව හා මුස්ලිම් ජනතාව එකමුතුව නැගී සිටිය හොත් එය තමන්ට ඉතා ම අවාසිදායක යැයි කල්පනා කළ ඉංග්‍රීසීහු මුස්ලිම් ජාතිකයන්ට අයිතිවාසිකම් දිනාගැනීම සඳහා ඔවුන්ට වෙන ම සංවිධානය වීමට දිරි දුන්හ. එහි ප්‍රතිඵලයක් වශයෙන් 1906 වර්ෂයේ දී මුස්ලිම් ලීගය බිහි විය.

ජාතික සටන අඩපණ කිරීමේ තවත් උපායක් වූයේ ව්‍යවස්ථා ප්‍රතිසංස්කරණ ලබාදීමයි. බලධාරීන් විසින් විවිධ කොමිසම් පත් කිරීම, ප්‍රතිසංස්කරණ පිළිබඳව අදහස් විමසීම, සාකච්ඡා පැවැත්වීම ආදිය කොතෙකුත් සිදු කරන ලදි. එහෙත් නිදහස් සටනේ

නායකයෝ එබඳු ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණවලින් සෑහීමකට පත් නොවූහ. ජාතික සංගමය හැමවිට ම තම ඉලක්කය වූ ස්වරාජ්‍ය නැතහොත් පූර්ණ ස්වරාජ්‍ය යන අරමුණ තුළ රැඳී සිටිමින් ඒ සඳහා ජනතාව සංවිධානය කිරීමට ඉදිරිපත් විය. බාල් ගංගාධාර් තිලක් වරක් ''ස්වරාජ්‍යය යනු මගේ ජන්ම උරුමයකි. එය මම ලබා ගනිමි'' යැයි ප්‍රකාශ කළේ ය. නිදහස පිළිබඳව ඉන්දියානුවන් තුළ පැවති ආකල්පය මෙබඳු ප්‍රකාශවලින් පැහැදිලි වේ.

### මහත්මා ගාන්ධිතුමාගේ කටයුතු



**4.7 රූපය - මහත්මා ගාන්ධිතුමා රැස්වීමක් අමතන අවස්ථාවක්**

මහත්මා ගාන්ධිතුමා යනු ඉන්දියානු නිදහස් සටනේ සිටි ශ්‍රේෂ්ඨතම නායකයා වේ. ජාති, ආගම්, කුල, භේද නොසලකා කටයුතු කළ එතුමා අවිහිංසාවාදය අගය කළ තැනැත්තෙකි. එසේ ම ඉන්දියානු නිදහස් ව්‍යාපාරය අවිහිංසාවාදී සටනක් බවට පත් කරන ලද්දේ ද ගාන්ධිතුමා විසිනි. එතුමා අධ්‍යාපන කටයුතුවලින් පසු නීතිඥයෙකු බවට පත් වී දකුණු අප්‍රිකාවේ සේවය කොට 1915 වර්ෂයේ දී නැවත මවුබිමට පැමිණියේ ය. ඉන්දියාවට පැමිණ ගත වූ මුල් වසර කිහිපයේ දී ගාන්ධිතුමා එරට ගොවි කම්කරු ජනතාව මුහුණ දුන් ගැටලු විසඳීමට මැදිහත් විය.

බිහාර් ප්‍රාන්තයේ චම්පරන් දිස්ත්‍රික්කයේ ඉන්ඩිගෝ වගා කළ ගොවි ජනතාවගේ දුක් ගැනවිලිවලට මැදිහත් වී ඒවා විසඳීමට ගාන්ධිතුමා ගෙන ගිය සටන **චම්පරන් ව්‍යාපාරය**



**4.8 රූපය - දණ්ඩි පාගමන**

වශයෙන් හැඳින්වේ. එසේ ම ගුජරාටයේ ඛේඩා ප්‍රදේශයේ වසංගත රෝග හා නියඟය නිසා බදු ගෙවීමට නොහැකිව සිටි ජනතාවට සහන අත්කර දීමට එතුමා ගෙන ගිය සටන **ඛේඩා ව්‍යාපාරය** ලෙස හැඳින්වේ. මහත්මා ගාන්ධිතුමාගේ ජීවිතය මෙබඳු අවිහිංසාවාදී සටන් රැසකින් යුක්ත ය.



**4.9 රූපය - මහත්මා ගාන්ධිතුමා ලුණු එකතු කිරීම**

1920 - 1947 කාලය තුළ මහත්මා ගාන්ධිතුමා ඉන්දියානු නිදහස් සටනේ නායකයා වශයෙන් ක්‍රියා කළේ ය. එම කාලයේ දී සත්‍යග්‍රහය, රජයට සහාය නොදැක්වීම සිවිල් නීති කඩකිරීම, පා ගමන්වල යෙදීම, උපවාස කිරීම වැනි අවිහිංසාවාදී සටන් උපක්‍රම රැසක් ගාන්ධිතුමා විසින් ඉන්දියාවට නිදහස ලබා ගැනීම වෙනුවෙන් ක්‍රියාත්මක කරන ලදි. මෙම සටන් උපක්‍රම ලේ වැගිරීම් හෝ ප්‍රචණ්ඩ ක්‍රියාවලින් තොර ඒවා විය. ඉන්දියාවේ සිටි ධනවත් පිරිසට මෙන් ම දුප්පත් ගොවි කම්කරු ජනතාවට ද ඉතා පහසුවෙන් මෙම සටන්වලට සම්බන්ධ වීමට හැකියාව ලැබිණි.

මේ නිසා ගාන්ධිතුමාගේ සටන්වලට කිසි දු භේදයකින් තොරව ලක්ෂ සංඛ්‍යාත ඉන්දියානු ජනතාව සහභාගි වූහ. මේ අනුව ඉන්දියානු ජාතික සංගමය හා සාමාන්‍ය ජනතාව අතර සබඳතාව ගොඩනගන ලද්දේ ද ගාන්ධිතුමා විසිනි.

මහත්මා ගාන්ධි තුමාගේ මූලිකත්වයෙන් 1921 වර්ෂයේ දී රජයට විරෝධය දැක්වීම සඳහා සහයෝගිතා වර්ජනයක් ක්‍රියාත්මක කළ ආකාරය මීට ඉහත දී පැහැදිලි කෙරිණ. එහි තවත් ඉදිරි පියවරක් වශයෙන් 1930 වර්ෂයේ දී ගාන්ධිතුමාගේ මූලිකත්වයෙන් සිවිල් නීති කඩකිරීමේ ව්‍යාපාරයක් ආරම්භ විය. ඉන්දියාවේ ලුණු නිෂ්පාදනයට ඉතා අඩු මුදලක් වැය වුවත් රජය අධික බදු පනවා ලුණු වෙළෙඳාමෙන් විශාල ලාභයක් ලැබී ය. සිවිල් නීති කැඩීමේ ව්‍යාපාරයේ දී රජයේ ලුණු සම්බන්ධ නීති කඩා, විරෝධය පෑමට ගාන්ධිතුමා කටයුතු කළේ ය. එය දණ්ඩි පා ගමන වශයෙන් හැඳින්වේ.

1930 වර්ෂයේ මාර්තු මාසයේ දී සබරමතී ආශ්‍රමයේ සිට දණ්ඩි වෙරළ දක්වා සැතපුම් 400කින් පමණ යුතු පාගමන ආරම්භ විය. ඉංග්‍රීසීන්ට බදු නොගෙවා ඉන්දියානුවන්ට ලුණු ලබා ගත හැකි බව පෙන්වූ මේ පා ගමන අතිශයින් ම සාර්ථක වූ අතර එබඳු පා ගමන් ඉන්දියාව පුරා ම පැවතුණි. සිවිල් නීති කඩ කරන අතරතුර ම බ්‍රිතාන්‍ය රෙදිපිළි හා මද්‍යසාර වර්ජනයක් ද ක්‍රියාත්මක කෙරිණ. විරෝධතා ව්‍යාපාර හේතුවෙන් ඉංග්‍රීසීහු බලවත් දුෂ්කරතාවලට මුහුණ දුන්හ. මේ නිසා ගාන්ධිතුමා ඇතුළු දහස් ගණනක් අත්අඩංගුවට ගැනීමට ඉංග්‍රීසීහු ක්‍රියා කළහ. රට පුරා ව්‍යාප්ත වූ විරෝධතා අවසන් වූයේ ගාන්ධිතුමා හා ඉන්දියානු ප්‍රතිරාජයා අතර ඇති වූ ගිවිසුමකිනි. එය 1931 වර්ෂයේ ගාන්ධි - අර්වින් ගිවිසුම වශයෙන් හැඳින්වේ.

ගාන්ධිතුමාගේ නායකත්වයෙන් ජාතික සංගමයේ සහාය ඇතිව ක්‍රියාත්මක වූ මෙබඳු අවිහිංසාවාදී සටන් සමස්ත භාරතය පුරා ම පැතිරුණු හෙයින් පොලීසිය හෝ හමුදාව යොදවා ඒවා මර්දනය කිරීම ඉංග්‍රීසීන්ට දුෂ්කර විය. එසේ ම මෙවැනි සටන් හා විරෝධතා මගින් සියලු ඉන්දියානුවන්ගේ ජන මතය නිදහස නැමැති උතුම් ඉලක්කය වටා ගොනු කර ගැනීමට ගාන්ධිතුමාට හැකියාව ලැබුණි.

### ඉන්දියාවට නිදහස ලැබීම

1930 වර්ෂයේ දී ඉන්දියානුවන් ක්‍රියාත්මක කළ සිවිල් නීති කඩකිරීම් ව්‍යාපාරය නිසා ආණ්ඩුව මහත් අපහසුතාවට පත් විය. මේ නිසා ආණ්ඩුව හා නිදහස් සටනේ නායකයන් අතර වට මේස සාකච්ඡා කිහිපයක් පැවැත්වුණි. අනතුරුව 1935 වර්ෂයේ දී ඉංග්‍රීසීන් විසින් ඉන්දියාවට නව ආණ්ඩු පනතක් හඳුන්වා දෙන ලදි. එම පනත අනුව ඉන්දියානු නියෝජිතයන් ද හවුල් කර ගත් ෆෙඩරල් ව්‍යූහයකින් යුතු පාලන ක්‍රමයක් ඉන්දියාවට ලැබුණි. මෙම පාලන ක්‍රමයට ජාතික සංගමයේ පූර්ණ එකඟතාව නොලැබුණු නමුත් ඒ යටතේ පැවැත්වූ මැතිවරණවලට එම සංගමය මෙන් ම මුස්ලිම් ලීගය ද ඉදිරිපත් විය. 1937 වර්ෂයේ දී පැවති මැතිවරණයෙන් ජාතික සංගමයට ප්‍රාන්ත බහුතරයක බලය ලැබුණු අතර ඒ ඒ ප්‍රාන්ත වෙනුවෙන් ඇමති මණ්ඩල ද පත් කෙරුණි. වසර දෙකක් පමණ



**4.10 රූපය - ජවහර්ලාල් නේරු සහ ගාන්ධිතුමා**



**4.11 රූපය - මොහොමඩ් අලි ජින්නා**

එම පාලනය ක්‍රියාත්මක වන විට 1939 දී දෙවන ලෝක සංග්‍රාමය ආරම්භ විය. ඉංග්‍රීසීන් ඉන්දියානුවන්ගේ මතය නොවිමසා ඉන්දියාව යුද්ධයට ඇඳා ගැනීම ගැන ජාතික සංගමය විරුද්ධ වූ බැවින් එහි ඇමතිවරු ඉල්ලා අස්වූහ.

ලෝක යුද්ධයේ දී ඉංග්‍රීසීන්ට ඉන්දියානුවන්ගේ සහාය අවශ්‍ය වූ බැවින් යුද්ධය නිම වූ පසු අභ්‍යන්තර පාලන බලය ඉන්දියානුවන්ට පැවරෙන පාලනයක් පිහිටුවන බවට ඉංග්‍රීසීහු ප්‍රතිඥා දුන්හ. රටට නිදහස ලබා දීම වෙනුවට පිහිටුවන වෙනත් කුමන හෝ පාලනයකට ජාතික සංගමය විරුද්ධ වූ නිසා නැවත විරෝධතා ආරම්භ විය. 1941 වර්ෂයේ දී ජපානය යුද්ධයට අවතීර්ණ වීමත් සමග ජපානය ඉන්දියාව ආක්‍රමණය කළහොත් බ්‍රිතාන්‍යයට එරෙහිව ඉන්දියානුවන් ආක්‍රමණිකයන්ට සහාය දීමට ඉඩ ඇතැයි ඉංග්‍රීසීහු සැක කළහ. මේ නිසා බ්‍රිතාන්‍ය අගමැති වින්සන්ට් චර්චිල් ඉන්දියානුවන්ගේ ඉල්ලීම් සලකා බැලීමට කැමැත්ත ප්‍රකාශ කරමින් විශේෂ නියෝජිතයෙකු වශයෙන් ස්ටැපර්ඩ් ක්‍රිප්ස් ඉන්දියාවට එවීමට කටයුතු කළේ ය. ඉන්දියානු නායකයන් ක්‍රිප්ස්ගේ දූත ගමන ප්‍රතික්ෂේප කළ බැවින් එමගින් සාර්ථක ප්‍රතිඵල නොලැබිණි. මේ වන විට මොහොමඩ් අලි ජින්නාගේ නායකත්වය යටතේ මුස්ලිම් ලීගය මුස්ලිම් ජනතාව වෙනුවෙන් පකිස්ථානය යනුවෙන් වෙන ම රටක් පිහිටුවා ගැනීමේ ප්‍රබල ව්‍යාපාරයක් ගෙන ගියේ ය. මහත්මා ගාන්ධිතුමාගේ මූලිකත්වයෙන් ජාතික සංගමයේ නායකයෝ **ඉංග්‍රීසීන් ඉන්දියාවෙන් පිට වෙනු** යන සටන් පාඨය යටතේ දැඩි විරෝධතා ව්‍යාපාරයක් ආරම්භ කළහ. එයට ප්‍රතිචාර වශයෙන් ආණ්ඩුව විසින් ජාතික සංගමය නීති විරෝධි සංවිධානයක් ලෙස ප්‍රකාශ කොට එහි නායකයන් අත්අඩංගුවට ගන්නා ලදි.

1945 වර්ෂය වන විට දෙවන ලෝක සංග්‍රාමය නිමාවට පත් විය. බ්‍රිතාන්‍යයේ පැවති පාර්ලිමේන්තු මැතිවරණයෙන් චර්චිල්ගේ ආණ්ඩුව පරාජයට පත් වී කම්කරු පක්ෂයේ රජයක් බලයට පත් විය. දෙවන ලෝක සංග්‍රාමය ආරම්භයේ සිට ඉන්දියාවට නිදහස ලැබෙන තෙක් කාලය දෙස බලන විට ඉන්දියානු දේශපාලනයේ කැපී පෙනෙන ලක්ෂණ කිහිපයක් දැකිය හැකි ය.

- ඉන්දියාවට නිදහස ඉල්ලා කෙරෙන උද්ඝෝෂණ ඉතා තියුණු මට්ටමකට පැමිණීම.
- ඉන්දියාව තවදුරටත් යටත් විජිතයක් ලෙස පවත්වාගෙන යාමට නොහැකි බව බ්‍රිතාන්‍යය විසින් තේරුම් ගැනීම·
- බ්‍රිතාන්‍ය රජය ඉන්දියානු නායකයන් හා සාකච්ඡා කරමින් නිදහස ලබා දීම අවශ්‍ය කටයුතු සූදානම් කිරීම.
- මොහොමඩ් අලිජින්නාගේ නායකත්වය යටතේ මුස්ලිම් ලීගය පකිස්ථානය යනුවෙන් වෙන ම රටක් පිහිටුවා ගැනීමේ ව්‍යාපාරයක් ගෙන යාම.

1945 වර්ෂයේ සිට බ්‍රිතාන්‍ය නිලධාරීන් හා ඉන්දියානු නායකයන් අතර දීර්ඝ ලෙස පැවති සාකච්ඡාවල ප්‍රතිඵල වශයෙන් 1946 සැප්තැම්බර් මස ඉන්දියාවේ තාවකාලික ආණ්ඩුවක් පිහිටුවී ය. ඉන්දියාවේ අවසන් බ්‍රිතාන්‍ය ප්‍රතිරාජයා වශයෙන් පැමිණි මවුන්ට්බැටන් සාමි ඉන්දියානුවන්ට බලය පවරා දීමේ කටයුතු ඉක්මන් කළේ ය. ඒ අනුව 1947 වර්ෂයේ අගෝස්තු 15 වන දින සිට ඉන්දියාව බ්‍රිතාන්‍ය පාලනයෙන් සම්පූර්ණයෙන් ම නිදහස ලැබූ ස්වාධීන රාජ්‍යයක් බවට පත් විය. එරට නිදහස ලැබෙන අවධිය වන විට පැවති හින්දු මුස්ලිම් භේද හේතුවෙන් ඉන්දියාව හා පකිස්ථානය වශයෙන් රට දෙකඩ කිරීමට සිදු විය. ඉන්දියානු නිදහස් සටනේ කැපී පෙනෙන නායකයෙකු වූ මව්ලානා අබුල් කලාම් අසාද් සඳහන් කර ඇති පරිදි රට දෙකඩ වීමෙන් හෝ හින්දු මුස්ලිම් වශයෙන් පැවති වාර්ගික භේද අවසන් නොවී ය. ඉන්දියානු නිදහස් සටන දෙස බලන විට විශාල අධිරාජ්‍යයක් ගොඩනගා ගෙන සිටි බ්‍රිතාන්‍ය සෙසු මිත්‍රජාතීන්ගේ ද සහාය ඇතිව දෙවන ලෝක යුද්ධයේ දී ජර්මනියේ හිට්ලර්ගේ ඒකාධිපතිවාදය පරාජය කිරීමට සමත් වුවත් ඉන්දියාවේ මහත්මා ගාන්ධිගේ අවිහිංසාවාදය පරාජය කිරීමට සමත් නොවූ බව පෙනේ.

## 4.4 ඉන්දියානු නිදහස් සටනේ කැපී පෙනෙන නායකයෝ

### දඩාබායි නඖරෝජි



1825 වර්ෂයේ දී බොම්බායේ උපත ලැබූ දඩාබායි නඖරෝජි අධ්‍යාපන කටයුතුවලින් පසුව බොම්බායේ එල්පින්ස්ටන් ආයතනයේ ගණිතය පිළිබඳ මහාචාර්යවරයෙකු ලෙස කටයුතු කළේ ය. පසුව ලන්ඩන් නගරය බලා ගිය හෙතෙම ඉන්දියාවේ දේශපාලන හා ආර්ථික තත්වය ආදිය ගැන එංගලන්ත ජනතාව දැනුම්වත් කිරීමට කැප වී ක්‍රියා කළේ ය. ඉන්දියානු ජාතික සංගමය පිහිටුවීමේ පුරෝගාමියෙකු වශයෙන් කටයුතු කළ නඖරෝජි අවස්ථා කිහිපයක දී ම එහි සභාපති තනතුරට ද පත් විය. මධ්‍යස්ථ මතධාරියෙකු වූ ඔහු ඉන්දියාවේ ආර්ථික නිදහස ගැන විශේෂ උනන්දුවක් දැක්වී ය. ඉංග්‍රීසීන්ගේ ආර්ථික ප්‍රතිපත්ති නිසා ඉන්දියාව දිනෙන් දින දුප්පත් රටක් බවට පත් වන ආකාරය මුලින් ම පැහැදිලි කළ නායකයෙකු හැටියට ද නඖරෝජි ප්‍රසිද්ධියක් උසුලයි. ඉන්දියානු නිදහස් ව්‍යාපාරය තුළ සිටි වඩාත් පැරණි නායකයෙකු මෙන් ම බුද්ධිමතෙකු වන ඔහු ඉන්දියාවේ 'සම්භාවනීය මහල්ලා' යන අන්වර්ථ නාමයෙන් ද ප්‍රකට ය.

### සුරේන්ද්‍රනාත් බැනර්ජී



1848 වර්ෂයේ දී කල්කටාවේ දී උපත ලැබූ සුරේන්ද්‍රනාත් බැනර්ජී බෙංගාල ජාතිකයෙකි. ඉන්දියාවේ දී මූලික උපාධිය ලබා වැඩිදුර අධ්‍යාපනය සඳහා එංගලන්තයට ගිය ඔහු එවකට උසස් විභාගයක් ලෙස සැලකුණු සිවිල් සේවා විභාගයෙන් සමත් විය. මෙසේ සිවිල් සේවයට බැඳුණු ප්‍රථම ඉන්දියානුවා වූ බැනර්ජිගේ සිවිල් සේවා තනතුර කෙටි කාලයකින් ම අවසන් විය. එහෙත් අධෛර්යට පත් නොවූ හෙතෙම ඉන්දියානුවන්ගේ අයිතිවාසිකම් වෙනුවෙන් නොබියව සටන් කළේ ය. අධ්‍යාපනඥයෙකු වශයෙන් ප්‍රසිද්ධ බැනර්ජී රිපන් විද්‍යාලය නමින් නව පාසලක් ආරම්භ කිරීමට කටයුතු කර ඇත. බෙංගාලය නමින් නව පුවත්පතක් එළි දැක්වූ ඔහු එමගින් ඉන්දියානු ජනතාව දැනුම්වත් කිරීමට කටයුතු කළේ ය.

බැනර්ජී විසින් 1876 වර්ෂයේ දී ඉන්දියානු ජාතික සංවිධානය පිහිටුවන ලදි. එමගින් ඉන්දියානු ජාතික සංගමය පිහිටුවීමට පසුබිම සැකසිණ. මධ්‍යස්ථ මතධාරියෙකු වූ බැනර්ජී ඉන්දියානු නිදහස් සටනේ කැපී පෙනෙන නායකයෙකි.

### බාල් ගංගාධාර් තිලක්



1856 වර්ෂයේ දී මහරාෂ්ට ප්‍රදේශයේ දී උපත ලැබූ බාල් ගංගාධාර් තිලක් පාසල් අවධියේ දී පවා ඉතාමත් දක්ෂ ශිෂ්‍යයෙකු වශයෙන් කටයුතු කළ අයෙකි. ගණිතය විෂය පිළිබඳව විශිෂ්ට සාමාර්ථ්‍යයක් සහිතව මූලික උපාධිය ලැබූ හෙතෙම වැඩිදුර අධ්‍යාපනය ලබා කැපී පෙනෙන උගතෙකු බවට පත් විය. යහපත් පුරවැසියෙකු වීමට හොඳ අධ්‍යාපනයක් අවශ්‍ය බව තරයේ විශ්වාස කළ ඔහු 'ඩෙකැන් අධ්‍යාපන සමාජය' යනුවෙන් සංවිධානයක් පිහිටු අතර පාසල් කිහිපයක් ආරම්භ කිරීමට ද පුරෝගාමී විය. බ්‍රිතාන්‍ය පාලකයන්ගෙන් ඉන්දියානුවන්ට සිදු වන අසාධාරණකම් නොබියව විවේචනය කළ හෙතෙම ජනතාව දැනුම්වත් කිරීමට කේශරී හා මරාඨ යනුවෙන් පුවත්පත් දෙකක් ද ආරම්භ කළේ ය.

ලෝක්මාන්‍ය තිලක් යන ගෞරව නාමයෙන් හැඳින්වෙන බාල් ගංගාධාර් තිලක් ඉන්දියානු නිදහස් ව්‍යාපාරය සටන්කාමී මාවතකට යොමු කළ නායකයන් අතර කැපී පෙනෙන අයෙකි. ස්වරාජ්‍ය යනු මගේ ජන්ම උරුමයක් යැයි ප්‍රකාශ කළ හෙතෙම ස්වරාජ්‍ය ලබා ගැනීම වෙනුවෙන් ජනතාව දැනුම්වත් කිරීමට කැප විය.

මේ නිසා අවස්ථා කිහිපයක දී ම බන්ධනාගාර ගතවීමට ද ඔහුට සිදු විය. ආණ්ඩුව පෙත්සම් යැවීම, බලධාරීන් සමග සාකච්ඡා පැවැත්වීම, ඉංග්‍රීසීන් ඉදිරියේ බැගෑපත් වීම, ඉල්ලීම් දිනා ගැනීමට ප්‍රමාණවත් නැතැයි ලෝක්මාන්‍ය තිලක් විශ්වාස කළේ ය. නිදහස දිනා ගැනීමට නම් ඉන්දියානුවන් එක්සත් වී නොනවතින අරගලයක නිරත විය යුතු බව ඔහුගේ අදහස විය. සටන්කාමීත්වය අගය කළ නමුත් හෙතෙම හිංසාව පිළිකුල් කළේ ය. බාල් ගංගාධාර් තිලක් යනු ඉන්දියානු නිදහස් සටනේ දී කුමන බාධක ඉදිරියේ වුවත් පර්වතයක් මෙන් නොසැලී සිටි නායකයෙකි.

**මහත්මා ගාන්ධි**



1869 වර්ෂයේ දී උපත ලැබූ මොහන්දාස් කරම්චන්ද් ගාන්ධි හෙවත් මහත්මා ගාන්ධිතුමා තම පාසල් අධ්‍යාපනය නිම කිරීමෙන් පසු වැඩිදුර අධ්‍යාපනය සඳහා එංගලන්තය බලා පිටත්ව ගියේ ය. එහි දී නීති විභාගය සම්පූර්ණ කළ එතුමා දකුණු අප්‍රිකාවට ගොස් නීතිඥයෙකු වශයෙන් සේවය කළේ ය. දකුණු අප්‍රිකාවට පැමිණ සිටි යුරෝපියන් එහි බලය ඉල්ලාගෙන වර්ණභේදවාදය යොදා ගනිමින් කළු ජාතිකයන්ට පහත් අන්දමින් සලකන ආකාරය ගාන්ධිතුමාට දැක ගැනීමට ලැබුණි. එකල දුම්රිය මැදිරිවල පවා ඇතැම් මැදිරි කළු ජාතිකයන්ට තහනම් කර තිබිණ. එබඳු මැදිරියක ගමන් කරමින් සිටිය දී ගාන්ධිතුමාව ද එම මැදිරියෙන් ඉවත් කර ඇත. ගාන්ධිතුමා දකුණු අප්‍රිකාවේ සිටි කාලයේ දී ම මෙබඳු අසාධාරණකම්වලට එරෙහිව ජනතාව සංවිධානය කිරීමට කටයුතු කර තිබේ.

1915 වර්ෂයේ දී නැවත ඉන්දියාවට පැමිණි ගාන්ධිතුමා එරට නිදහස් ව්‍යාපාරයට එකතු විය. ගාන්ධිතුමා ඉන්දියාවට පැමිණි මුල් කාලයේ දී එරට ගොවි කම්කරු ජනතාව මුහුණදුන් ගැටලුවලට මැදිහත් වී කටයුතු කළේ ය. එතුමාගේ මැදිහත්වීම් ඉන්දියාවේ සිටි සාමාන්‍ය ජනතාව නිදහස් ව්‍යාපාරය වටා රොක් වීමට හේතු විය. ගාන්ධිතුමා නිදහස් සටනට එකතු වීමෙන් පසු ඉංග්‍රීසීන්ට හෝ ඔවුන්ට හිතවත් අයට හිංසා කිරීමෙන් තොරව අවිහිංසාවාදී ක්‍රම මගින් නිදහස් සටන මෙහෙයවන හැටි ජනතාවට පෙන්වා දුන්නේ ය.

සත්‍යග්‍රහය, රජයට සහාය නොදැක්වීම, සිවිල් නීති කඩ කිරීම, පා ගමන් සංවිධානය එතුමා භාවිත කළ එබඳු අවිහිංසාවාදී සටන් උපක්‍රම වේ. ජාති, ආගම්, කුල, දුප්පත්, පොහොසත් ආදී භේදවලින් තොරව සියලු ඉන්දියානුවන්ට මෙම සටන්වලට සහභාගි විය හැකි විය. මේ නිසා ඉන්දියානු නිදහස් සටන පොදු ජනතාවගේ සටනක් බවට පත් කළ නායකයා මහත්මා ගාන්ධිතුමා වේ.

එවකට ඉන්දියාවේ පැවති ජාති, භේද, කුල භේද ආදිය නොසලකා කටයුතු කළ ගාන්ධිතුමා සියලු ඉන්දියානුවන්ට සමාන අයිතිවාසිකම් හිමි විය යුතු බව විශ්වාස කළේ ය. ඉතා ම නිහතමානී තැනැත්තෙකු වූ හෙතෙම බොහෝ සරල ආදර්ශවත් ජීවිතයක් ගත කළේ ය. ඉන්දියානුවන් එරට නිෂ්පාදන අගය කළ යුතු බව ප්‍රකාශ කළ ගාන්ධිතුමා තමා ම කපු රෙදි විවීමෙන් හා එබඳු රෙදි පිළි භාවිතයෙන් ඉන්දියානුවන්ට ආදර්ශයක් ලබා දුණි. කපුකැටීම, කුල භේදය නොසැලකීම, මද්‍යසාර වර්ජනය, හින්දු මුස්ලිම් සමගිය, කාන්තාවන්ට සම අයිතිය ලබා දීම ගාන්ධිතුමාගේ දර්ශනයේ කැපී පෙනෙන ලක්ෂණ විය. එම කරුණු ඉන්දියාවේ දියුණුවට හේතු වනු ඇතැයි ගාන්ධිතුමා අදහස් කළේ ය.

බ්‍රිතාන්‍ය අධිරාජ්‍යයෙන් ඉන්දියාව නිදහස් කර ගැනීමේ සටනේ නායකයා ලෙස කටයුතු කළ එතුමා සියලු ඉන්දියානුවන්ගේ ගෞරව ආදරයට ලක් වූ අයෙකි. අවිහිංසාවාදී සටන නිසා ගාන්ධිතුමා සමස්ත ලෝක ජනතාව අතර ම ප්‍රසිද්ධියට පත් විය. ඉන්දියාවේ දී කෙතරම් කාර්ය බහුල ජීවිතයක් ගත කළ නමුත් 1927 වර්ෂයේ දී මහත්මා ගාන්ධිතුමා ශ්‍රී ලංකාවට ද පැමිණියේ ය. සති තුනක පමණ කාලයක් මෙරට රැඳී සිටි එතුමා කොළඹ, කළුතර, ගාල්ල, මහනුවර, යාපනය ආදී ස්ථානවලට ගොස් මහ ජනතාව අමතා කථා කළේ ය. එතුමා ගිය මෙරට සෑම ස්ථානයක ම උණුසුම් පිළිගැනීමක් ලැබුණි.



**මවුලානා අබුල් කලාම් අසාද්**

1888 වර්ෂයේ දී උපත ලැබූ මව්ලානා අබුල් කලාම් අසාද් ළමා අවධියේ දී වයසට වඩා මුහුකුරා ගිය දැනුමක් සහිත ශිෂ්‍යයෙකු විය. ඉන්දියානු ජාතික සංගමය තුළ සිටි කැපී පෙනෙන මුස්ලිම් නායකයෙකු වන එතුමා හින්දු මුස්ලිම් සමගිය තුළින් එක්සත් ඉන්දියාවක් බිහි කිරීමට කැප වූ නායකයෙකි. තරුණ අවධියේ දී ම එතුමා පුවත්පත් සඟරා ආදියට ලිපි සපයමින් දක්ෂ ලේඛකයෙකු බවට පත් විය. අනතුරුව එතුමා අල්හිලාල් නමින් පුවත්පතක් ආරම්භ කළේ ය. එය මුස්ලිම් ජනතාව අතර ජනප්‍රිය විය.

මවුලානා අබුල් කලාම් අසාද් තුමා ඉන්දියානු ජාතික සංගමයට සම්බන්ධ වීමෙන් පසු නිදහස් සටන වෙනුවෙන් මහත් කැපවීමෙන් සේවය කළේ ය. මේ නිසා වසර 8ක් එම සංගමයේ

සභාපති වශයෙන් කටයුතු කිරීමේ ඉතා දුර්ලභ අවස්ථාවක් එතුමාට ලැබුණි. ජාතික සංගමයේ සියලු නායකයන්ගේ ගෞරවය දිනා ගත් එතුමා මහත්මා ගාන්ධිතුමාගේ ද සමීපතම මිතුරෙකු විය. ගාන්ධිතුමා මෙහෙයවූ සෑම උද්ඝෝෂණයකට ම එතුමාගේ සහාය ලැබුණි. ජාතික සංගමයේ නායකයන් අතර විවිධ මත ගැටුම් ඇති වූ අවස්ථාවල පවා ඒවා සමනය කරමින් නිදහස් සටන ඉදිරියට මෙහෙයවීමට හෙතෙම කටයුතු කළේ ය.

ඉන්දියාවට නිදහස ලැබීමට ආසන්න කාලයේ දී බලධාරීන් සමග විවිධ සාකච්ඡාවලට සහභාගි වෙමින් ද ඉන්දියාවේ විවිධ ප්‍රදේශවල සංචාරය කොට ජනතාව සන්සුන් කරවමින් ද ඉන්දියානු නිදහස් සටනේ දී එතුමා විශිෂ්ට සේවයක් සිදු කළේ ය.

**ජවහර්ලාල් නේරු**



1889 වර්ෂයේ දී අලහබාද්හි උපත ලැබූ ජවහර්ලාල් නේරු මූලික අධ්‍යාපනයෙන් පසු එංගලන්තයට ගොස් වැඩිදුර අධ්‍යාපනය ලබා නීතිඥයෙකු බවට පත් විය. ආපසු ඉන්දියාවට පැමිණීමෙන් පසු ඔහු ඉන්දියානු ජාතික සංගමයට එකතු වී නිදහස් සටනේ නායකයෙකු වශයෙන් කටයුතු කළේ ය. නේරු බුද්ධිමතෙකු මෙන් ම ජාතික සංගමය තුළ සිටි දක්ෂ සංවිධායකයෙක් ද වේ. ඉන්දියාව නිදහස ලැබීමෙන් පසු අගමැතිවරයා වශයෙන් කටයුතු කරමින් හෙතෙම නූතන ඉන්දියාව ගොඩනැගීමට විශාල සේවයක් සිදු කළේ ය. ඔහු ග්‍රන්ථ කිහිපයක කතුවරයෙකු වන අතර නේරු රචනා කළ ලෝක ඉතිහාසය සිහිවටන නම් කෘතිය භාෂා කිහිපයකට ම නැගූ ග්‍රන්ථයකි. ඉන්දියාවේ අගමැතිණියක වූ ඉන්දිරා ගාන්ධි මහත්මිය ජවහර්ලාල් නේරු තුමාගේ දියණියකි.



**ක්‍රියාකාරකම**

**මහත්මා ගාන්ධි, දඩාබායි නඕරෝජි, මවුලානා, අබුල් කලාම් අසාද්, සුරේන්ද්‍රනාත් බැනර්ජි, ජවහර්ලාල් නේරු යන නායකයන් පිළිබඳ තොරතුරු රැස් කරන්න.**



**ක්‍රියාකාරකම**

**ඉන්දියානු ජාතික නිදහස් සටනේ අවස්ථා කිහිපයක් පහත දැක්වේ. ඒ ඒ අවස්ථා හා එයින් ලබා ගත හැකි ආදර්ශ පිළිබඳ ඔබේ අභ්‍යාස පොතේ සටහන් කර ගන්න.**

1. **එකමුතුකමේ අවශ්‍යතාව හා ජාතික සංගමය පිහිටුවීම**
2. **ස්වදේශීය ව්‍යාපාරය**
3. **අවිහිංසාවාදී සටන්**
4. **නොපසුබටව අරමුණු කරා ළඟාවීම**
5. **සහයෝගයෙන් කටයුතු කර නිදහස ලබා ගැනීම**

# 05 ශ්‍රී ලංකාවේ ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණ හා ජාතික නිදහස් ව්‍යාපාරය



## හැඳින්වීම

බ්‍රිතාන්‍යයන් 1815 වර්ෂයේ දී උඩරට රාජධානිය යටත් කර ගැනීමත් සමග එතෙක් මෙරට පැවති රාජාණ්ඩු පාලන ක්‍රමය බිඳ වැටුණි. එතැන් සිට 1948 වර්ෂයේ දී ශ්‍රී ලංකාව නිදහස දිනා ගන්නා තෙක් වසර 133ක කාලයක් බ්‍රිතාන්‍යයෝ මෙරට පාලනය කළහ.

ලාංකිකයන් නොකඩවා ගෙනගිය උද්ඝෝෂණ හේතුවෙන් වරින් වර ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණ ලබාදීමට බ්‍රිතාන්‍ය පාලකයන්ට සිදු විය. එම ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණවලින් ස්වදේශිකයන්ට පැවරූ බලය පිළිබඳව සෑහීමකට පත් නොවූ ලාංකිකයෝ අඛණ්ඩව උද්ඝෝෂණ ව්‍යාපාර දියත් කළහ. 1948 වර්ෂයේ දී ශ්‍රී ලංකාවට යළි නිදහස දිනා ගත හැකි වූයේ එම උද්ඝෝෂණවල ප්‍රතිඵල වශයෙනි. බ්‍රිතාන්‍ය පාලන සමයේ දී මෙරට පැවති දේශපාලන උද්ඝෝෂණ සහ ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණවල ස්වරූපය ආදිය පිළිබඳව මෙම පරිච්ඡේදයේ දී අවධානය යොමු කෙරේ.

## 5.1 කෝල්බෲක් - කැමරන් ප්‍රතිසංස්කරණ 1833

1815 වර්ෂයේ දී ඉංග්‍රීසීන් උඩරට රාජධානිය යටත් කර ගැනීමත් සමග සමස්ත දිවයින ම බ්‍රිතාන්‍ය යටත් විජිතයක් බවට පත් විය. එතැන් සිට බ්‍රිතාන්‍යයන් මෙරට පාලන කටයුතු ගෙන යාමේ දී උඩරට හා පහත රට ප්‍රදේශ වෙන් වෙන්ව පාලනය කිරීමත්, බ්‍රිතාන්‍යයෙන් පැමිණි නිලධාරීන්ගේ වැටුප් හා පහසුකම් වෙනුවෙන් විශාල වැය බරක් දැරීමට සිදු වීමත්, ආදිය නිසා 1828 වර්ෂය පමණ වන විට රජයේ ආදායමට වඩා වැය පක්ෂය ශීඝ්‍රයෙන් ඉහළ ගියේ ය. මේ නිසා මෙරට ආණ්ඩුවේ වියදම් පියවා ගැනීමට බ්‍රිතාන්‍ය මව් ආණ්ඩුවේ මුදල් යෙදවිය යුතු තත්වයක් උද්ගතව තිබුණි. එහෙත් යටත් විජිතවල කටයුතු වෙනුවෙන් මව් ආණ්ඩුවේ මුදල් වැය කිරීම මේ වන විට බ්‍රිතාන්‍ය ප්‍රතිපත්තිය නොවී ය. එබැවින් ලංකාවට පැමිණ මෙරට ආදායම් හා වියදම් තත්වය සොයා බලා පාලන ක්‍රමයේ දුර්වලතා අධ්‍යයනය කොට අවශ්‍ය ප්‍රතිසංස්කරණ නිර්දේශ කිරීම සඳහා යටත් විජිත භාර ලේකම්වරයා විසින් විශේෂ කොමිෂන් සභාවක් පත් කරන ලදි. ඩබ්. එම්. ජී. කෝල්බෲක් මහතාගේ නායකත්වයෙන් යුතුව පත් කෙරුණු එම කොමිසම කෝල්බෲක් කොමිසම ලෙස හැඳින්වේ. කෝල්බෲක් මහතාට ආර්ථික හා පාලන කටයුතු සොයා බැලීමේ වගකීම පැවරුණි. මෙරට අධිකරණ කටයුතු පරීක්ෂා කොට අවශ්‍ය නිර්දේශ ඉදිරිපත් කිරීම සඳහා චාල්ස් හේ කැමරන් නැමැත්තා පසුව පත් කෙරිණ.

### කෝල්බෲක් කොමිසමෙහි විමර්ශනයට ලක් වූ ක්ෂේත්‍ර

රජයේ ආදායම් මාර්ග හා වියදම් කටයුතු,- ඩබ්. එම්. ජී. කෝල්බෲක්

අධිකරණ ක්ෂේත්‍රය - චාල්ස් හේ කැමරන්

කෝල්බෲක් හා කැමරන් යන දෙදෙනා මෙරටට පැමිණ ලංකාවේ පාලන ක්‍රමය හා අධිකරණ ක්ෂේත්‍රය ගැන කරුණු පිරික්සා ඇතැම් ලාංකිකයන්ගේ ද අදහස් විමසා බලා තම නිර්දේශ ඇතුළත් යෝජනාවලියක් ඉදිරිපත් කළහ. 1833 වර්ෂයේ සිට ක්‍රියාත්මක වූ එය කෝල්බෲක් කැමරන් ප්‍රතිසංස්කරණය ලෙස හැඳින්වේ.

### කෝල්බෲක් ප්‍රතිසංස්කරණවල කැපී පෙනෙන ලක්ෂණ

- ❖ ව්‍යවස්ථාදායක හා විධායක සභා පිහිටුවීම.
- ❖ උඩරට හා පහතරට ප්‍රදේශ ඒකාබද්ධ වූ පාලන ක්‍රමයක් හඳුන්වා දීම.
- ❖ පරිපාලන කටයුතු සඳහා මුළු රට පළාත් පහකට බෙදීම.
- ❖ අනිවාර්ය රාජකාරි ක්‍රමය අහෝසි කිරීම.
- ❖ ඉංග්‍රීසි අධ්‍යාපනය පුළුල් කිරීම.

මීළඟට අපි ඉහත සඳහන් ලක්ෂණ එකින් එක ගෙන සංක්ෂිප්තව කරුණු විමසා බලමු.

## ❖ ව්‍යවස්ථාදායක හා විධායක සභා පිහිටුවීම

කෝල්බෲක් කොමිසම මෙරටට පැමිණෙන විට ලංකාවේ ආණ්ඩුකාරවරයා වෙත ව්‍යවස්ථාදායක, විධායක හා අධිකරණ බලතල ඒකරාශී වී තිබුණි. මෙම තත්වය කෝල්බෲක්ගේ විමතියට හේතු වූ අතර ආණ්ඩුකාරවරයාගේ බලතල අඩු කිරීමේ අරමුණ ඇතිව හෙතෙම ව්‍යවස්ථාදායක හා විධායක සභා පිහිටුවීමට යෝජනා කළේ ය.

### ව්‍යවස්ථාදායක සභාව

කෝල්බෲක් යෝජනා අනුව නීති සම්පාදනය සඳහා පිහිටුවන ලද ව්‍යවස්ථාදායක සභාව සාමාජිකයන් 15කින් යුක්ත විය. ඔවුන් නිල ලත් හා නිල නොලත් වශයෙන් කොටස් දෙකකට බෙදා තිබුණි. ඒ අනුව නිල ලත් සාමාජිකයන් සංඛ්‍යාව නවයක් වූ අතර ඔවුහු නිල බලයෙන් තේරී පත් වූ රජයේ උසස් නිලධාරීන් වූහ. නිල නොලත් සාමාජිකයන් හයක් සිටි අතර ඔවුන් ජන වාර්ගික පදනම යටතේ ආණ්ඩුකාරවරයා විසින් නාමකරණයෙන් පත් කරන ලදි. නිල නොලත් සාමාජිකයෝ යුරෝපීය නියෝජිතයන් තිදෙනෙකුගෙන් ද සිංහල, ද්‍රවිඩ, බර්ගර් යන එක් එක් ජන කොටස් වෙනුවෙන් තෝරාගත් නියෝජිතයන් තිදෙනෙකුගෙන් ද සමන්විත වූහ. ව්‍යවස්ථාදායක සභාවේ මුලසුන ආණ්ඩුකාරවරයාට හිමි විය. කෝල්බෲක් ප්‍රතිසංස්කරණ මගින් එක් එක් ජන වර්ග පදනම් කරගෙන ව්‍යවස්ථාදායක සභාවට නියෝජිතයන් තෝරා ගැනීමට හඳුන්වා දුන් වාර්ගික නියෝජන ක්‍රමය පසු කාලයේ දී මෙරට ජන වර්ග අතර භේද ඇති වීමට හේතු වූයේ යැයි පිළිගැනේ.



1833 වර්ෂයේ පිහිටු වූ ව්‍යවස්ථාදායක සභාව වරින් වර ප්‍රතිසංස්කරණයට ලක් වෙමින් ලාංකිකයන් අතට ලැබුණු බලතල ප්‍රමාණය වැඩි වී ඒ තුළින් අනාගතයේ පාර්ලිමේන්තු ආණ්ඩුක්‍රමයක් කරා යාමට පදනම වැටුණි. මේ නිසා කෝල්බෲක් ආණ්ඩුක්‍රමය යටතේ ව්‍යවස්ථාදායක සභාව හඳුන්වාදීම මෙරට දේශපාලන ක්‍රමයෙහි වැදගත් සන්ධිස්ථානයක් ලෙස සැලකිය හැකි ය.

### විධායක සභාව

කෝල්බෲක් යෝජනාවලට අනුව පිහිටුවන ලද විධායක සභාව ආණ්ඩුකාරවරයා හා රජයේ මිනුම්පති වැනි රජයේ ඉහළ නිලධාරීන් පිරිසකගෙන් සමන්විත විය. ආණ්ඩුකාරවරයා මෙහි මූලාසනය දැරී ය. රටේ සියලු පරිපාලන හා මූල්‍ය කරුණු සම්බන්ධයෙන් ආණ්ඩුකාරවරයා මෙම සභාවේ අදහස් විමසීම අවශ්‍ය විය.

### ❖ උඩරට හා පහතරට ප්‍රදේශ ඒකාබද්ධ වූ පාලන ක්‍රමයක් හඳුන්වා දීම

1815 වර්ෂයේ දී බ්‍රිතාන්‍යයන් උඩරට රාජධානිය යටත් කර ගැනීමෙන් පසු උඩරට හා පහතරට ප්‍රදේශ වෙන් වෙන්ව පාලනය කිරීමේ ක්‍රමයක් අනුගමනය කළේ ය. මෙම ක්‍රමය රජයේ වියදම් ඉහළ යාමට හේතු වී ඇති බව පෙන්වා දෙමින් එම ප්‍රදේශ ඒකාබද්ධ කොට ඒකීය පාලන ක්‍රමයක් ඇති කිරීමට කෝල්බෲක් යෝජනා කළේ ය.

### ❖ පරිපාලන කටයුතු සඳහා මුළු රට ම පළාත් පහකට බෙදීම

1833 වර්ෂය තෙක් පරිපාලන කටයුතු සඳහා ලංකාව පළාත් 16කට බෙදා තිබුණි. මෙසේ පළාත් සංඛ්‍යාව වැඩි වීම නිසා නිලධාරීන් හා ඔවුන්ගේ පහසුකම් ආදියට විශාල මුදලක් දැරීමට සිදු වීමෙන් රජයේ වියදම් ඉහළ යන බව පෙන්වා දුන් කෝල්බෲක් වියදම් අඩු කිරීම පිණිස පරිපාලන ප්‍රදේශ පහකට බෙදා ඒ ඒ පළාත් සඳහා පාලන මධ්‍යස්ථාන පහක් පිහිටුවීමට යෝජනා කළේ ය. එම පළාත් භාරව කටයුතු කිරීමට රජයේ ඒජන්තවරයෙකු බැගින් පත් කිරීමට ද තීරණය කෙරිණ.

**කෝල්බෲක් යෝජනා කළ පළාත් හා ඒවායේ පාලන මධ්‍යස්ථාන**

| පළාත | පරිපාලන මධ්‍යස්ථාන |
|---|---|
| උතුරු පළාත | යාපනය |
| දකුණු පළාත | ගාල්ල |
| නැගෙනහිර පළාත | ත්‍රිකුණාමලය |
| බස්නාහිර පළාත | කොළඹ |
| මධ්‍යම පළාත | මහනුවර |

## ❖ අනිවාර්ය සේවා රාජකාරි ක්‍රමය අහෝසි කිරීම

රටේ සිටි වැඩිහිටි පිරිමි සියලු දෙනා ම අවුරුද්දට නියමිත දින ගණනක් රජයට නොමිලේ සේවා සැපයීම අනිවාර්ය සේවා රාජකාරි ක්‍රමය ලෙස හැඳින්වේ. අතීතයේ දී රාජ්‍යයේ පොදු කටයුතු සඳහා රටවැසියන්ගේ ශ්‍රමය ලබා ගැනීමට මෙම රාජකාරි ක්‍රමය යොදා ගත්හ. ඔවුන් ජීවත් වූ ගම්මානවල වැව් අමුණු, ඇළවේලි, පාරවල් ප්‍රතිසංස්කරණය කිරීම වැනි පොදු කාර්යයන් මේ යටතේ සිදු කෙරිණ. මුදල් ගෙවීමකින් තොරව ලබා ගත් මෙම සේවාව මිනිසුන්ගේ නිදහසට මෙන් ම දියුණුවට බාධාවක් බව පෙන්වූ කෝල්බෲක් එම ක්‍රමය අවලංගු කිරීමට නිර්දේශ කළේ ය.

## ❖ ඉංග්‍රීසි අධ්‍යාපනය ව්‍යාප්ත කිරීම

කෝල්බෲක් පැමිණි අවධිය වන විට ආණ්ඩුවේ වියදම් ඉහළ යාමට තුඩු දුන් ප්‍රධාන හේතුවක් වූයේ මෙරට පරිපාලන කටයුතුවලට අවශ්‍ය නිලධාරීන් යුරෝපයෙන් ගෙන්වීමයි. ඔවුන්ගේ වැටුප්, නවාතැන් පහසුකම් හා වෙනත් සේවා ලබා දීමට රජයට විශාල මුදලක් වැය විය. මේ නිසා රජයේ වියදම් අඩු කිරීමට නම් විදේශ නිලධාරීන් වෙනුවට දේශීය නිලධාරීන් යොදා ගත යුතු යැයි කෝල්බෲක් යෝජනා කළේ ය. ඒ සඳහා ඉංග්‍රීසි අධ්‍යාපනය පුළුල් කිරීමේ අවශ්‍යතාවක් මතුව තිබුණි. ස්වදේශිකයන් අතර සිටි මුදල් ගෙවා අධ්‍යාපනය ලබා ගත හැකි පිරිසට ඉංග්‍රීසි මාධ්‍යයෙන් හොඳ අධ්‍යාපනයක් ලබා දීමෙන් ආණ්ඩුවේ කටයුතුවලට අවශ්‍ය නිලධාරීන් සපයා ගත හැකි වෙතැයි කෝල්බෲක් බලාපොරොත්තු විය.

## 5.2 ශ්‍රී ලාංකිකයන්ගේ උද්ඝෝෂණ

1833 වර්ෂයේ කෝල්බෲක් ප්‍රතිසංස්කරණ ක්‍රියාත්මක වීමෙන් පසුව එම ආණ්ඩු ක්‍රමයේ යම් යම් වෙනස්කම් ඇති කර ගැනීම සඳහා උද්ඝෝෂණයක් මුල්වරට ආරම්භ කරන ලද්දේ මෙරට සිටි යුරෝපීයන් විසිනි. මෙකී යුරෝපීයන් වතු වගා කටයුතු සඳහා ලංකාවට පැමිණ උඩරට ප්‍රදේශවල වැවිලි කටයුතුවල නිරත වූ ධනවත්තු වෙති. ඔවුන්ගේ වතු පිහිටි ප්‍රදේශවලට මාර්ග පහසුකම් දියුණු කර ගැනීම, තැපැල් හා පණිවිඩ හුවමාරු පහසුකම් ඇති කර ගැනීම හා වතුකරයට අවශ්‍ය වෙනත් පහසුකම් දියුණු කිරීම වෙනුවෙන් ව්‍යවස්ථාදායකය මගින් මුදල් වෙන් කර ගැනීමේ අවශ්‍යතාවක් මේ වන විට මතුව තිබුණි. මෙම යුරෝපීය ප්‍රජාව නියෝජනය කිරීමට ව්‍යවස්ථාදායක සභාවට නිල නොලත් නියෝජිතයන් තිදෙනෙකු පත් කර සිටි බව මීට පෙර සඳහන් කෙරිණ. එහෙත් ව්‍යවස්ථාදායකයේ නිල නොලත් පිරිසට වඩා නිල ලත් නිලධාරීන් බහුතරයක් වීමත් එම සභාවට ලැබී තිබූ බලතල ප්‍රමාණවත් නොවීමත් නිසා ඔවුහු උද්ඝෝෂණ ආරම්භ කළහ. මෙම උද්ඝෝෂණ ගෙන යාමට 1865 වර්ෂයේ දී ඔවුන් විසින් ලංකා සංගමය නම් සංවිධානයක් පිහිටුවන ලදි. විලියම් ඩිග්බි, ජෝර්ජ් වෝල් වැනි අය එම උද්ඝෝෂණවල කැපී පෙනෙන නායකයෝ වූහ.

කෝල්බෲක් ප්‍රතිසංස්කරණවලින් පසු මෙරට වතු වගාව දියුණු වීමත්, ආනයන අපනයන ආර්ථිකයක් බිහි වීමත් නිසා ලාංකිකයන්ට ද යම් යම් ව්‍යාපාර කටයුතුවල නිරත වීමෙන් මුදල් උපයා ගැනීමට අවස්ථාව ලැබුණි. බ්‍රිතාන්‍ය පාලන සමයේ දී වැවිලි කටයුතු, තොග හා සිල්ලර වෙළෙඳාම, මිනිරන් කර්මාන්තය ආදී ව්‍යාපාර කටයුතුවල යෙදීමෙන් මුදල් උපයා ගත් ලාංකික පිරිසක් බිහි වූහ. එසේ බිහි වූ ලාංකික ධනවතුන් තම දූ දරුවන්ට මෙරට දී මෙන් ම විදේශ රටවලට යැවීමෙන් ද උසස් අධ්‍යාපනයක් ලබා දීම නිසා ඉංග්‍රීසි උගත් මධ්‍යම පාන්තික පිරිසක් බිහි වූහ. 20 වන සියවස ආරම්භයේ දී එම පිරිස ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණ ඉල්ලා උද්ඝෝෂණ කිරීමට පෙළඹිණ. එය ලාංකිකයන්ගේ දේශපාලන උද්ඝෝෂණවල ආරම්භය ලෙස සැලකේ.

උගත් ලාංකික මධ්‍යම පන්තිය අතරින් මුල් කාලයේ දී දේශපාලන උද්ඝෝෂණවලට නායකත්වය දුන් පිරිස අතර පොන්නම්බලම් රාමනාදන්, පොන්නම්බලම් අරුණාචලම්, සර් ජේම්ස් පීරිස්, එච්. ජී. සී. පෙරෙයිරා වැනි අය විශේෂයෙන් කැපී පෙනේ. මෙසේ උගත් ලාංකිකයන්ගේ මැදිහත් වීමෙන් උද්ඝෝෂණ මෙහෙයවීමට මුල් කාලයේ පිහිටු වූ සංවිධාන අතර පහතරට නිෂ්පාදන සංගමය, හලාවත සංගමය, යාපන සංගමය කැපී පෙනෙන සංවිධාන කිහිපයකි.

උගත් ලාංකිකයන් අතරින් ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණයක අවශ්‍යතාව පිළිබඳව දීර්ඝව කරුණු පැහැදිලි කරමින් 1908 වර්ෂයේ දී මුල්වරට විධිමත් සන්දේශයක් යටත් විජිත භාර ලේකම්වරයා වෙත ඉදිරිපත් කරන ලද්දේ සර් ජේම්ස් පීරිස් මහතා විසිනි. ඉන් අනතුරුව විවිධ සංවිධාන හා පුද්ගලයන් විසින් ද තවත් එබඳු පෙත්සම් රැසක් ද ඉදිරිපත් කරන ලදි. එම පෙත්සම් මගින් ලාංකිකයන් ඉදිරිපත් කළ ප්‍රතිසංස්කරණ යෝජනා කිහිපයක් මෙසේ ය.

- ව්‍යවස්ථාදායක සභාවේ නිල නොලත් සාමාජිකයන් පිරිස වැඩි කිරීම
- ව්‍යවස්ථාදායක සභාවට ඡන්ද බලයෙන් නියෝජිතයන් තේරීම
- වාර්ගික නියෝජන ක්‍රමය අහෝසි කිරීම

## 5.3 කෲව් - මැකලම් ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණය 1910

1910 වර්ෂය වන විට ලංකාවේ ආණ්ඩුකාරධුරය දැරූ හෙන්රි මැකලම් ආණ්ඩුකාරවරයාගේ නිර්දේශ පදනම් කොටගෙන යටත් විජිත භාර ලේකම් කෲව් සාමිවරයා විසින් 1910 වර්ෂයේ නොවැම්බර් මාසයේ දී නව ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණයක් මෙරටට ලබා දෙන ලදි. එය කෲව්-මැකලම් ආණ්ඩුක්‍රමය වශයෙන් හැඳින්වේ. මෙම ආණ්ඩුක්‍රමය යටතේ ව්‍යවස්ථාදායක සභාවේ සාමාජික සංඛ්‍යාව 21 දක්වා වැඩි කර තිබුණි. නිල ලත් පිරිස 11 දෙනෙකු වූ අතර 10 දෙනෙක් නිල නොලත් සාමාජිකයෝ වූහ. එකී නිල නොලත් සාමාජිකයන් 10 දෙනා වාර්ගික නියෝජන ක්‍රමයෙන් හය දෙනෙකු ද සීමිත ඡන්ද බලයෙන් හතර දෙනෙකු ද (යුරෝපීය දෙදෙනෙක් ද බර්ගර් එක් අයෙකු හා උගත් ලාංකිකයන් එක් අයෙකු) වශයෙන් පත් කෙරිණ.




ඉහත සටහන දෙස බලන විට ව්‍යවස්ථාදායක සභාවට නියෝජිතයන් තෝරා ගැනීමේ දී ඡන්ද බලයෙන් නියෝජිතයන් තෝරා ගැනීමට ඉඩ ලැබීමත් උගත් ලාංකිකයන් වෙනුවෙන් එක් නියෝජිතයෙක් තෝරා ගැනීමට අවස්ථාව සලසා දී තිබීමත් මෙම ප්‍රතිසංස්කරණයේ කැපී පෙනෙන ලක්ෂණ වේ.

උගත් ලාංකිකයන් වෙනුවෙන් නියෝජිතයෙකු තෝරා පත් කර ගැනීම නිසා මෙරට මධ්‍යම පන්තියට ව්‍යවස්ථාදායක සභාව නියෝජනය කිරීමට ඉඩ ලැබුණි. මෙම ධුරය සඳහා මුල්වරට පත් වූයේ පොන්නම්බලම් රාමනාදන් මහතා ය.



**5.1 රූපය - පොන්නම්බලම් අරුණාචලම් මහතා**

## 5.4 ලංකා ජාතික සංගමය

කෲව් - මැකලම් ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණයට පෙර ඉල්ලීම් ඉදිරිපත් කිරීමේ දී විවිධ සංවිධාන හා පුද්ගලයන් යටත් විජිත භාර ලේකම්වරයාට වෙන් වෙන්ව පෙත්සම් යැවූ ආකාරය ඉහත සඳහන් කෙරිණ. කුඩා කුඩා

සංවිධාන වශයෙන් පෙත්සම් යැවීමෙන් යටත් විජිත පාලකයන්ට බලපෑම් කළ නොහැකි බවත් ලාංකිකයන් එකතු වී ශක්තිමත් හඬක් නැගීමට නම් සියලු දෙනාගේ සහයෝගය ලැබෙන පොදු සංවිධානයක් පිහිටුවිය යුතු බවත් මධ්‍යම පාන්තිකයෝ තේරුම් ගත්හ. ඉන්දියානුවන් ඉන්දියානු ජාතික සංගමය පිහිටුවා එක්සත්ව කටයුතු කළ ආකාරය මෙහි දී ලාංකික උගතුන්ට ද ආදර්ශයක් විය. 1919 වර්ෂයේ දී ලංකා ජාතික සංගමය පිහිටුවූයේ එහි ප්‍රතිඵලයක් වශයෙනි. එවකට ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණ උද්ඝෝෂණ ව්‍යාපාරයේ කැපී පෙනෙන නායකයෙකු වූ පොන්නම්බලම් අරුණාචලම් මහතා ලංකා ජාතික සංගමයේ ප්‍රථම සභාපති තනතුරට පත් විය.




ලංකා ජාතික සංගමයට එක් වූ කුඩා සංවිධාන කිහිපයක් ඉහත දැක්වේ.

සිංහල, දෙමළ, මුස්ලිම් වැනි මෙරට වාර්ගික ජන කොටස් නියෝජනය කළ සංවිධාන රැසක් ලංකා ජාතික සංගමය වශයෙන් පොදු අරමුණක් වෙනුවෙන් එකට එකතු වීම මෙරට දේශපාලන ඉතිහාසයේ වැදගත් අවස්ථාවක් ලෙස පෙන්නුම් කළ හැකි ය.

ලාංකිකයන් අතට දේශපාලන බලතල ලබා ගැනීම සඳහා ශක්තිමත් උද්ඝෝෂණ ව්‍යාපාරයක් දියත් කිරීම ලංකා ජාතික සංගමයේ ප්‍රධාන අරමුණ විය. මේ අනුව ඉදිරි ප්‍රතිසංස්කරණවල දී ව්‍යවස්ථාදායක සභාවේ ලාංකික සාමාජිකයන් සංඛ්‍යාව වැඩි කර ගැනීම, එහි බලතල වැඩි කර ගැනීම, ඡන්ද බලයෙන් නියෝජිතයන් බහුතරයක් තෝරා ගැනීමට අවස්ථාව ලබා ගැනීම, දේශීය නායකයන්ට පාලන කටයුතුවලට වැඩි වැඩියෙන් සම්බන්ධ වීමට අවස්ථාව ලබා ගැනීම වැනි අරමුණු ඒ අතර කැපී පෙනුණි.

ඉහත අරමුණු දිනා ගැනීම සඳහා ලංකා ජාතික සංගමය අනුගමනය කළ ක්‍රියා මාර්ග සටන්කාමී නොවූ අතර ඉතාමත් සාමකාමී ස්වරූපයක් පෙන්නුම් කළේ ය. ඒ අනුව බ්‍රිතාන්‍ය රජයට පෙත්සම් යැවීම, යටත් විජිත ලේකම්වරයාට පෙත්සම් යැවීම, රැස්වීම් පවත්වා ජනතාව දැනුම්වත් කිරීම, ව්‍යවස්ථාදායකය තුළ තර්ක ඉදිරිපත් කිරීම, ආණ්ඩුකාරවරයාගේ ප්‍රසාදය දිනා ගැනීමට ප්‍රයත්න දැරීම, පුවත්පත්වලට ලිපි ලියමින් ප්‍රතිසංස්කරණවල අවශ්‍යතාව පැහැදිලි කරදීම වැනි ක්‍රියාමාර්ග අනුගමනය කළේ ය.

## 5.5 මැනිං ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණය -1920

1910 – ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණයෙන් සෑහීමකට පත් නොවූ ලාංකිකයන් දිගින් දිගට ම උද්ඝෝෂණය කිරීමේ ප්‍රතිඵලයක් වශයෙන් 1920 වර්ෂයේ දී තවත් ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණයක් මෙරටට ලැබුණි. එවකට ලංකා ආණ්ඩුකාරවරයා වූ විලියම් මැනිංගේ නිර්දේශය මත සකස් කෙරුණ මෙම ආණ්ඩුක්‍රමය මැනිං ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණය ලෙස හැඳින්වේ.

**ව්‍යවස්ථාදායක සභාව**

මෙම ප්‍රතිසංස්කරණය මගින් ව්‍යවස්ථාදායක සභාවේ සාමාජික සංඛ්‍යාව 37ක් දක්වා වැඩි කෙරිණ. ඔවුන්ගෙන් 14 දෙනෙකු නිල ලත් සාමාජිකයන් වූ අතර 23 දෙනෙක් නිල නොලත් සාමාජිකයෝ වූහ. නිල නොලත් සාමාජිකයන් 23 දෙනාගෙන් හතක් ආණ්ඩුකාරවරයා විසින් නාමකරණයෙන්, (නම් කිරීමෙන්) පත් කරන ලදි. ඉතිරි 16 දෙනා ඡන්ද බලයෙන් පත් කිරීම මෙම ආණ්ඩුක්‍රමයේ කැපී පෙනෙන ලක්ෂණයකි. 1920 වර්ෂයේ ව්‍යවස්ථාදායක සභාව පත් වූ ආකාරය පහත සටහනින් පෙන්නුම් කෙරේ.

**ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණය - 1920**



මෙම ආණ්ඩුක්‍රමය අනුව ව්‍යවස්ථාදායක සභාවේ නිල ලත් පිරිසට වඩා නිල නොලත් පිරිස වැඩි වූ බව බැලූ බැල්මට පෙනෙන නමුත් තීරණාත්මක ඡන්ද විමසීමක දී නිල ලත් දාහතර දෙනාට නාමකරණයෙන් පත් වූ හත් දෙනා ද එක් වන බැවින්, ඡන්දයෙන් පත් වූ දහසය දෙනාට වඩා වැඩි ඡන්දයක් ආණ්ඩුකාරවරයාට හිමිව තිබිණ.

## 5.6 1924 මැනිං ඩෙවොන්ෂයර් ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණය

1920 - ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණයෙන් ලාංකිකයන්ගේ අපේක්ෂා ඉටු නොවුණි. මේ නිසා ලංකා ජාතික සංගමය මෙම ප්‍රතිසංස්කරණයට විරුද්ධ විය. මෙම සංගමය 1920- ප්‍රතිසංස්කරණය යටතේ පැවැත්වෙන මැතිවරණය වර්ජනය කිරීමටත් සැරසුණි. මේ වන විට ඉන්දියාවේ ඉංග්‍රීසි පාලනයට එරෙහිව ප්‍රබල උද්ඝෝෂණයක් සිදු වෙමින් පැවතුණි. ලංකාවේ ද එබඳු තත්වයක් ඇති වෙතැයි ඉංග්‍රීසීහු බිය වූහ. එබැවින් 1920 - ප්‍රතිසංස්කරණය පිළිගෙන කටයුතු කරන්නේ නම් ඉතා කෙටිකලකින් නැවත ප්‍රතිසංස්කරණයක් ලබා දෙන බවට මැනිං ආණ්ඩුකාරවරයා ලංකා ජාතික සංගමයට පොරොන්දු විය. 1924 - වර්ෂයේ දී නැවත වරක් ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණයක් ලබා දීම සිදු වූයේ එහි ප්‍රතිඵලයක් වශයෙනි. විලියම් මැනිං ආණ්ඩුකාරවරයාගේ නිර්දේශය මත යටත් විජිත භාර ලේකම් ඩෙවොන්ෂයර් විසින් සකස් කරන ලද මෙම ප්‍රතිසංස්කරණය මැනිං - ඩෙවොන්ෂයර් ප්‍රතිසංස්කරණය ලෙස හැඳින්වේ.

මැනිං - ඩෙවොන්ෂයර් ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණය යටතේ ව්‍යවස්ථාදායක සභා- වේ සාමාජික සංඛ්‍යාව 49 දක්වා වැඩි කෙරිණ. 12 දෙනෙකු නිල ලත් සාමාජිකයන් වූ අතර 37ක් නිල නොලත් සාමාජිකයෝ වූහ. නිල නොලත් සාමාජිකයන්ගෙන් 29 දෙනෙකු ඡන්ද බලයෙන් පත් කෙරුණ අතර අට දෙනෙකු ආණ්ඩුකාරවරයා නාමකරණයෙන් පත් කළේ ය. ඡන්ද බලයෙන් පත් කෙරුණ 29 දෙනාගෙන් 23 දෙනෙකු පළාත්බද ඡන්ද කොට්ඨාස ක්‍රමය යටතේ ද හය දෙනෙකු වාර්ගික නියෝජන ක්‍රමය යටතේ ද පත් කෙරිණ.

**මැනිං ඩෙවොන්ෂයර් ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණය -1924**



මෙම ප්‍රතිසංස්කරණය යටතේ නිල ලත් සාමාජිකයන් 12 දෙනා හා නාමකරණයෙන් පත් කළ 8 දෙනා එකතු වුවත්, ඡන්දයෙන් පත් වූ 29 දෙනාට වඩා එය සුළුතරයක් විය. එබැවින් ව්‍යවස්ථාදායක සභාව තුළ ආණ්ඩුකාරවරයාට පක්ෂපාත බහුතර ඡන්දයක් නොවී ය. මේ නිසා ආණ්ඩුක්‍රමය ක්‍රියාත්මක වීමේ දී ආණ්ඩුකාරවරයා අසීරු තත්වයකට පත් විය.

1920 – ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණයෙන් මෙන් ම 1924 – ප්‍රතිසංස්කරණය යටතේ ද ව්‍යවස්ථාදායකයට නියෝජිතයන් තේරීමේ දී ඡන්ද දායකයෙකු වීමට අවශ්‍ය සුදුසුකම් ගැන ලාංකිකයන් තුළ අප්‍රසාදයක් පැවතුණි. ඡන්ද දායකයෙකු වීමට කිසියම් භාෂාවක් ලිවීමට හෝ කියවීමට හැකි වීමත් දේපළ හෝ ආදායම් හිමිකාරිත්වයක් තිබීමත් අවශ්‍ය විය. එබැවින් මෙරට සිටි ඡන්ද දායකයන් සංඛ්‍යාව සීමා වී තිබුණි.

## 5.7 ඩොනමෝර් ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණය - 1931

මැනිං - ඩෙවොන්ෂයර් ආණ්ඩුක්‍රමය යටතේ ව්‍යවස්ථාදායක සභාවේ බහුතර ආසන සංඛ්‍යාවක් ලාංකිකයන්ට ලැබීම නිසා ආණ්ඩුකාරවරයාට උපායශීලීව කටයුතු කිරීමට සිදු විය. මෙම තත්වය මෙරට ආණ්ඩුකාරවරුන් විසින් යටත් විජිත භාර ලේකම්වරයාට දැනුම් දීම නිසා ලංකාවට පැමිණ තත්වය සොයා බලා අවශ්‍ය නිර්දේශ ඉදිරිපත් කිරීමට 1927 වර්ෂයේ දී ඩොනමෝර් කොමිසම් සභාව පත් කෙරිණ. ඩොනමෝර් සාමිවරයාගේ සභාපතිත්වයෙන් පත් වූ මෙම කොමිසම ලංකාවට පැමිණ ලාංකිකයන්ගේ සාක්ෂය ලබා ගෙන පුළුල් විමර්ශනයක් සිදු කොට තම නිර්දේශය ඉදිරිපත් කර ඇත. එම නිර්දේශය පදනම් කර ගත් ප්‍රතිසංස්කරණ 1931 සිට ක්‍රියාත්මක කෙරුණ අතර එය ඩොනමෝර් ආණ්ඩුක්‍රමය වශයෙන් හැඳින්වේ.

මීළඟට අපි ඩොනමෝර් ප්‍රතිසංස්කරණ යෝජනා කිහිපයක් වෙන් වෙන්ව ගෙන සලකා බලමු.

### රාජ්‍ය මන්ත්‍රණ සභාවක් පිහිටුවීම

ඩොනමෝර් ආණ්ඩුක්‍රමය යටතේ ක්‍රියාත්මක වූ ව්‍යවස්ථාදායක සභාව රාජ්‍ය මන්ත්‍රණ සභාව නමින් හැඳින්වී ය. එහි සාමාජිකයන් සංඛ්‍යාව 61කි. 50 දෙනෙකු ඡන්ද කොට්ඨාස අනුව මහජන ඡන්දයෙන් තෝරා ගත් අතර නියෝජනයක් නොලැබූ සුළු ජාතීන් වෙනුවෙන් ආණ්ඩුකාරවරයාගේ නාමකරණයෙන් අට දෙනෙකු පත් කෙරිණි. රාජ්‍ය නිලධාරීන් ලෙස හැඳින්වූ ඉතිරි තිදෙනා රාජ්‍ය ලේකම්, මුදල් ලේකම්, නීති ලේකම් වශයෙන් කටයුතු කළ අය වේ.

**ඩොනමෝර් ප්‍රතිසංස්කරණ යටතේ රාජ්‍ය මන්ත්‍රණ සභාව**

↓

61

- **පළාත්බද ඡන්ද කොට්ඨාසවලින්** 50
- **රාජ්‍ය නිලධාරින්** 03
  - **රාජ්‍ය ලේකම්**
  - **මුදල් ලේකම්**
  - **නීති ලේකම්**
- **ආණ්ඩුකාරවරයා නම් කළ** 08

රාජ්‍ය මන්ත්‍රණ සභාවේ මුලසුන හිමි වූයේ එහි සාමාජිකයන්ගේ ඡන්දයෙන් තෝරා ගත් කථානායකවරයාට ය. ඒ අනුව මෙහි ප්‍රථම කථානායක ධුරයට ඒ. එෆ්. මොලමුරේ මහතා පත් විය. රාජ්‍ය මන්ත්‍රණ සභාවේ නිල කාලය අවුරුදු පහකි.

## සර්වජන ඡන්ද බලය ප්‍රදානය කිරීම

1910 කෲව් - මැකලම් ප්‍රතිසංස්කරණයේ සිට ව්‍යවස්ථාදායක සභාවට මන්ත්‍රීන් තේරීමේ දී ඡන්ද බලය ක්‍රියාත්මක වුවත්, එය හිමි වූයේ ජනගහනයෙන් සීමිත පිරිසකට ය. ඡන්ද දායකයෙකු ලෙස සුදුසුකම් ලැබීමට කිසියම් ප්‍රමාණයක අධ්‍යාපන සුදුසුකමක් හා ධනයක් අවශ්‍ය විය. මේ නිසා සාමාන්‍ය ජනතාවට ඡන්ද බලය හිමි නොවූ අතර ඡන්ද දායක පිරිස ජනගහනයෙන් 4%ක් තරම් සුළු පිරිසකට සීමා විය. සාමාන්‍ය ජනතාව මේ ආකාරයෙන් දේශපාලන භූමියෙන් ඈත් කර තැබීම දේශපාලකයන්ගේ අවධානය ඔවුන් කෙරේ යොමු නොවීමට හේතු වී ඇතැයි ඩොනමෝර් කොමසාරිස්වරු පෙන්වා දුන්හ. එම නිසා සාමාන්‍ය ජනතාව දේශපාලන වශයෙන් සවිබල ගන්වා ඔවුන්ගේ ශුභසාධනය සඳහා දේශපාලනඥයන්ගේ අවධානය යොමු කරවීමට නම් සර්වජන ඡන්ද බලය ලබා දිය යුතු යයි කොමිසම නිර්දේශ කළේ ය. මේ අනුව වයස අවුරුදු 21ට වැඩි ස්ත්‍රී පුරුෂ දෙපක්ෂයට ම ඡන්ද බලය හිමි විය. මෙය පොදු ජනතාව ලද විශාල ජයග්‍රහණයක් ලෙස සැලකිය හැකි ය. මේ ආකාරයට කිසි දු භේදයකින් තොරව බ්‍රිතාන්‍ය යටත් විජිත අතරින් ඡන්ද බලය හිමි කර ගත් ප්‍රථම ආසියාතික රට බවට ශ්‍රී ලංකාව පත් විය.

## විධායක කාරක සභා පිහිටුවීම

රාජ්‍ය මන්ත්‍රණ සභාව ව්‍යවස්ථාදායක හා විධායක කටයුතු කරන මණ්ඩලයක් ලෙස ක්‍රියාත්මක විය. එයට පවරා දුන් ව්‍යවස්ථාදායක කටයුතු එම මණ්ඩලය සමස්තයක් ලෙස රැස්ව ක්‍රියාවට නැංවී ය. විධායක කටයුතු සඳහා රාජ්‍ය මන්ත්‍රණ සභාව කාරක සභා හතකට බෙදා තිබුණි. මේ අනුව මහ මැතිවරණයකින් පසුව රාජ්‍ය මන්ත්‍රණ සභාවට තේරී පත් වන මන්ත්‍රීන් 61 දෙනාගෙන් කථානායකවරයා සහ රාජ්‍ය නිලධාරීන් තිදෙනා හැර ඉතිරි 57 දෙනා කාරක සභා හතකට බෙදිණි. එම කාරක සභා හත පහත සඳහන් වේ.

- ❖ ස්වදේශ කටයුතු පිළිබඳ කාරක සභාව
- ❖ කෘෂිකර්ම හා ඉඩම් පිළිබඳ කාරක සභාව
- ❖ පළාත් පාලනය පිළිබඳ කාරක සභාව
- ❖ සෞඛ්‍ය පිළිබඳ කාරක සභාව
- ❖ අධ්‍යාපනය පිළිබඳ කාරක සභාව
- ❖ කම්කරු කර්මාන්තය හා වෙළෙඳාම පිළිබඳ කාරක සභාව
- ❖ ගමනාගමනය හා පොදු වැඩ කටයුතු පිළිබඳ කාරක සභාව

සෑම කාරක සභාවක් ම වෙන් වෙන්ව රැස් වී ඒ ඒ කාරක සභාවේ සභාපතිවරයා පත් කර ගත යුතු විය. සභාපතිවරු ඒ ඒ විෂය ක්ෂේත්‍රය භාර අමාත්‍යවරුන් ලෙස පත් වූහ.

මෙම සභාපතිවරුන් හත් දෙනා මෙන් ම රාජ්‍ය නිලධාරීන් තිදෙනා ද ඇමතිවරුන් ලෙස සැලකිණ.

ඩොනමෝර් ආණ්ඩුක්‍රමය යටතේ ක්‍රියාත්මක වූ විධායක කාරක සභා නිසා ලාංකික දේශපාලනඥයන්ට පාලනය පිළිබඳ පුහුණුවක් ලබා ගැනීමේ අවස්ථාව හිමි වූ අතර පාර්ලිමේන්තු ආණ්ඩුක්‍රමයක් කරා යන ගමනේ දී එය වැදගත් සන්ධිස්ථානයක් විය.

## ආණ්ඩුකාරවරයා හා රාජ්‍ය නිලධාරීන් තිදෙනා

මෙතෙක් ක්‍රියාත්මක වූ ආණ්ඩුක්‍රමයන්ට සාපේක්ෂව ඩොනමෝර් ආණ්ඩුක්‍රමය යටතේ ආණ්ඩුකාරවරයාගේ බලය බොහෝ දුරට අඩු කර තිබුණි. ආණ්ඩුවේ සියලු වගකීම් තවදුරටත් ආණ්ඩුකාරවරයාට පැවරීමට බලාපොරොත්තු නොවූ ඩොනමෝර් කොමසාරිස්වරු ඉන් කොටසක් ලාංකිකයන් වෙත පැවරීමට අපේක්ෂා කළහ. ඒ අනුව රාජ්‍ය මන්ත්‍රණ සභාව සම්මත කරන පනත්වලට අවසාන අනුමැතිය දීම, රාජ්‍ය සේවයේ නිලධාරීන් පත් කිරීම, බ්‍රිතාන්‍ය අධිරාජ්‍යය සම්බන්ධයෙන් බලපාන ක්‍රියා පිළිබඳ තීරණ ගැනීම ආදි බලතල ආණ්ඩුකාරවරයාට පැවරුණි.

මෙම ආණ්ඩුක්‍රමය යටතේ ආරක්ෂාව, මුදල් කටයුතු නීති වැනි වැදගත් අංශ පිළිවෙළින් රාජ්‍ය ලේකම්, මුදල් ලේකම්, නීති ලේකම් යන රාජ්‍ය නිලධාරීන් තිදෙනා යටතේ පැවතිණ.

### වාර්ගික නියෝජනය අහෝසි කිරීම

ව්‍යවස්ථාදායකයට නියෝජිතයන් තෝරා ගැනීමේ දී 1833 වර්ෂයේ සිට බ්‍රිතාන්‍යයන් විසින් වාර්ගික නියෝජන ක්‍රමය ක්‍රියාත්මක කරන ලදි. මෙය ලංකාවේ විවිධ ජනවර්ග අතර භේද ඇති වීමට තුඩු දුන් නියෝජන ක්‍රමයකි. මේ නිසා වාර්ගික නියෝජන ක්‍රමය අහෝසි කළ යුතු යැයි 1931 වර්ෂය දක්වා ම ලාංකිකයෝ හඬ නැගූහ. ඩොනමෝර් ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණයෙන් වාර්ගික නියෝජන ක්‍රමය අහෝසි කොට ප්‍රාදේශීය නියෝජනය ශක්තිමත් කිරීම අගය කළ යුතු කරුණකි.

## 5.8 සෝල්බරි ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණය - 1947

### සෝල්බරි කොමිසම පත් කිරීම



5.2 රූපය - සෝල්බරි සාමි

ඩොනමෝර් ආණ්ඩුක්‍රමය යටතේ පිහිටුවූ අමාත්‍යාංශ දහයෙන් හතක බලතල ලාංකිකයන්ට ලැබුණු නමුත් රාජ්‍ය නිලධාරීන් තිදෙනාට වැදගත් අමාත්‍යාංශ තුනක් පවරා දී තිබීමත්, ආණ්ඩුකාරවරයාට පවරා තිබූ බලතල ආදියත් ගැන මෙරට දේශපාලනඥයෝ සතුටු නොවූහ. මේ නිසා ඩොනමෝර් ආණ්ඩුක්‍රමය ක්‍රියාත්මක කළ කාලයේ ම එම ආණ්ඩුක්‍රමය සංශෝධනය කොට නව ආණ්ඩුක්‍රමයක් ලබා ගැනීමේ උද්ඝෝෂණයක් ඇරඹිණ. එම උද්ඝෝෂණවල මූලික අරමුණු කිහිපයක් මෙසේ ය.

- රාජ්‍ය නිලධාරීන්ට පවරා තිබූ අමාත්‍යාංශ ලාංකිකයන්ට ලබා ගැනීම
- ලාංකික අමාත්‍යවරුන්ට පවරා තිබූ බලතල පුළුල් කර ගැනීම
- විධායක කාරක සභා ක්‍රමය වෙනුවට කැබිනට් ක්‍රමයක් ලබා ගැනීම

මෙම උද්ඝෝෂණවල දී ඇමති මණ්ඩලයත්, රාජ්‍ය මන්ත්‍රණ සභාවේ මහජන නියෝජිතවරුත් ප්‍රමුඛත්වය ගෙන කටයුතු කළහ. ලංකා ජාතික සංගමය වැනි සංවිධාන ඇමති මණ්ඩලයට සහාය ලබා දුණි.

1939 වර්ෂයේ දී දෙවන ලෝක සංග්‍රාමය ආරම්භ වීම නිසා ලෝක යුද්ධයේ දී බ්‍රිතාන්‍යයන්ට ලාංකිකයන්ගේ සහයෝගය අවශ්‍ය විය. ලෝක සංග්‍රාමයේ දී ජර්මනියට එරෙහිව සටන් වැදුණු රටවල් අතර බ්‍රිතාන්‍යය කැපී පෙනන සේවයක් ඉටු කළේ ය. මෙම දුෂ්කර අවස්ථාවේ දී ඇමති මණ්ඩලය මෙරට සහය බ්‍රිතාන්‍යයන්ට ලබාදීමට ඉදිරිපත් වූ අතර යුද්ධය නිම වීමෙන් පසුව ලාංකිකයන්ට වැඩි බලතල ලැබෙන ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණයක් ලබා ගැනීම ඔවුන්ගේ අරමුණ විය. යුද්ධ සමයේ දී මෙරට ඇමතිවරුන්ට ද ආණ්ඩුකාරවරයා ඇතුළු බ්‍රිතාන්‍යය නිලධාරීන් සමග සමීපව, සහයෝගයෙන් කටයුතු කිරීමට අවස්ථාව ලැබුණි. මේ නිසා ලාංකිකයන්ගේ දේශපාලන ඉල්ලීම් පිළිබඳව බ්‍රිතාන්‍ය නිලධාරීන් තුළ ද නම්‍යශීලී ආකල්පයක් ඇති වූ බව පෙනේ.

ශ්‍රී ලංකාවේ ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණ පිළිබඳ බ්‍රිතාන්‍ය ආණ්ඩුවේ ප්‍රතිපත්තිය පැහැදිලි කෙරෙන ප්‍රකාශයක් 1943 වර්ෂයේ මැයි මාසයේ දී මෙරට ආණ්ඩුකාරවරයා විසින් නිකුත් කරන ලදි. ඒ අනුව රටේ අභ්‍යන්තර කටයුතු පිළිබඳ වගකීම ලාංකිකයන්ට පැවරෙන ප්‍රතිසංස්කරණයක් ලබාදීමට බ්‍රිතාන්‍ය කටයුතු කරන බව ප්‍රකාශ විය. එම ප්‍රකාශයට අනුව සුදුසු ව්‍යවස්ථා කෙටුම්පතක් පිළියෙල කිරීමේ බලය ඇමති මණ්ඩලයට පැවරිණ. ව්‍යවස්ථා කෙටුම්පත පිළියෙල කිරීමේ දී ආණ්ඩුක්‍රම ව්‍යවස්ථා පිළිබඳ විශේෂඥයෙකු වූ ශ්‍රීමත් අයිවර් ජෙනිංග්ස් මහතාගේ සහාය ලබා ගැනීමට ඇමතිවරු කටයුතු කළහ.

ඇමති මණ්ඩලයේ කෙටුම්පත 1944 වර්ෂයේ පෙබරවාරි මාසයේ දී සකස් කොට අවසන් විය. ඇමති මණ්ඩලයේ ව්‍යවස්ථා කෙටුම්පත පරීක්ෂා කොට මෙරට සුළු ජාතීන් ඇතුළු විවිධ කණ්ඩායම් සමග සාකච්ඡා කොට බ්‍රිතාන්‍ය ආණ්ඩුවට වාර්තාවක් ඉදිරිපත් කිරීම සඳහා 1944 වර්ෂයේ ජූලි මස බ්‍රිතාන්‍ය ආණ්ඩුව විසින් විශේෂ කොමිසන් සභාවක් පත් කරන ලදි. සෝල්බරි සාමිවරයාගේ ප්‍රධානත්වයෙන් යුතු එම කොමිසම සෝල්බරි කොමිසම ලෙස හැඳින්වේ.

1944 වර්ෂයේ දෙසැම්බර් මාසයේ දී සෝල්බරි කොමිසම මෙරටට පැමිණ කරුණු සොයා බලා 1945 දී කොමිසමේ වාර්තාව නිකුත් කළේ ය. එම වාර්තාව පදනම් කරගෙන සැකසුණු ආණ්ඩුක්‍රමය 1947 වර්ෂයේ සිට මෙරට ක්‍රියාත්මක විය. එය සෝල්බරි ආණ්ඩුක්‍රමය ලෙස හැඳින්වේ.

සෝල්බරි ආණ්ඩුක්‍රමයේ ප්‍රධාන ලක්ෂණ

- ❖ ආණ්ඩුකාර ධුරය අහෝසි කොට ආග්‍රාණ්ඩුකාර ධුරයක් ස්ථාපිත කිරීම.
- ❖ ද්වීමණ්ඩල පාර්ලිමේන්තුවක් පිහිටුවීම.
  (මහජන මන්ත්‍රී මණ්ඩලය හා සෙනෙට් සභාව)
- ❖ අගමැති ප්‍රධාන කැබිනට් මණ්ඩලයක් ඇති කිරීම
- ❖ රාජ්‍ය සේවා කොමිසම හා අධිකරණ සේවා කොමිසම පිහිටුවීම

### අග්‍රාණ්ඩුකාරවරයා



**5.3 රූපය - හෙන්රි මන්ක් මේසන් මුවර්**

සෝල්බරි ආණ්ඩුක්‍රමය යටතේ මෙතෙක් පැවති ආණ්ඩුකාරධුරය අහෝසි කෙරිණ. මෙම ආණ්ඩුක්‍රමය යටතේ ද බ්‍රිතාන්‍ය රැජින ලංකාවේ නායිකාව ලෙස පිළිගත් නිසා ඇය නියෝජනය කිරීමට අග්‍රාණ්ඩුකාර තනතුරක් හඳුන්වා දුන්නේ ය. බ්‍රිතාන්‍ය රැජින විසින් අග්‍රාණ්ඩුකාරවරයා පත් කරන ලදි. ඔහුට ව්‍යවස්ථාදායක, විධායක, අධිකරණ අංශයන්හි බලතල රැසක් හිමි වුවත් අගමැතිගේ උපදෙස් මත අග්‍රාණ්ඩුකාරවරයා කටයුතු කළ යුතු වූ හෙයින් තනතුර නාමමාත්‍ර විධායක තනතුරක් බවට පත් විය. එවකට ආණ්ඩුකාර තනතුර දැරූ සර් හෙන්රි මන්ක් මේසන් මුවර් මෙරට ප්‍රථම අග්‍රාණ්ඩුකාරවරයා වශයෙන් ද කටයුතු කළේ ය.

### පාර්ලිමේන්තුව

සෝල්බරි ආණ්ඩුක්‍රමයට අනුව ව්‍යවස්ථාදායකය හෙවත් නීති සම්පාදනය කළ ආයතනය පාර්ලිමේන්තුව නමින් හඳුන්වනු ලැබී ය. පාර්ලිමේන්තුව මහජන මන්ත්‍රී මණ්ඩලය හා සෙනෙට් මන්ත්‍රී මණ්ඩලය යන මණ්ඩල දෙකකින් සමන්විත වූ බැවින් එය ද්විමාණ්ඩලික පාර්ලිමේන්තුවක් ලෙස හැඳින්වේ.



**5.4 රූපය - පැරණි පාර්ලිමේන්තුව**

මහජන මන්ත්‍රී මණ්ඩලය පාර්ලිමේන්තුවේ පළමුවන මණ්ඩලය වූ අතර එයට මන්ත්‍රීවරුන් 101 දෙනෙක් අයත් වූහ. එයින් 95ක් ඡන්ද කොට්ඨාස පදනම යටතේ මහජන ඡන්දයෙන් තෝරා ගන්නා ලදි. ඉතිරි හය දෙනා නියෝජනයක් නොලැබූ සුළු ජාතීන් වෙනුවෙන් අගමැතිගේ උපදෙස් පිට අග්‍රාණ්ඩුකාරවරයා විසින් පත් කරන ලදි. පාර්ලිමේන්තුවේ නිල කාලය වසර පහකි.

පාර්ලිමේන්තුවේ දෙවන මණ්ඩලය සෙනෙට් මන්ත්‍රී මණ්ඩලය හෙවත් උත්තර මන්ත්‍රී මණ්ඩලය ලෙස හැඳින්විණ. මෙම මණ්ඩලය සාමාජිකයන් 30කින් යුක්ත විය. 15ක් අගමැතිගේ උපදෙස් පිට අග්‍රාණ්ඩුකාරවරයා විසින් පත් කරන ලදි. ඉතිරි 15 දෙනා පත් කර ගන්නා ලද්දේ මහජන මන්ත්‍රී මණ්ඩලයේ ඡන්දයෙනි. සෙනෙට් සභාවේ නිල කාලය වසර හයකි.

## අගමැති ප්‍රමුඛ කැබිනට් මණ්ඩලය



5.5 රූපය - ප්‍රථම කැබිනට් මණ්ඩලය

සෝල්බරි ආණ්ඩුක්‍රමය යටතේ විධායක බලය හෙවත් නීති ක්‍රියාත්මක කිරීමේ බලය අගමැති ප්‍රමුඛ කැබිනට් මණ්ඩලයට හිමි විය. කැබිනට් මණ්ඩලයේ නායකත්වය අගමැතිවරයාට ලැබුණි. අග්‍රාණ්ඩුකාරවරයා විසින් මහජන මන්ත්‍රී මණ්ඩලයේ බහුතර විශ්වාසය දිනා ගත් පුද්ගලයා අගමැති තනතුරට පත් කරනු ලැබී ය. අගමැතිවරයාගේ නිර්දේශය පිට අග්‍රාණ්ඩුකාරවරයා විසින් කැබිනට් මණ්ඩලය පත් කරන ලදි. මහජන මන්ත්‍රී මණ්ඩලයේ, ආණ්ඩු පක්ෂයේ මන්ත්‍රීවරුන් හා සෙනෙට් මණ්ඩලයේ මන්ත්‍රීවරුන් අතුරින් කැබිනට් මණ්ඩලය තෝරා ගැනුණි. සෙනෙට් මන්ත්‍රී මණ්ඩලයෙන් දෙදෙනෙකු කැබිනට් මණ්ඩලයට පත් කළ යුතු බව හා ඉන් එක් අයෙකු අධිකරණ ඇමතිවරයා විය යුතු බව සෝල්බරි ව්‍යවස්ථාවේ සඳහන් විය. අධිකරණයේ ස්වාධීනත්වය ආරක්ෂා කිරීම ඉන් අපේක්ෂා කළේ ය. ආණ්ඩුව ගනු ලබන තීරණ සම්බන්ධයෙන් පාර්ලිමේන්තුවට සාමූහිකව ම වගකීම, කැබිනට් මණ්ඩලයේ ප්‍රධාන ලක්ෂණයක් විය.



5.6 රූපය - ඩී. එස්. සේනානායක මහතා

### රාජ්‍ය සේවා කොමිසම

සෝල්බරි ව්‍යවස්ථාව යටතේ නීතිපති, විගණකාධිපති, ස්ථිර ලේකම් වැනි රජයේ ඉහළ නිලධාරීන් පත් කිරීම අගමැතිගේ උපදෙස් පිට අග්‍රාණ්ඩුකාරවරයා විසින් සිදු කරන ලදි. ඊට අමතරව පහළ රාජ්‍ය සේවකයන් පත් කිරීම, ඉවත් කිරීම, විනයානුකූල පාලනය ආදිය සඳහා රාජ්‍ය සේවා කොමිසම් සභාවක් පත් කෙරිණ. රාජ්‍ය සේවා කොමිසම සාමාජිකයන් තිදෙනෙකුගෙන් සමන්විත විය.

### අධිකරණ සේවා කොමිසම

සෝල්බරි ව්‍යවස්ථාව යටතේ අග්‍රවිනිශ්චයකාරවරයා හා ඉහළ අධිකරණය වූ ශ්‍රේෂ්ඨාධිකරණයේ විනිශ්චයකාරවරුන් පත් කිරීම අගමැතිගේ උපදෙස් පිට අග්‍රාණ්ඩුකාරවරයා විසින් සිදු කරන ලදි. අනෙක් පහළ අධිකරණවල විනිශ්චයකාරවරුන් පත් කිරීම, ඉවත් කිරීම, විනයානුකූල පාලනය සඳහා අධිකරණ සේවා කොමිසම් සභාව පත් කර තිබුණි. මෙය අග්‍රවිනිශ්චයකාරවරයා හා තවත් විනිශ්චයකාරවරුන් දෙදෙනෙකුගෙන් යුක්ත විය.



**ක්‍රියාකාරකම**

පහත සඳහන් කරුණු ඇසුරින් බ්‍රිතාන්‍යයන් යටතේ සිදු වූ ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණ පිළිබඳ තොරතුරු ඇතුළත් පිටු පෙරළනයක් සකස් කරන්න.

1. බ්‍රිතාන්‍යයන් යටතේ සිදු වූ ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණ
2. ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණයට ඇතුළත් වැදගත් යෝජනා
3. ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණවල යහපත් අයහපත් ලක්ෂණ

# 06 නිදහසින් පසු ශ්‍රී ලංකාව



## හැඳින්වීම

1948 වර්ෂයේ දී ශ්‍රී ලංකාවට නිදහස ලැබීමත් සමග පාර්ලිමේන්තු ප්‍රජාතන්ත්‍රවාදී ආණ්ඩුක්‍රමයක් මෙරටට ලැබුණි. එතෙක් ක්‍රියාත්මක වූ සෝල්බරි ආණ්ඩුක්‍රමය වෙනුවට 1972 වර්ෂයේ දී ජනරජ ව්‍යවස්ථාවක් හඳුන්වාදීමත්, 1978 දී විධායක ජනාධිපති ක්‍රමය සහිත නව ව්‍යවස්ථාවක් ක්‍රියාත්මක කිරීමත් මෙරට ඉතිහාසයේ වැදගත් සන්ධිස්ථාන වේ. නිදහසින් පසුව ගෙවුණු දශක තුනක පමණ කාලයේ දී බලයට පත් වූ ආණ්ඩු හා එම ආණ්ඩුවල ප්‍රතිපත්ති පිළිබඳව මෙන් ම දිවයිනේ සංවර්ධන ක්ෂේත්‍රයේ කැපී පෙනෙන අංශ කිහිපයක් පිළිබඳව ද මෙම පරිච්ඡේදයේ දී අවධානය යොමු කෙරේ. එසේ ම 1972 හා 1978 වසරවල හඳුන්වා දුන් නව ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවල මූලික ලක්ෂණ කෙරෙහි ද මෙහි දී අවධානය යොමු කර ඇත.

## 6.1 1947 මහ මැතිවරණය හා නිදහස ලැබීම

සෝල්බරි ව්‍යවස්ථාව යටතේ පිහිටුවූ පාර්ලිමේන්තුව සඳහා මන්ත්‍රීවරුන් 95 දෙනෙකු තෝරා ගැනීමේ මැතිවරණය 1947 වර්ෂයේ අගෝස්තු මාසයේ දී පැවැත්විණ. එය ශ්‍රී ලංකාවේ පැවති ප්‍රථම පාර්ලිමේන්තු මැතිවරණය වේ. මෙම මැතිවරණයට මුහුණ දීම සඳහා ඩී. එස්. සේනානායක මහතා විසින් එක්සත් ජාතික පක්ෂය පිහිටුවන ලදි. ඉහත මැතිවරණයෙන් පාර්ලිමේන්තුවේ ආසන 42ක් දිනා ගැනීමට එක්සත් ජාතික පක්ෂය සමත් විය. එක්සත් ජාතික පක්ෂය හැරුණු විට වැඩි ම ආසන සංඛ්‍යාවක් දිනා ගන්නා ලද්දේ ලංකා සමසමාජ පක්ෂය විසිනි. එම ආසන සංඛ්‍යාව 10කි. සෙසු සියලු පක්ෂ ආසන 22 දිනා ගත් අතර ස්වාධීනව මැතිවරණයට ඉදිරිපත් වූ අපේක්ෂකයන් 21 දෙනෙකු මැතිවරණයෙන් ජය ගැනීම ද කැපී පෙනෙන ලක්ෂණයකි. වැඩි ම ආසන සංඛ්‍යාවක් දිනා ගත් එක්සත් ජාතික පක්ෂයේ නායක ඩී. එස්. සේනානායක මහතා ස්වාධීන අපේක්ෂකයන් කිහිප දෙනෙකුගේ ද සහාය ලබා ගෙන ආණ්ඩුවක් පිහිටුවී ය. ඒ අනුව ඩී. එස්. සේනානායක මහතා මෙරට ප්‍රථම අගමැතිවරයා බවට පත් විය.

ඩී. එස්. සේනානායක මහතා 1947 වර්ෂයේ මැතිවරණයටත් පෙර මෙරටට නිදහස ලබා ගැනීම පිළිබඳව බ්‍රිතාන්‍ය රජය සමග සාකච්ඡා ආරම්භ කර තිබුණි. මේ වන විට ඉංග්‍රීසීහු ඉන්දියාවට නිදහස ලබා දීමට සූදානම්ව සිටියහ. දෙවන ලෝක යුද්ධය පැවති දුෂ්කර අවස්ථාවේ දී බ්‍රිතාන්‍යයට සහාය දුන් රටක් වශයෙන් ලංකාවට ද නිදහස ලබා ගැනීමට අයිතියක් ඇති බව සේනානායක මහතාගේ නියෝජිතයෝ බ්‍රිතාන්‍යයන්ට පැහැදිලි කළහ. ලාංකිකයන් ඉදිරිපත් කළ තර්කවල සාධාරණත්වය පිළිගත් ඉංග්‍රීසීහු 1947 වර්ෂයේ මැතිවරණයෙන් පසුව මෙරටට නිදහස ලබාදීම පිළිබඳ කටයුතු කෙරෙන බව මැතිවරණයට පෙර ම ප්‍රකාශයට පත් කළහ. 1947 වර්ෂයේ මැතිවරණයෙන් එක්සත් ජාතික පක්ෂය ජයග්‍රහණය කොට ඩී. එස්. සේනානායක මහතා අගමැති තනතුරට පත් වීම බ්‍රිතාන්‍යයන්ගේ ද සතුටට හේතුවක් විය. නව අගමැති වශයෙන් ඩී. එස්. සේනානායක මහතා බ්‍රිතාන්‍ය සමග ආරක්ෂක කටයුතු ගිවිසුමක් ඇති කර ගන්නා ලදි. එම ගිවිසුම අනුව ලංකාවේ ආරක්ෂාව වෙනුවෙන් බ්‍රිතාන්‍යයන් කටයුතු කිරීමට එකඟ වූ අතර අවශ්‍ය අවස්ථාවක ලංකාවේ වරාය, ගුවන්තොට ඇතුළු ස්ථාන බ්‍රිතාන්‍යයන්ගේ යුද්ධ කටයුතු සඳහා භාවිත කිරීමට ද ඉඩ ලැබුණි. එම ගිවිසුම් අත්සන් කිරීමෙන් පසු ලංකාවට නිදහස ලබා ගැනීම පිළිබඳ විධි විධාන ඇතුළත් ලංකා ස්වාධීන පනත 1947 වර්ෂයේ නොවැම්බර් මාසයේ දී බ්‍රිතාන්‍ය පාර්ලිමේන්තුව විසින් සම්මත කරන ලදි. රජුගේ නියමය පරිදි 1948 වර්ෂයේ පෙබරවාරි 4 වන දින සිට එම පනත ක්‍රියාත්මක විය. ඒ සමග ම ශ්‍රී ලංකාවට නැවත වරක් නිදහස ලැබුණි.

## 6.2 නිදහසින් පසු ශ්‍රී ලංකාවේ පැවැත්වූ මහමැතිවරණ හා බලයට පත් ආණ්ඩුවල වැඩපිළිවෙළ

### 1952 මහ මැතිවරණය

නිදහස් ලංකාවේ පළමු අගමැතිවරයා වූ ඩී. එස්. සේනානායක මහතා 1952 වර්ෂයේ මාර්තු මාසයේ දී අභාවප්‍රාප්ත විය. පුරප්පාඩු වූ අගමැති තනතුර සඳහා අග්‍රාණ්ඩුකාරවරයා විසින් ඩී. එස්. සේනානායක මහතාගේ පුත් ඩඩ්ලි සේනානායක මහතා පත් කරන ලදි. මේ වන විට එස්. ඩබ්ලිව්. ආර්. ඩී. බණ්ඩාරනායක මහතා එක්සත් ජාතික පක්ෂයෙන් ඉවත්ව ශ්‍රී ලංකා නිදහස් පක්ෂය නමින් අලුත් දේශපාලන පක්ෂයක් පිහිටුවාගෙන තිබුණි. ඩඩ්ලි සේනානායක මහතාගේ උපදෙස් මත අග්‍රාණ්ඩුකාරවරයා නියමිත කාලයට පෙර පාර්ලිමේන්තුව විසුරුවා හැරීම නිසා 1952 වර්ෂයේ මැතිවරණයට අවස්ථාව උදා විය.

### 1952 මැතිවරණයේ ප්‍රතිඵල

| | | |
|---|---|---|
| ❖ | ඡන්දයෙන් තෝරා ගැනීමට නියමිත ආසන සංඛ්‍යාව | - 95 |
| ❖ | එක්සත් ජාතික පක්ෂය ජය ගත් ආසන සංඛ්‍යාව | - 54 |
| ❖ | ශ්‍රී ලංකා නිදහස් පක්ෂය ජයගත් ආසන සංඛ්‍යාව | - 09 |
| ❖ | සෙසු පක්ෂ හා ස්වාධීන කණ්ඩායම් ජයගත් ආසන සංඛ්‍යාව | - 32 |

1952 මැතිවරණයෙන් බහුතර ආසන සංඛ්‍යාවක් ලබා ගත් එක්සත් ජාතික පක්ෂය ආණ්ඩුවක් පිහිටුවූ අතර එහි නායකත්වය දැරූ ඩඩ්ලි සේනානායක මහතා අගමැති තනතුරට පත් විය.



**6.1 රූපය - හර්තාලය අවස්ථාවේ පැවති මහජන රැස්වීමක්**

1952 - 1956 කාලයේ මෙරට දේශපාලන ක්ෂේත්‍රයේ කැපී පෙනෙන ලක්ෂණ කිහිපයක් පහත දැක්වේ.

- ❖ සහල් ඇතුළු ආහාර ද්‍රව්‍යවල මිල ඉහළ යාම නිසා 1953 වර්ෂයේ දී ඩඩ්ලි සේනානායක මහතාගේ රජයට විරුද්ධව හර්තාල් ව්‍යාපාරයක් ආරම්භ වීම
- ❖ වාමාංශික පක්ෂවල හා වෘත්තීය සංගම්වල සහයෝගයෙන් මෙම හර්තාල් ව්‍යාපාරය ක්‍රියාත්මක වීම
- ❖ හර්තාල් ව්‍යාපාරයේ ප්‍රතිඵලයක් ලෙස ඩඩ්ලි සේනානායක මහතා අගමැති තනතුරෙන් ඉල්ලා අස්වීම හා එම තනතුරට පක්ෂයේ ජ්‍යෙෂ්ඨයෙකු වූ සර් ජෝන් කොතලාවල මහතා පත්වීම
- ❖ සර් ජෝන් කොතලාවල මහතාගේ පාලන සමයේ එනම් 1955 වර්ෂයේ දී ශ්‍රී ලංකාවට එක්සත් ජාතීන්ගේ සංවිධානයේ සාමාජිකත්වය ලැබීම
- ❖ නියමිත කාලයට පෙර ආණ්ඩුව විසුරුවා හැරීම
- ❖ ඒ අනුව 1956 වර්ෂයේ දී මැතිවරණයක් පැවැත්වීම



**6.2 රූපය - එස්. ඩබ්ලිව්. ආර්. ඩී. බණ්ඩාරනායක මහතා**

### 1956 මහ මැතිවරණය හා නව ආණ්ඩුව

1956 මැතිවරණයට එක්සත් ජාතික පක්ෂය තනි පක්ෂයක් වශයෙන් තරග කළ අතර ශ්‍රී ලංකා නිදහස් පක්ෂය විප්ලවකාරී සමසමාජ පක්ෂය, භාෂා පෙරමුණ වැනි පක්ෂ කිහිපයක් හා අයි. එම්. ආර්. ඒ. ඊරියගොල්ල මහතාගේ නායකත්වයෙන් යුතු ස්වාධීන අපේක්ෂකයන් පිරිසකගේ සහාය ලබා ගෙන මහජන එක්සත් පෙරමුණ වශයෙන් මැතිවරණයට ඉදිරිපත්වීම විශේෂ ලක්ෂණයකි. මේ වන විට සඟ, වෙද, ගුරු, ගොවි, කම්කරු යන පංචමහා බලවේගයන්හි සහාය ද එම පෙරමුණට ලැබුණි.

**1956 මැතිවරණයේ ප්‍රතිඵල**

- ඡන්දයෙන් තෝරා ගැනීමට නියමිත ආසන සංඛ්‍යාව - 95
- මහජන එක්සත් පෙරමුණ ජයගත් ආසන සංඛ්‍යාව - 51
- එක්සත් ජාතික පක්ෂය ජයගත් ආසන සංඛ්‍යාව - 08
- සෙසු පක්ෂ හා ස්වාධීන කණ්ඩායම් ජයගත් ආසන - 36

මැතිවරණයෙන් ජයගත් මහජන එක්සත් පෙරමුණ ආණ්ඩුවක් පිහිටුවූ අතර එහි නායකත්වය දැරූ එස්. ඩබ්ලිව්. ආර්. ඩී. බණ්ඩාරනායක මහතා අගමැති තනතුරට පත් විය.

1956 වර්ෂයේ මැතිවරණයෙන් පිහිටවූ ආණ්ඩුවේ වැඩපිළිවෙළ

- දේශීය කර්මාන්ත හා ගොවිතැන් කටයුතු දියුණු කිරීමට පියවර ගැනීම
- වරාය හා බස් ජන සතු ව්‍යාපාර ඇතුළු ජනසතු ව්‍යාපාර ආරම්භ කිරීම
- සිංහල භාෂාව රාජ්‍ය භාෂාව බවට පත් කිරීම.

1959 වර්ෂයේ දී සාහසිකයෙකුගේ වෙඩි පහරින් අගමැති බණ්ඩාරනායක මහතා ඝාතනය වීම නිසා පුරප්පාඩු වූ අගමැති තනතුරට විජයානන්ද දහනායක මහතා පත් කෙරුණි. එහෙත් වැඩි කල් යාමට පෙර ආණ්ඩුව අභ්‍යන්තරයේ ඇති වූ ආරවුල් නිසා රජය විසුරුවා හැරීමට සිදු විය. එහි ප්‍රතිඵලයක් වශයෙන් 1960 වර්ෂයේ මාර්තු මාසයේ දී නැවත මැතිවරණයක් පැවැත්විණි.

### 1960 මාර්තු මැතිවරණය

1960 වන විට පාර්ලිමේන්තුවේ ඡන්දයෙන් තේරී පත් වන ආසන ගණන 151ක් විය යුතු යැයි මැතිවරණ කොට්ඨාස බෙදා වෙන් කරනු ලබන සීමා නිර්ණ කොමිසම

තීරණය කර තිබුණි. 1956 වර්ෂයේ මැතිවරණයේ දී මහජන එක්සත් පෙරමුණ ලෙස සංවිධානය වී සිටි පක්ෂ මේ වන විට තනි තනිව මැතිවරණයට ඉදිරිපත් වීම ද කැපී පෙනෙන ලක්ෂණයක් විය.

### 1960 මාර්තු මැතිවරණයේ ප්‍රතිඵල

| | |
|---|---|
| ❖ ඡන්දයෙන් තෝරා ගැනීමට නියමිත ආසන සංඛ්‍යාව | - 151 |
| ❖ එක්සත් ජාතික පක්ෂය ජයගත් ආසන සංඛ්‍යාව | - 50 |
| ❖ ශ්‍රී ලංකා නිදහස් පක්ෂය ජයගත් ආසන සංඛ්‍යාව | - 46 |
| ❖ සෙසු පක්ෂ හා ස්වාධීන කණ්ඩායම් ජයගත් ආසන සංඛ්‍යාව | - 55 |

ඉහත සටහනට අනුව මෙම මැතිවරණයේ දී කිසි දු පක්ෂයකට බහුතර ආසන සංඛ්‍යාවක් දිනා ගැනීමට නොහැකි වුවත් එක්සත් ජාතික පක්ෂය කුඩා පක්ෂ ගණනාවක් එකතු කර ගනිමින් ආණ්ඩුවක් පිහිටුවී ය. එහෙත් පාර්ලිමේන්තුවට ඉදිරිපත් කරන ලද ප්‍රථම රාජාසන කථාව පරාජයට පත් වීම නිසා ආණ්ඩුව විසුරුවා හැරීමට සිදු වූ අතර 1960 ජූලි මාසයේ දී නැවත මැතිවරණයක් පැවැත්වීමට සිදු විය.

## 1960 ජූලි මැතිවරණය හා ආණ්ඩුව

1960 ජූලි මැතිවරණය වන විට ශ්‍රී ලංකා නිදහස් පක්ෂයේ නායිකාව වශයෙන් සිරිමාවෝ බණ්ඩාරනායක මැතිණිය පත්ව සිටියා ය. ලංකා සමසමාජ පක්ෂය හා කොමියුනිස්ට් පක්ෂය සමග නිතරග ගිවිසුමකට එළඹ ශ්‍රී ලංකා නිදහස් පක්ෂය මැතිවරණයට ඉදිරිපත් වීම කැපී පෙනෙන ලක්ෂණයකි.

### 1960 ජූලි මැතිවරණ ප්‍රතිඵල

| | |
|---|---|
| ❖ ඡන්දයෙන් තෝරා ගැනීමට නියමිත ආසන සංඛ්‍යාව | - 151 |
| ❖ ශ්‍රී ලංකා නිදහස් පක්ෂය ජයගත් ආසන සංඛ්‍යාව | - 75 |
| ❖ එක්සත් ජාතික පක්ෂය ජයගත් ආසන සංඛ්‍යාව | - 30 |
| ❖ ෆෙඩරල් පක්ෂය | - 16 |
| ❖ ලංකා සමසමාජ පක්ෂය ජයගත් ආසන සංඛ්‍යාව | - 12 |
| ❖ සෙසු පක්ෂ හා ස්වාධීන කණ්ඩායම් ජයගත් ආසන සංඛ්‍යාව | - 18 |
| ❖ | |

ශ්‍රී ලංකා නිදහස් පක්ෂය, ලංකා සමසමාජ පක්ෂය හා කොමියුනිස්ට් පක්ෂය සමඟ එක්ව සමගි පෙරමුණ ලෙස සංවිධානය වී මෙම මැතිවරණයෙන් පසුව ආණ්ඩුවක් පිහිටුවා ගත් අතර සිරිමාවෝ බණ්ඩාරනායක මැතිණිය එහි අගමැති තනතුරට පත් වූවා ය. මේ අනුව ලොව ප්‍රථම අගමැතිණිය වීමේ භාග්‍ය ඇයට ලැබුණි.

1960 ජූලි මැතිවරණයෙන් පිහිටුවූ ආණ්ඩුවේ වැඩපිළිවෙළ

❖ 1956 බණ්ඩාරනායක මහතාගේ රජය විසින් ආරම්භ කළ ජනසතු ව්‍යාපාර තවදුරටත් ඉදිරියට ගෙන යාම

 මේ යටතේ සියලු පාසල් රජයට පවරා ගැනීම සිදු විය.

❖ දේශීය ආර්ථිකය නගා සිටුවීමට යොමු වූ ප්‍රතිසංස්කරණ අනුගමනය කිරීම

 මේ යටතේ 1961 වර්ෂයේ දී මහජන බැංකුව පිහිටුවනු ලැබී ය.

❖ ගොවිතැන් කටයුතු සඳහා ණය මුදල් ලබා ගැනීමේ අවස්ථාව මේ තුළින් ගොවියාට උදා විය.

**1965 මහ මැතිවරණය සහ එ. ජා. ප. ආණ්ඩුව**

ශ්‍රී ලංකා නිදහස් පක්ෂයේ ජ්‍යෝෂ්ඨතම සාමාජිකයෙකු වූ සී. පී. ද සිල්වා ප්‍රමුඛ මන්ත්‍රීන් 14 දෙනෙකු ආණ්ඩුවෙන් ඉල්ලා අස්වීම, දරුණු ආර්ථික අර්බුදවලට මුහුණපෑමට සිදු වීම ආදි අර්බුද නිසා 1960 වර්ෂයේ බලයට පත් වූ ආණ්ඩුව නියමිත කාලය නිමා වීමට ප්‍රථම විසුරුවා හැරීමට සිදු විය. මේ අනුව 1965 වර්ෂයේ මාර්තු මස නැවත මැතිවරණයක් පැවැත්වී ය.

**1965 මැතිවරණයේ ප්‍රතිඵල**

| | |
|---|---|
| ❖ ඡන්දයෙන් තෝරා ගැනීමට නියමිත ආසන සංඛ්‍යාව | - 151 |
| ❖ එක්සත් ජාතික පක්ෂය ජයගත් ආසන සංඛ්‍යාව | - 66 |
| ❖ ශ්‍රී ලංකා නිදහස් පක්ෂය ජයගත් ආසන සංඛ්‍යාව | - 41 |
| ❖ ෆෙඩරල් පක්ෂය ජයගත් ආසන සංඛ්‍යාව | - 14 |
| ❖ ලංකා සමසමාජ පක්ෂය ජයගත් ආසන සංඛ්‍යාව | - 10 |
| ❖ සෙසු පක්ෂ හා ස්වාධීන කණ්ඩායම් ජයගත් ආසන | - 20 |

මෙම මැතිවරණයේ දී ආණ්ඩුවක් පිහිටුවීමට ප්‍රමාණවත් බහුතර බලයක් කිසි දු පක්ෂයකට හිමි නොවූවත් ෆෙඩරල් පක්ෂය හා තවත් කුඩා පක්ෂ ගණනාවක සහාය ලබා ගෙන එක්සත් ජාතික පක්ෂය හවුල් ආණ්ඩුවක් පිහිටුවී ය. එක්සත් ජාතික පක්ෂයේ නායක ඩඩ්ලි සේනානායක මහතා තෙවෙනි වරටත් අගමැති තරනතුරට පත් විය. මෙම ආණ්ඩුව නියමිත නිල කාලය වන අවුරුදු පහ ගතවන තෙක් ම බලයේ රැඳී සිටීම කැපී පෙනෙන ලක්ෂණයකි.

## 6.3 1972 පළමු ජනරජ ව්‍යවස්ථාව හඳුන්වාදීම හා ශ්‍රී ලංකාව ජනරජයක් බවට පත් වීම

1948 - 1972 දක්වා බ්‍රිතාන්‍යයන් විසින් හඳුන්වා දෙන ලද සෝල්බරි ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව මෙරට ක්‍රියාත්මක විය. මෙම ව්‍යවස්ථාව යටතේ බ්‍රිතාන්‍ය රැජින තවදුරටත් මෙරටෙහි රාජ්‍ය නායිකාව ලෙස පිළිගැනීමත්, නීති සම්පාදනයේ දී පාර්ලිමේන්තුවට නොයෙකුත් සීමාවන් පැවතීමත් වැනි හේතු නිසා ශ්‍රී ලාංකිකයන් ලැබූ නිදහස අංග සම්පූර්ණ නැතැයි යන අදහස් පැවතුණි.



**6.3 රූපය - සිරිමාවෝ බණ්ඩාරනායක මැතිණිය**

මේ නිසා 1950 දශකයේ සිට දේශපාලනඥයන්, බුද්ධිමතුන්, ලේඛකයන්, විචාරකයන් වැනි සමාජයේ යම් යම් කොටස් විසින් නව ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවක් සම්පාදනය කර ගැනීමේ අවශ්‍යතාව පෙන්වා දෙන ලදි. එහෙත් සෝල්බරි ව්‍යවස්ථාව වෙනස් කිරීමට නීතිමය සීමා පැවති නිසා 1972 වර්ෂය වන තෙක් ම එයට ඉඩක් නොලැබිණි.

1970 මහ මැතිවරණයේ දී සමගි පෙරමුණ ඉදිරිපත් කළ ප්‍රතිපත්ති ප්‍රකාශනය මගින් නව ව්‍යවස්ථාවක් සකස් කොට සම්මත කර ගැනීම සඳහා ව්‍යවස්ථා සම්පාදක මණ්ඩලයක් ලෙස ක්‍රියාත්මක වීමට තම පක්ෂයට ජන වරමක් ලබා දෙන මෙන් ජනතාවගෙන් ඉල්ලා සිටියේ ය. මේ අනුව මැතිරණයේ දී පාර්ලිමේන්තුවේ 2/3ක බහුතර ආසන සංඛ්‍යාවක් ලබා ගැනීමට සමත් වූ අතර එය පාදක කර ගනිමින් නව ව්‍යවස්ථාවක් සම්පාදනය කර ගැනීම සඳහා අවශ්‍ය කටයුතු පිළියෙල කෙරිණ. එම ආණ්ඩුවේ අගමැති තනතුර ලබා ගත් සිරිමාවෝ බණ්ඩාරනායක මැතිණිය යටතේ පාර්ලිමේන්තුව ව්‍යවස්ථා සම්පාදක මණ්ඩලයක් ලෙස රැස්ව 1972 මැයි 22 වන දින නව ව්‍යවස්ථාවක් සම්මත කරන ලද අතර එය පළමු ජනරජ ව්‍යවස්ථාව ලෙස හැඳින්වේ. එම ව්‍යවස්ථාව මගින් මෙතෙක් පූර්ණ නිදහසට තිබූ බාධා ඉවත් කොට ශ්‍රී ලංකාව ජනරජයක් බවට පත් කෙරිණ.



1972 පළමු ජනරජ ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ ප්‍රධාන අංග ලක්ෂණ

### ජාතික රාජ්‍ය සභාව

1972 පළමු ජනරජ ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට අනුව ව්‍යවස්ථාදායකය හෙවත් නීති සම්පාදනය කළ ආයතනය ජාතික රාජ්‍ය සභාව ලෙස හැඳින්වේ. මෙය මහජන ඡන්දයෙන් තෝරා පත් කර ගත් නියෝජිතයන්ගෙන් පමණක් සමන්විත ආයතනයකි. එබැවින් එය ඒක මාණ්ඩලික ව්‍යවස්ථාදායකයක් ලෙස හැඳින්විය හැකි ය. ජාතික රාජ්‍ය සභාවට මන්ත්‍රීවරුන් 168 දෙනෙක් අයත් වූහ. නීති සම්පාදනය කිරීමේ පූර්ණ බලය එම සභාවට තිබුණි. එහි නිල කාලය වසර හයකි. ජාතික රාජ්‍ය සභාවේ කාර්යන් කිහිපයක් පහත දැක්වේ.

- ❖ නීති සම්පාදනය
- ❖ මූල්‍ය පාලනය
- ❖ විධායකය පාලනය කිරීම

### ජනාධිපති තනතුර

සෝල්බරි ආණ්ඩුක්‍රමය අනුව ක්‍රියාත්මක වූ අග්‍රාණ්ඩුකාර ධුරය වෙනුවට 1972 ව්‍යවස්ථාව යටතේ ජනාධිපති ධුරයක් හඳුන්වා දෙන ලදි. මෙතෙක් අග්‍රාණ්ඩුකාරවරයා බ්‍රිතාන්‍ය රැජිනගේ නියෝජිතයා ලෙස පෙනී සිටියත් 1972 ව්‍යවස්ථාව යටතේ ජනාධිපතිවරයා ලාංකික ජනතාවගේ නායකයා විය. අගමැතිවරයා විසින් ජනාධිපතිවරයා පත් කරන ලද අතර ඒ සඳහා ඔහු ශ්‍රී ලංකාවේ පුරවැසියෙකු පත් කළ යුතුව තිබුණි. මෙතෙක් අග්‍රාණ්ඩුකාරවරයාට හිමි වූ බලතල බොහොමයක් නව ව්‍යවස්ථාව යටතේ ජනාධිපතිවරයාට හිමි වී තිබුණි. ජනාධිපතිවරයා අගමැතිගේ උපදෙස් මත එම බලතල ක්‍රියාත්මක කළ යුතු විය. මේ නිසා 1972 ව්‍යවස්ථාව යටතේ ජනාධිපතිවරයා නාමික විධායක තත්වයක් ඉසිලී ය. ඔහුගේ නිල කාලය වසර හතරකි. එවකට අග්‍රාණ්ඩුකාර ධුරය දැරූ විලියම් ගොපල්ලව මහතා මෙරට ප්‍රථම ජනාධිපති ධුරයට පත් විය.



**6.4 රූපය**
**විලියම් ගොපල්ලව මහතා**

### අගමැති ප්‍රධාන අමාත්‍ය මණ්ඩලය

1972 පළමු ජනරජ ව්‍යවස්ථාව යටතේ විධායක බලය හෙවත් නීති ක්‍රියාත්මක කිරීමේ බලය අගමැති ප්‍රධාන අමාත්‍ය මණ්ඩලයට පැවරිණ. මෙය සත්‍ය විධායකය ලෙස ද හැඳින්වේ. අමාත්‍ය මණ්ඩලයේ නායකත්වය අගමැතිවරයාට හිමි විය. ජාතික රාජ්‍ය සභාවේ උපරිම විශ්වාසය දිනා ගත් පුද්ගලයා ජනාධිපති විසින් අගමැති තනතුරට පත් කරන ලදි. ජනාධිපතිවරයා විසින් අගමැතිවරයාගේ උපදෙස් පරිදි අනෙකුත් අමාත්‍යවරුන් පත් කර ගනු ලැබී ය. අගමැති ප්‍රමුඛ අමාත්‍ය මණ්ඩලය ජාතික රාජ්‍ය සභාවට සාමූහිකව වගකීමට බැඳී සිටීම විශේෂ ලක්ෂණයකි.



**6.5 රූපය - ශ්‍රේෂ්ඨාධිකරණය**

**අධිකරණය**

1972 පළමු ජනරජ ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව යටතේ යුක්තිය පසිඳලීම සඳහා අධිකරණ පද්ධතියක් පිහිටුවා තිබුණි. පහත සඳහන් පරිදි අධිකරණ ආයතන කිහිපයක් ඊට ඇතුළත් විය.

ශ්‍රේෂ්ඨාධිකරණය
මහාධිකරණය
දිසා අධිකරණය
මහේස්ත්‍රාත් අධිකරණය
ආණ්ඩුක්‍රම ව්‍යවස්ථා අධිකරණය

1972 පළමු ජනරජ ව්‍යවස්ථාව යටතේ ඉහළ අධිකරණ ආයතන දෙක වූයේ ශ්‍රේෂ්ඨාධිකරණය හා මහාධිකරණයයි. සෝල්බරි ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව යටතේ මෙරට අභියාචනා නඩු විසඳීමේ බලය බ්‍රිතාන්‍ය ප්‍රිවි කවුන්සලයට හිමි වී තිබුණත් 1972 ව්‍යවස්ථාව යටතේ එම බලය ශ්‍රේෂ්ඨාධිකරණයට පවරා තිබුණි.

❖ දිසා අධිකරණයට සියලු ආකාරයේ සිවිල් නඩු විභාග කිරීමේ බලය හිමි වූ අතර සියලු ආකාරයේ අපරාධ නඩු විභාග කිරීමේ බලය මහේස්ත්‍රාත් අධිකරණයට හිමි විය.

❖ පාර්ලිමේන්තුවට ඉදිරිපත් කරන පනත් කෙටුම්පතක් ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට අනුකූල දැයි පරීක්ෂා කිරීම සඳහා ආණ්ඩුක්‍රම ව්‍යවස්ථා අධිකරණය පිහිටුවා තිබුණි.

## 6.4 1978 දෙවන ජනරජ ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව

1973 වර්ෂයේ ඩඩ්ලි සේනානායක මහතාගේ අභාවයෙන් පසුව එක්සත් ජාතික පක්ෂයේ නායකත්වයට ජේ. ආර්. ජයවර්ධන මහතා පත් විය. ඔහුගේ නායකත්වයෙන් එක්සත් ජාතික පක්ෂය 1977 වර්ෂයේ දී පැවැත්වූ මහ මැතිවරණයට මුහුණ දුන් අතර ජාතික රාජ්‍ය සභාවේ මන්ත්‍රීවරුන්ගෙන් 5/6ක බලයක් එම පක්ෂයට ලැබුණි. ද්‍රවිඩ එක්සත් පෙරමුණ ආසන දහඅටක් දිනා ගෙන ප්‍රධාන විපක්ෂය බවට පත් විය. එම පක්ෂයේ නායක ඒ. අමිර්තලිංගම් මහතාට විපක්ෂ නායක තනතුර හිමි විය. මේ වන විට ප්‍රබල පක්ෂයක් වූ ශ්‍රී ලංකා නිදහස් පක්ෂයට දිනා ගත හැකි වූයේ ආසන අටක් පමණි. එක්සත් ජාතික පක්ෂය අත් කර ගත් අතිවිශාල බලය පදනම් කර ගනිමින් නව ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවක් සම්මත කර ගැනීමට කටයුතු කළේ ය. 1978 වර්ෂයේ සිට ක්‍රියාත්මක වූ එම ව්‍යවස්ථාව දෙවන ජනරජ ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව ලෙස හැඳින්වේ.



**6.6 රූපය - මෙරට ප්‍රථම විධායක ජනාධිපති ජේ. ආර්. ජයවර්ධන මහතා**

1978 වර්ෂයේ ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව අනුව ශ්‍රී ලංකාව, ශ්‍රී ලංකා ප්‍රජාතන්ත්‍රවාදී සමාජවාදී ජනරජය ලෙස හැඳින්වෙන අතර ඒකීය රාජ්‍යයක් බව ද දක්වා ඇත. මෙතෙක් ක්‍රියාත්මක වූ ව්‍යවස්ථාවන්හි මෙන් ව්‍යවස්ථාදායක බලය හෙවත් නීති සම්පාදන බලය ක්‍රියාත්මක කරන එක ම ආයතනය පාර්ලිමේන්තුව නොවන අතර ජනමත විචාරණයක දී ජනතාවට ද එම අයිතිය ඇති බව දක්වා තිබීම විශේෂ ලක්ෂණයකි.

### 1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ ප්‍රධාන අංග

**විධායක ජනාධිපති ධුරය**

එතෙක් පැවති නාමික විධායක ජනාධිපති ධුරය වෙනුවට පූර්ණ විධායක බලය සහිත ජනාධිපති ධුරයක් හඳුන්වා දීම 1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ ප්‍රධාන ලක්ෂණයකි.

1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට අනුව ජනාධිපතිවරයා ශ්‍රී ලංකාවේ රාජ්‍ය නායකයා ද, විධායකයේ නායකයා ද ආණ්ඩුවේ නායකයා ද සන්නද්ධ සේවාවන්හි සේනාධිනායකයා ද වේ. මේ අනුව ජනාධිපති ධුරය පූර්ණ විධායක බලතල සහිත රජයේ ඉහළ ම විධායක තනතුර ද වේ. ජනාධිපතිවරයා ඍජු මහජන ඡන්දයකින් තෝරා ගන්නා අතර ඒ සඳහා වෙන ම ජනාධිපතිවරණයක් පැවැත්වේ. මුලින් ජනාධිපතිවරයාගේ නිල කාලය වසර හය වුවත් ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට ගෙන එන ලද 19 වන සංශෝධනයෙන් පසු එය වසර පහ දක්වා අඩු කර ඇත.



**6.7 රූපය - විපක්ෂ නායක ඒ. අමිර්තලිංගම් මහතා**

ජනාධිපතිවරයාට ව්‍යවස්ථාදායක, විධායක, අධිකරණ ක්ෂේත්‍රයන්හි බලතල රාශියක් හිමි වේ. පාර්ලිමේන්තුවේ සාමාජිකයෙකු නොවුණ ද පාර්ලිමේන්තුව සම්බන්ධව බලතල රාශියක් ඔහුට හිමිව තිබේ. ඉන් කිහිපයක් පහත දැක්වේ.

- ❖ පාර්ලිමේන්තුව කැඳවීම, වාරවසාන කිරීම, විසුරුවා හැරීම.
- ❖ පාර්ලිමේන්තුවේ මංගල රැස්වීම්වල මුලසුන දැරීම
- ❖ ආණ්ඩුවේ ප්‍රතිපත්ති ප්‍රකාශනය පාර්ලිමේන්තුවට ඉදිරිපත් කිරීම.
- ❖ ඕනෑ ම අවස්ථාවක පාර්ලිමේන්තුවේ රැස්වීම්වලට සහභාගි වීම හා පාර්ලිමේන්තුව ඇමතීම.

ජනාධිපතිවරයාට හිමිව ඇති විධායක බලතල කිහිපයක් මෙසේ ය.

- ❖ අගමැතිවරයා පත් කිරීම.
- ❖ අමාත්‍ය මණ්ඩලය පත් කිරීම හා ඔවුන්ට විෂය හා කාර්යන් පැවරීම.
- ❖ රජයේ උසස් නිලධාරීන් පත් කිරීම
- ❖ අමාත්‍ය මණ්ඩලයේ ප්‍රධානියා වශයෙන් කටයුතු කිරීම
- ❖ අග්‍රවිනිශ්චයකාරවරයා ඇතුළු ශ්‍රේෂ්ඨාධිකරණයේ අනෙකුත් විනිශ්චයකරුවන් පත් කිරීම
- ❖ අභියාචනාධිකරණයේ සභාපතිතුමා හා අනෙකුත් විනිශ්චයකාරවරුන් පත් කිරීම.
- ❖ අධිකරණසේවා කොමිසන් සභාව පත් කිරීම
- ❖ වරදකරුවන්ට සමාව දීම.

මීට අමතරව රාජ්‍ය නායකයා වශයෙන් ජනාධිපතිවරයාට කාර්යන් රැසක් පැවරී ඇත. ඉන් කිහිපයක් පහත දැක්වේ.

- ❖ ජාතික උත්සවවල මුලසුන ගැනීම
- ❖ රාජ්‍ය මුද්‍රාව තබා ගැනීම හා මුද්‍රාව තබා අත්සන් කළ යුතු ලේඛනවල අත්සන් තැබීම.
- ❖ ජාත්‍යන්තර වශයෙන් ජනරජය නියෝජනය කිරීම
- ❖ රාජ්‍ය දූතයන් පත් කිරීම හා මෙරටට පැමිණෙන රාජ දූතයන් පිළිගැනීම.

### අගමැති සහ අමාත්‍ය මණ්ඩලය

1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව යටතේ විධායක ජනාධිපතිවරයාට අමතරව විධායකයේ කොටසක් ලෙස අමාත්‍ය මණ්ඩලයක් ද ක්‍රියාත්මක වේ. ජනාධිපතිවරයා ඇමති මණ්ඩලයේ නායකත්වය දරන අතර අගමැතිවරයා හා සෙසු අමාත්‍යවරුන් තෝරා පත් කිරීම ද ජනාධිපතිගේ කාර්යකි. 1972 ව්‍යවස්ථාව යටතේ අගමැතිවරයා වෙත හිමිව තිබූ බලතල මෙම ව්‍යවස්ථාව යටතේ ජනාධිපතිවරයා වෙත හිමිව තිබීම ද කැපී පෙනෙන ලක්ෂණයකි. පාර්ලිමේන්තුව පනවන නීති ක්‍රියාත්මක කිරීම, ඒ ඒ අමාත්‍යවරයාට පැවරුණු විෂය භාරව කටයුතු කිරීම ඇමතිවරුන්ගේ කාර්යන්වලට උදාහරණ වේ.

## පාර්ලිමේන්තුව

1978 දෙවන ජනරජ ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව යටතේ පිහිටුවන ලද ව්‍යවස්ථාදායකය හෙවත් නීති සම්පාදන ආයතනය පාර්ලිමේන්තුව නමින් හැඳින්වේ. නියෝජිත මන්ත්‍රී මණ්ඩලයෙන් පමණක් සමන්විත වන නිසා එය ඒක මාණ්ඩලික ව්‍යවස්ථාදායකයක් වන අතර මන්ත්‍රීවරුන් 225කින් සමන්විත වේ. එයින් මන්ත්‍රීවරුන් 196 දෙනෙකු සමානුපාතික නියෝජන ක්‍රමය යටතේ මහජන ඡන්දයෙන් තෝරා පත් කර ගන්නා අතර 29 දෙනෙකු ජාතික ලැයිස්තුවෙන් පත් කර ගැනේ. මහ මැතිවරණයේ දී ඒ ඒ පක්ෂ ලබා ගත් මුළු ඡන්ද සංඛ්‍යාවේ අනුපාතයට අනුව ජාතික ලැයිස්තු මන්ත්‍රීවරු තෝරා ගැනෙති. පාර්ලිමේන්තුවේ නිල කාලය වසර හයක් විය. 19 වන ව්‍යවස්ථා සංශෝධනයෙන් පසු වසර පහ දක්වා එය අඩු කර තිබේ.

- නීති සම්පාදනය කිරීම
- මූල්‍ය පාලනය කිරීම
- ජනාධිපතිවරයාට විරුද්ධව දෝෂාභියෝග ඉදිරිපත් කිරීම
- මහජන දුක් ගැනවිලි ඉදිරිපත් කිරීම

ආදිය පාර්ලිමේන්තුවේ කාර්යන්වලට උදාහරණ වේ.

## අධිකරණය

1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව යටතේ යුක්තිය පසිඳලීම සඳහා අධිකරණ පද්ධතියක් හඳුන්වා දී ඇත. එය පහත දැක්වේ.

ශ්‍රේෂ්ඨාධිකරණය
අභියාචනාධිකරණය
මහාධිකරණය
දිසා අධිකරණය
පවුල් අධිකරණය
මහේස්ත්‍රාත් අධිකරණය
ප්‍රාථමික අධිකරණය

ශ්‍රේෂ්ඨාධිකරණය හා අභියාචනාධිකරණය හැර සෙසු අධිකරණ මුල් අවස්ථා අධිකරණ වේ. මුල් අවස්ථා අධිකරණ යනුවෙන් හඳුන්වන්නේ ශ්‍රේෂ්ඨාධිකරණයට හෝ අභියාචනාධිකරණයට යොමු නොවන කිසියම් නඩුවක් මුලින් ම විභාගයට ගනු ලබන අධිකරණයන් ය.

ශ්‍රී ලංකාවේ ඉහළ ම අධිකරණය මෙන් ම අවසාන අභියාචනාධිකරණය වන්නේ ශ්‍රේෂ්ඨාධිකරණයයි. මෙය අග්‍රවිනිශ්චයකාරවරයා ප්‍රධාන තවත් විනිශ්චයකාරවරුන් හය දෙනෙකුට නොඅඩු දස දෙනෙකුට නොවැඩි සංඛ්‍යාවකින් යුක්ත වේ. අග්‍රවිනිශ්චයකාරවරයා හා සෙසු විනිශ්චයකාරවරුන් ජනාධිපතිවරයා විසින් පත් කරනු ලැබේ.

ශ්‍රේෂ්ඨාධිකරණයට පැවරෙන කාර්යන් කිහිපයක් පහත සඳහන් වේ.

- ❖ මූලික අයිතිවාසිකම් පිළිබඳ නඩු විසඳීම
- ❖ ජනාධිපතිට විරුද්ධව පාර්ලිමේන්තුවට ගෙන එන දෝෂාභියෝග විභාග කිරීම.
- ❖ ඡන්ද පෙත්සම් පිළිබඳ නඩු විභාග කිරීම.
- ❖ අවසාන අභියාචනාධිකරණය ලෙස ක්‍රියාත්මක වීම.

පහළ අධිකරණවලින් ලබාදෙන තීන්දුවලට එරෙහිව ඉදිරිපත් වන අභියාචනා නඩු විසඳීමේ බලය අභියාචනා අධිකරණයට හිමි වේ.

### මූලික මිනිස් අයිතිවාසිකම්

1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ තුන්වන පරිච්ඡේදයේ මූලික මිනිස් අයිතිවාසිකම් පිළිබඳව දක්වා ඇති අතර 1972 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට වඩා අයිතිවාසිකම් සවිස්තරාත්මකව එහි දක්වා තිබීම විශේෂ ලක්ෂණයකි. ව්‍යවස්ථාවේ දැක්වෙන එබඳු අයිතිවාසිකම් කිහිපයක් පහත දැක්වේ.

- ❖ කතා කිරීමේ හා අදහස් ප්‍රකාශ කිරීමේ අයිතිය
- ❖ කැමති රැකියාවක් කිරීමේ අයිතිය
- ❖ කැමති ආගමක් ඇදහීමේ අයිතිය
- ❖ වධ හිංසාවලින් මිදීමේ අයිතිය
- ❖ නීතිය ඉදිරියේ සමානාත්මතාවෙන් සලකනු ලැබීමේ අයිතිය

යම්කිසි හේතුවක් නිසා අයිතිවාසිකම් කඩ වුවහොත් ගත හැකි පියවර 1972 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ සඳහන් නොවී ය. මෙම අඩුපාඩුව මගහරවමින් එවන් අවස්ථාවක ශ්‍රේෂ්ඨාධිකරණයේ හා ඔම්බුඩ්ස්මන්වරයාගේ පිහිට පැතිය හැකි බව 1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ සඳහන් වේ.

## 6.5 නිදහසින් පසු ශ්‍රී ලංකාවේ සංවර්ධන කටයුතු

බ්‍රිතාන්‍ය පාලන සමය තුළ ශ්‍රී ලංකාවේ ආර්ථිකය ඉංග්‍රීසින්ගේ අවශ්‍යතා ඉටු කර ගැනීමේ අරමුණෙන් සංවිධානය කර තිබුණි. 1948 වර්ෂයේ දී නිදහස ලැබීමෙන් පසු මෙරට බලයට පත් දේශපාලනඥයන්ට රටේ ආර්ථිකය ජනතාවගේ අවශ්‍යතා ඉටු කර ගැනීමට හැකි වන අයුරින් මෙහෙයවීමේ වගකීම පැවරුණි. එම නිසා 1948 වර්ෂයේ සිට බලයට පත් සෑම ආණ්ඩුවක් ම ජනතාවගේ ජීවන තත්වය උසස් කිරීම සඳහා විවිධ සැලසුම් ක්‍රියාත්මක කිරීමට පියවර ගෙන ඇත. ඒ අනුව කෘෂිකර්මාන්තය හා කර්මාන්ත දියුණු කිරීම, රටේ අධ්‍යාපන තත්වය නගා සිටුවීම හා සමාජ ශුභ සාධනය වැනි ක්ෂේත්‍රවලට අදාළව විවිධ ප්‍රතිපත්ති හා වැඩසටහන් සංවිධානය කර ක්‍රියාත්මක කොට තිබේ.

## වී ගොවිතැන දියුණු කිරීම

බ්‍රිතාන්‍ය පාලනය යටතේ 1931 වර්ෂය දක්වා වතු වගාව මුල් කරගත් අපනයන කෘෂිකර්මාන්තයට රජයේ ප්‍රමුඛ අවධානය යොමු වීම නිසා වී ගොවිතැන් කටයුතු අඩාළ විය. මේ නිසා ඩොනමෝර් ප්‍රතිසංස්කරණ සිදු වූ අවධිය වන විට රටට අවශ්‍ය සහල් ඇතුළු ආහාර ද්‍රව්‍ය සැලකිය යුතු ප්‍රමාණයක් විදේශවලින් ආනයනය කිරීමට සිදුව තිබුණි.

1931- 1947 කාලයේ මෙරට කෘෂිකර්ම අමාත්‍යවරයා වශයෙන් කටයුතු කළ ඩී. එස්. සේනානායක මහතා රාජ්‍ය මන්ත්‍රණ සභා යුගයේ දී ම වී ගොවිතැන දියුණු කිරීමේ අගය වටහාගෙන කටයුතු කළේ ය. 1948 වර්ෂයෙන් පසුව මෙරට ප්‍රශ්න විසඳීමේ වගකීම ලාංකිකයන් වෙත ම පැවරුණු හෙයින් බලයට පත් සෑම ආණ්ඩුවක් ම වී ගොවිතැන දියුණු කිරීමට කටයුතු කර ඇත. එහි දී වී ගොවිතැන නගා සිටුවීමට හා ගොවි ජනතාවගේ දියුණුව පිණිස ක්‍රියාත්මක කළ ප්‍රතිපත්ති කිහිපයක් මෙසේ ය.

- ❖ වියළි කලාපයේ ගොවිජනපද පිහිටුවීම
- ❖ මහවැලි සංවර්ධන යෝජනාක්‍රමය ක්‍රියාත්මක කිරීම, වී පර්යේෂණ ආයතන පිහිටුවා නව වී ප්‍රභේද ගොවියන්ට හඳුන්වාදීමට කටයුතු කිරීම
- ❖ ගොවිජන සේවා මධ්‍යස්ථාන පිහිටුවීම හා සහතික මිල ක්‍රමයක් හඳුන්වා දීම.
- ❖ රජයේ බැංකු මගින් ගොවි ජනතාවට ණය පහසුකම් ලබා දීමට කටයුතු කිරීම.

ඩී. එස්. සේනානායක මහතා විසින් රාජ්‍ය මන්ත්‍රණ සභා යුගයේ දී ම ආරම්භ කරන ලද ගොවි ජනපද පිහිටුවීමේ ව්‍යාපාරය නිදහසින් පසුව ද අඛණ්ඩව ක්‍රියාත්මක විය. තෙත් කලාපයෙන් ජනතාව තෝරාගෙන වියළි කලාපයට කැඳවාගෙන ගොස් ඉඩම් ලබා දී පදිංචි කරවීම මේ යටතේ සිදු විය. ගොවිජනපද ආරම්භ කිරීමෙන් බලාපොරොත්තු වූ අරමුණු කිහිපයකි.

- ❖ රටේ ආහාර නිෂ්පාදනය වැඩි කිරීම.
- ❖ වියළි කලාපයේ පැරණි වැව් හා වාරිමාර්ග අලුත්වැඩියා කොට එහි ඉඩම් ආර්ථික සංවර්ධනයට යොදා ගැනීම.
- ❖ තෙත් කලාපයේ ඉහළ යමින් පවතින ජනගහන තදබදය හා රැකියා හිඟය අඩු කිරීම
- ❖ නිදහස ලැබීමට පෙර හා පසු මෙරටෙහි ගොවි ජනපද ගණනාවක් පිහිටුවා ඇත. දේවහුව, ගල් ඔය, කන්තලේ, ඉරණමඩු, මින්නේරිය, මිණිපේ, පදවිය, රාජාංගණය ඉන් කිහිපයකි.

ගොවිජනපද ආරම්භ කිරීමෙන් පසු පැරණි වැව් අමුණු ප්‍රතිසංස්කරණය හා වාරිමාර්ග තැනවීම කෙරෙහි රට තුළ මහත් උනන්දුවක් ඇති විය. 1949 වර්ෂයේ දී ආරම්භ කළ ගල් ඔය සංවර්ධන යෝජනා ක්‍රමය එවැනි නව වාරි මාර්ග තැනවීමට උදාහරණයක් ලෙස පෙන්නුම් කළ හැකි ය. මෙය කාර්යන් රාශියක් ඉටු කිරීමට යොදා ගත් මෙරට ඇති කළ ප්‍රථම බහු කාර්ය යෝජනා ක්‍රමය ද වේ.



**6.8 රූපය - වික්ටෝරියා ජලාශය**

## මහවැලි සංවර්ධන යෝජනා ක්‍රමය

නිදහස ලැබීමෙන් පසු බලයට පත් ආණ්ඩු මෙරට වී ගොවිතැන දියුණු කිරීම හා කෘෂිකර්මාන්තය නගා සිටුවීම සඳහා ආරම්භ කළ යෝජනා ක්‍රම අතර මහවැලි සංවර්ධන යෝජනා ක්‍රමය විශේෂයෙන් කැපී පෙනේ. අතු ගංගා රැසකින් පෝෂණය ලබන මහවැලි ගඟෙහි ජලය රටේ ආර්ථික දියුණුව සඳහා යොදා ගැනීමට මෙම යෝජනා ක්‍රමයෙන් බලාපොරොත්තු විය. මහවැලි සංවර්ධන යෝජනා ක්‍රමයේ අරමුණු කිහිපයකි.

- ❖ වියළි කලාපයේ ගොවිබිම්වල කෘෂිකර්ම කටයුතුවලට අවශ්‍ය නිත්‍ය ජල පහසුකම් ලබා දීම.
- ❖ විදුලි බලය නිෂ්පාදනය කිරීම.
- ❖ නව ජනාවාස බිහි කිරීමෙන් ඉඩම් නැති ජනතාවට ඉඩම් ලබා දී ආහාර භෝග ව්‍යාප්ත කිරීම හා තෘප්තිමත් ගොවි පරපුරක් බිහි කිරීම.
- ❖ මිරිදිය මසුන් බෝ කිරීම.
- ❖ රැකියා අවස්ථා බිහි කිරීම.

මහවැලි සංවර්ධන යෝජනා ක්‍රමය ක්‍රියාත්මක කිරීමේ ප්‍රථම පියවර වශයෙන් මහවැලි ගඟ හරහා වේල්ලක් බැඳ පොල්ගොල්ල ව්‍යාපාරය ආරම්භ කෙරිණි. එයින් කලා ඔය, නාච්චිදූව වැව, නුවර වැව වැනි වැව් කිහිපයකට ජලය ලබා ගැනීමට සැලසුම් කෙරිණ.

මුල දී තිස් වසරකින් නිම කිරීමට බලාපොරොත්තු වූ මහවැලි යෝජනා ක්‍රමය 1977 වර්ෂයේ බලයට පත් ජේ. ආර්. ජයවර්ධන මහතාගේ රජයේ උපදෙස් පරිදි සය අවුරුද්දකින් නිම කිරීමට පියවර ගත්තේ ය. වික්ටෝරියා, රන්දෙණිගල, රන්ටැඹේ, කොත්මලේ, උල්හිටිය, රත්කිඳ හා මාදුරු ඔය යනාදී විශාල යෝජනා ක්‍රම ක්‍රියාත්මක කෙරුණ අතර ඒ යටතේ කෘෂිකාර්මික සංවර්ධන ප්‍රදේශ රාශියක් ම බිහි විය. මහවැලි ජලය නව ජලාශවලට රැස් කොට විදුලි බලය නිපදවීමට යොදාගෙන අනතුරුව වියළි කලාපයට ලබා දීම මගින් එතෙක් වගා කළ බිම්වලටට මෙන් ම අලුත් බිම් සඳහා ද ජලය ලබා ගැනීමට හැකියාව ලැබුණි.

## කාර්මික අංශයේ ඇති වූ දියුණුව

1931 වර්ෂයට පෙර ශ්‍රී ලංකාවේ කර්මාන්ත ක්ෂේත්‍රය තේ, රබර්, පොල් වැනි වැවිලි නිෂ්පාදන පිළියෙල කිරීමට හෝ සැකසීමට සීමා වී තිබුණි. අමු තේ දළුවලින් තේ කොළ නිෂ්පාදනය, රබර් කිරිවලින් ෂීට් රබර් නිපදවීම, පොල්වලින් කොප්පරා හෝ පොල්තෙල් නිෂ්පාදනය ආදිය ඊට උදාහරණ වේ. රෙදි විවීම, වතුවලට අවශ්‍ය මෙවලම් තැනීම ආදියට කම්හල්වල පැවති කර්මාන්ත කිහිපයක් ද විය. ඊට අමතරව සාම්ප්‍රදායිකව පැවත ආ ලෝකුරු වැඩ, වළං තැනීම, වේවැල් භාණ්ඩ නිෂ්පාදනය වැනි ගෘහ කර්මාන්ත හා හස්ත කර්මාන්ත රැසක් ද පැවතුණි. මෙසේ කාර්මික ක්ෂේත්‍රයේ සැලකිය යුතු ප්‍රගතියක් නොවූ බැවින් රටට අවශ්‍ය කාර්මික භාණ්ඩ විදේශවලින් ආනයනය කිරීමට සිදු විය.

දෙවන ලෝක සංග්‍රාමය පැවති 1939-1945 කාලයේ දී විදේශ භාණ්ඩ ආනයනය දුෂ්කර විය. මේ නිසා ලාංකිකයන්ට අවශ්‍ය පිඟන් භාණ්ඩ, කඩදාසි, සබන්, සුවඳවිලවුන් ආදී භාණ්ඩ රට තුළ ම නිෂ්පාදනය කිරීමේ කර්මාන්ත ආරම්භ විය. එහෙත් ලෝක යුද්ධය නිම වීමෙන් පසුව නැව් ගමනාගමනයට පැවති බාධක අවසන් වීම නිසා නැවත විදේශීය නිෂ්පාදන මෙරටට ආනයනය කෙරිණි. නව තාක්ෂණය යොදා ගැනීම නිසා ගුණාත්මක තත්වයෙන් ඉහළ පැවති එකී විදේශීය භාණ්ඩ සමග දේශීය නිෂ්පාදනවලට තරග කිරීමට නොහැකි වීමෙන් එකල පැවති කර්මාන්ත ද ක්‍රමයෙන් අඩපණ විය.

නිදහසෙන් පසු මෙරට ප්‍රථම ආණ්ඩුව යටතේ කර්මාන්ත හා ධීවර කටයුතු පිළිබඳ වෙන ම අමාත්‍යාංශයක් හා කර්මාන්ත දෙපාර්තමේන්තුවක් ද පිහිටුවන ලදි. මේ කාලයේ රජය අනුගමනය කළ ප්‍රතිපත්තිය අනුව සිමෙන්ති, කඩදාසි, රසායනික පොහොර, සීනි, යකඩ හා වානේ වැනි විශාල කර්මාන්ත රාජ්‍ය ව්‍යවසාය යටතේ ආරම්භ කළ යුතු යැයි පිළිගැනීමක් පැවති හෙයින් විශාල කර්මාන්ත ආරම්භ කිරීමට පෞද්ගලික අංශයට තිබූ අවස්ථා අවම විය. රජයට ද විශාල කර්මාන්ත ආරම්භ කිරීමට අවශ්‍ය මුදල් හිඟ වූ බැවින් නිදහස ලැබී වසර පහක් පමණ ගතවන තෙක් කර්මාන්ත ක්ෂේත්‍රයේ ප්‍රමාණවත් ප්‍රගතියක් ඇති නොවී ය.

එහෙත් මේ කාලයේ දී කන්කසන්තුරේ සිමෙන්ති කම්හල ආරම්භ කිරීමට රජයට හැකි විය.

ශ්‍රී ලංකාවට පැමිණි ලෝක බැංකු නියෝජිත කණ්ඩායමක් මෙරට සංවර්ධන කටයුතු පිළිබඳ පරීක්ෂා කොට 1952 දී වාර්තාවක් ඉදිරිපත් කළ අතර විශාල ප්‍රමාණයේ කර්මාන්ත ආරම්භ කිරීමට වඩා කුඩා හා මධ්‍යම ප්‍රමාණයේ කර්මාන්ත ආරම්භ කිරීමට රජය යොමු විය යුතු යැයි එමගින් නිර්දේශ කර තිබුණි. රජයේ වාණිජ්‍ය ව්‍යවසායන් ගැන කරුණු පරීක්ෂා කොට වාර්තා කිරීමට රජය පත් කළ තවත් කොමිසමක වාර්තාව 1953 වර්ෂයේ දී ප්‍රකාශයට පත් විය. කාර්මික සංවර්ධනයේ දී රජය අනුගමනය කළ යුතු මූලධර්ම කිහිපයක් එමගින් ද නිර්දේශ කර තිබුණි. මෙම වාර්තා රජයේ කර්මාන්ත ප්‍රතිපත්තිය සකස් කර ගැනීමට බෙහෙවින් උපකාරී විය. ඒ අනුව රජයේ කර්මාන්ත ප්‍රතිපත්තිය 1954 දී ප්‍රකාශයට පත් විය. විශාල කර්මාන්ත වෙනුවට සුළු කර්මාන්ත ආරම්භ කිරීමට රජය මැදිහත් වීමත් සෙසු කර්මාන්ත ආරම්භ කිරීමට පෞද්ගලික අංශයට දිරි දෙන ප්‍රතිපත්තියකුත් ඊට අයත් විය. එම කරුණු මත පිහිටුවමින් කර්මාන්ත ක්ෂේත්‍රයට විදේශ ආයෝජන ලබා ගැනීම පිළිබඳ රජයේ ප්‍රතිපත්තිය 1955 දී පාර්ලිමේන්තුවට ඉදිරිපත් කළ ධවල පත්‍රිකාවක් මගින් පැහැදිලි කරන ලදි. මේ අනුව මෙරට කර්මාන්ත ක්ෂේත්‍රය කෙරෙහි මුදල් ආයෝජනය කිරීමට පෞද්ගලික අංශයටත් දොරටු විවර විය. 1956 වර්ෂයෙන් පසුව මෙරට කර්මාන්ත ක්ෂේත්‍රයේ කැපී පෙනෙන අවස්ථා කිහිපයක් පහත සඳහන් වේ.

- ❖ වර්ෂ 1959 දී ප්‍රථම කාර්මික ජනපදය ඒකල පිහිටුවීම හා 1960 වර්ෂයේ දී රත්මලාන කාර්මික ජනපදය පිහිටුවීම.
- ❖ 1958 - 1968 දස අවුරුදු යෝජනා ක්‍රමය යටතේ රජයේ මැදිහත් වීමෙන් යකඩ හා වානේ, තුනී ලෑලි, සීනි ආදි කර්මාන්ත ආරම්භ වීම
- ❖ 1970 - 1977 කාලය තුළ විදේශවලින් ආනයනය කරන භාණ්ඩ වෙනුවට ඊට ආදේශන දේශීය වශයෙන් නිෂ්පාදනය කිරීමට යොමු වීම නිසා ගෘහස්ථ හා සුළු කර්මාන්ත දියුණු වීම.

1977 වර්ෂයෙන් පසු අපනයන ආශ්‍රිත කර්මාන්ත දියුණු කිරීම සඳහා ආයෝජකයන් ගෙන්වා ගැනීම හා පෞද්ගලික අංශය දිරිමත් කිරීම සඳහා අනුගමනය කළ ප්‍රතිපත්ති නිසා ඇඟළුම් කර්මාන්තය හා අපනයන ආශ්‍රිත කර්මාන්තවල ශීඝ්‍ර දියුණුවක් ඇති විය.

### අධ්‍යාපන සංවර්ධන කටයුතු

නිදහසෙන් පසු ගත වූ දශක හතරක පමණ කාලයේ දකුණු ආසියාවේ සෙසු රටවල් සමග සසඳන විට අධ්‍යාපන කටයුතු මෙන් ම සාක්ෂරතාව අතින් ද ශ්‍රී ලංකාවේ කැපී පෙනෙන ප්‍රගතියක් දක්නට ලැබුණි. ඊට ප්‍රධාන හේතුවක් වූයේ බාලාංශයේ සිට විශ්වවිද්‍යාල අධ්‍යාපනය නිම වන තෙක් නොමිලේ අධ්‍යාපනය ලබා දීම හෙවත් නිදහස් අධ්‍යාපන ප්‍රතිපත්තියක් මෙරට ක්‍රියාත්මක වීමයි. සී. ඩබ්ලිව්. ඩබ්ලිව්. කන්නන්ගර මහතා විසින් රාජ්‍ය මන්ත්‍රණ සභා යුගයේ දී හඳුන්වා දෙන ලද මෙකී නිදහස් අධ්‍යාපන ප්‍රතිපත්තිය, නිදහසෙන් පසු බලයට පත් සෑම රජයක් විසින් ම අඛණ්ඩව පවත්වාගෙන එන ලදි.



**6.9 රූපය - පේරාදෙණිය විශ්වවිද්‍යාලය**

නිදහසින් පසු අධ්‍යාපන ක්ෂේත්‍රයේ දියුණුව පිණිස රජය විසින් ගන්නා ලද පියවර කිහිපයක් පහත දැක්වේ.

- ❖ රජය පාසල් පිහිටුවීම හා අධ්‍යාපන ව්‍යාප්තියට මුදල් යෙදවීම
- ❖ විෂයමාලා සංවර්ධනය හා ගුරු පුහුණු කටයුතු නවීකරණය කිරීම.
- ❖ පාසල්වල විද්‍යාගාර පහසුකම් හා පුස්තකාල පහසුකම් ව්‍යාප්ත කිරීම.
- ❖ ශිෂ්‍ය ශුභසාධන කටයුතු දියුණු කිරීම, මේ අනුව දිවා ආහාරය, පාසල් පොත්, පාසල් නිල ඇඳුම්, වෛද්‍ය හා දන්ත වෛද්‍ය පහසුකම් ආදිය සිසුන්ට නොමිලේ ලබා දීමට කටයුතු කෙරිණ. සහනදායි ලෙස ගමනාගමන පහසුකම් ලබා දීමට පියවර ගෙන තිබේ.
- ❖ වෘත්තීය අධ්‍යාපන ආයතන පිහිටුවමින් අධ්‍යාපන කටයුතු පුළුල් කිරීම
- ❖ 1942 වර්ෂයේ දී ලංකා විශ්වවිද්‍යාලය කොළඹ පිහිටුවීම.
- ❖ 1952 වර්ෂයේ දී ලංකා විශ්වවිද්‍යාලය පේරාදෙණියට ගෙන යාම.
- ❖ 1972 මොරටුව කටුබැද්ද විශ්වවිද්‍යාලය ආරම්භ කිරීම
- ❖ 1974 යාපන විශ්වවිද්‍යාලය පිහිටුවීම
- ❖ විශ්වවිද්‍යාල අධ්‍යාපනය සඳහා මහපොළ ශිෂ්‍යත්ව හා ශිෂ්‍යාධාර ලබා දීම.
- ❖ පාසල් හැර ගිය අයට හා විශ්වවිද්‍යාලවලට ඇතුළත් වීමට නොහැකි වූ වැඩිහිටි අයට තවදුරටත් අධ්‍යාපනය ලබා දීම සඳහා විවෘත විශ්වවිද්‍යාලය ආරම්භ කිරීම.

## සමාජ ශුභසාධනය

බ්‍රිතාන්‍ය පාලනය යටතේ 1931 වර්ෂය දක්වා මෙරට ශුභසාධන කටයුතු සම්බන්ධයෙන් යොමු වූයේ අඩු අවධානයකි. එම කාලයේ දී අධ්‍යාපන හා සෞඛ්‍ය ක්ෂේත්‍රවල ප්‍රගතියට කටයුතු කෙරිණ. එසේ ම යම් යම් අවස්ථාවල පැණ නැගුණු ගැටලු විසඳීම සඳහා රෝග නිවාරණය, මහජනතාවගේ පෝෂණ මට්ටම ඉහළ නැංවීම, වාරි මාර්ග ප්‍රතිසංස්කරණය ආදියට ද රජයේ අවධානය යොමු විය. 1931 වර්ෂයේ දී සර්වජන ඡන්ද බලය ලැබීමත්, ශුභසාධන ක්ෂේත්‍රවලට අදාළ අමාත්‍යාංශ කිහිපයකට ලාංකික ඇමතිවරුන් පත් වීමත් නිසා රාජ්‍ය මන්ත්‍රණ සභා යුගයේ දී (1931 -1947) මහජන ශුභ සාධනය කෙරෙහි මෙරට වැඩි අවධානයක් යොමු කෙරිණ. 1948 වර්ෂයේ දී ශ්‍රී ලංකාවට නිදහස ලැබීමත් සමග ආණ්ඩු බලය ස්වදේශිකයන් අතට පත් වූ හෙයින් මහජන යහපත වෙනුවෙන් ප්‍රතිපත්ති සකස් කිරීමට හා ක්‍රියාත්මක කිරීමට මෙරට දේශපාලනඥයන්ට අවස්ථාව ලැබුණි. නිදහසින් පසුව වරින් වර ආණ්ඩු මාරුවීම් සිදු වුවත් බලයට පත් වූ සෑම රජයක් ම ශුභසාධන ප්‍රතිපත්තිය අඛණ්ඩව ඉදිරියට ගෙන ගොස් ඇත. 1948 වර්ෂයෙන් පසුව ක්ෂේත්‍ර කිහිපයක ශුභසාධක කටයුතුවල කැපී පෙනෙන ලක්ෂණ පහත දැක්වේ.

සෞඛ්‍ය පහසුකම් ඉහළ නැංවීම.

- ❖ රටට අවශ්‍ය වෛද්‍යවරුන් බිහි කිරීම පිණිස නව වෛද්‍ය පීඨ ආරම්භ කිරීම, විශේෂඥ වෛද්‍ය සේවය හා හෙද සේවය දියුණු කිරීම.
- ❖ රෝහල් වැඩි දියුණු කිරීම, ශල්‍යාගාර පහසුකම් දියුණු කිරීම, නව රෝහල් පිහිටුවීම, ප්‍රතිශක්තීකරණ හා රෝග නිවාරණ වැඩ සටහන් ක්‍රියාත්මක කිරීම.
- ❖ වින්නඹු හා මාතෘධාරක සේවා දියුණු කිරීම
- ❖ දන්ත වෛද්‍ය සේවය පුළුල් කිරීම
- ❖ සෑම ප්‍රදේශයක ම ව්‍යාප්ත වන ලෙස සෞඛ්‍ය පරීක්ෂකවරුන් පත් කිරීම.

## සහනාධාර ලබා දීම

යටත් විජිත සමයේ සිට ආදායම් බෙදී යාමේ විෂමතා පැවතීමත්, ඉඩම් හිඟය, රැකියා හිඟය හා ග්‍රාමීය ණය ගැති භාවය වැනි ප්‍රශ්න පැවතීමත් නිසා මෙරට ජනතාවගෙන් කොටසක් අඩු ආදායම්ලාභීන් වීම දක්නට ලැබුණි. මේ නිසා අඩු ආදායම්ලාභී ජනතාවගේ ජීවන තත්වය ඉහළ නැංවීම පිණිස සහනාධාර ලබා දීමේ අවශ්‍යතාවක් මතු විය. ඒ සඳහා අනුගමනය කළ ක්‍රියාමාර්ග කිහිපයක් පහත දැක්වේ.

- ❖ සහල් සහනාධාර ලබා දීම
- ❖ ආහාර ද්‍රව්‍ය ලබා ගැනීමට ආහාර මුද්දර ක්‍රමයක් ක්‍රියාත්මක කිරීම
- ❖ අඩු ආදායම්ලාභීන්ට නිවාස ආධාර ලබා දීම හා නව නිවාස තනවා දීම.
- ❖ කුඩා ඉඩම් හිමියන්ට තේ, රබර් වැනි වගාවන් සඳහා ආධාර මුදල් ලබා දීම.

**ග්‍රාමීය ප්‍රදේශවල පහසුකම් වැඩි දියුණු කිරීම.**

නිදහස ලැබෙන අවධිය වන විට රටේ ජනතාවගේ වැඩි කොටසක් ග්‍රාමීය ප්‍රදේශවල පදිංචිව සිටි අතර නගරයට සාපේක්ෂව ගම්බද ජනතාවට ලැබුණු පහසුකම් අවම මට්ටමක පැවතුණි. මේ නිසා ගම්බද ජනතාවගේ ජීවන තත්වය උසස් කිරීමට සෑම ආණ්ඩුවක් ම පියවර ගනු ලැබී ය. එබඳු කටයුතු කිහිපයක් උදාහරණ වශයෙන් පහත දැක්වේ.

- ග්‍රාමීය ප්‍රදේශවල මාර්ග පහසුකම් දියුණු කිරීම හා නව බස් සේවා ආරම්භ කිරීම.
- ගම්බද ප්‍රදේශවලට විදුලිබල පහසුකම් ලබා දීම.
- ග්‍රාමීය ජනතාවට පානීය ජලය ලබා දීමට විවිධ වැඩසටහන් ක්‍රියාත්මක කිරීම
- තැපැල් හා දුරකථන සේවා ගම් මට්ටම දක්වා පුළුල් කිරීම.
- සමුපාකාර සේවය හා බැංකු සේවය ගම් මට්ටමට හඳුන්වා දීම.

**ක්‍රියාකාරකම**



**01. 1947 සිට 1970 දක්වා වර්ෂ වල ශ්‍රී ලංකාවේ පැවැත් වූ මහමැතිවරණ පිළිබඳව තොරතුරු ඇසුරින් පහත සඳහන් වගුව සම්පූර්ණ කරන්න.**

| මහමැතිවරණය | ජයගත් පක්ෂය | පත් වූ අගමැතිවරයා | පත් වූ ආණ්ඩුව විසින් සිදු කළ වැදගත් කාර්ය |
|---|---|---|---|
| 1947<br>1952<br>1956<br>1960 මාර්තු<br>1960 ජූලි<br>1965<br>1970 | | | |

**02. 1972 හා 1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථා ඇසුරින් පහත සඳහන් ආයතන සම්බන්ධයෙන් සිදු වූ වෙනස්කම් පැහැදිලි කරන්න.**

- ජනාධිපති ධුරය
- අගමැති ප්‍රමුඛ කැබිනට් මණ්ඩලය
- ව්‍යවස්ථාදායකය